සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2559ක් වූ වප් මස (ව්‍යවහාරික වර්ෂ 2015 ඔක්තෝබර්)

49 වෙනි කලාපය



## මරණාසන්න මොහොතේ එන නිමිති සහ සිහින දර්ශන අතර වෙනස...

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

රු. 20/-



# සැණෙක මරණ...

මහා මරණය හඳුනනා සත සැණක මරණය නොම      දැනා
වහා තබනව මොහොතකදී වන මරණ සුළු ලෙස අර      ගෙනා
බහා බැලුවොත් සැණක මරණය ලොවේ ඇති තතු      වැටහෙනා
ලිහා ගනු හැක "මම" ලෙසට බැඳී දිටුව ඉන් නිවනම      වෙනා

මැරී ඉපදෙන සිතිවිලිද නෙක සැණක මරණෙකි සත      හටා
දැරීමට නොම වටියි "මගෙ හිත" ලෙසට මෝහෙකි එම      විටා
කිරීමට යන නොයෙක කටයුතු "මම මගේ" ලෙස ගෙන      ගටා
පෙරීමට ගියහොතින් ලෝ සත වැටෙයි සසරෙහි      අඳුරටා



ගතත් එලෙසයි සැණක මරණය නැවත අලුතින්      ලියලනා
ඇතත් පෙර ලෙස පෙනීමට සුළු වෙනස සත හට      නොපෙනෙනා
හිතත් එලෙසයි ගතත් එලෙසයි රීසි ලෙසට නොම      පවතිනා
පතත් සත මතුවටත් මෝහෙන් "මම මගේ" ලෙස ගෙන      තනා



උපත පැවතුම මරණයද යන තුනම මේ මොහොතෙද      ඇතී
විපතකට පෙර ලැබෙන මොහොතෙදී මෙ තතු සිහි කර ගනු      නිතී
සැපත වෙත බැඳී මනස වෙහෙසකි ගෙවෙන විට දුක ගෙන      දෙතී
නොපත සිටියොත් මතුවටත් භව දුක ගෙනෙන පැවතුම      නැතී





වත්මනේ මොහොතකයි ලොව තතු අරන් විදසුන්      වඩන්නේ
පත් වෙනා මරණයද එ අතර දිහා සැණෙකින්      බලන්නේ
සිත් තනා ඉටු නොම වෙනා තව කුමන අයුරින්      සොයන්නේ
මත් වුණා ඇති මුළාවෙන් ලොව මෙ තතු සිහියෙන්      දකින්නේ

මොහොතකට පෙර සිටි කෙනා නොව දැන් දකින්නට ඇති      සතා
රැහැනකට කළ කම් බලය ගෙන දුවයි පෙර "මම" ලෙස      සිතා
මරණයට පෙර සිත කයේ වන මරණ අපමණ ලෙස      ඇතා
විදසුනට ගෙන සිහි කළොත් එය දැනෙයි ලොව පවතින      යතා



පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

# ගිහි ගෙය හැර යාම සහ ලෞකික යුතුකම්...

බුදුන් වහන්සේ පෙන්වා දුන් මෙත්තානුස්සතිය ගැන විවිධ ත්‍රිපිටක සාක්ෂි ඇතුළු උදාහරණ උපමා සහිතවත්, සම මෙත ගැන කුඹුරක් උපමා කර ගෙනත් කරපු විග්‍රහයක් මීට පෙර හෙළ බොදු පියුම 1 සිට 5 දක්වා කලාපවලින් ඉදිරිපත් කළා. ඒ වගේම, ලැබෙන්න හිටපු තමන්ගෙ දරුවා සහ භාර්යාව හැර දමා පැවිදි වෙලා රහත් ඵලයට පත් වෙච්ච උතුමෙක් ගැනත්, දරුවා ලැබුනට පසු උන්වහන්සේ ඒ දරුවා සහ භාර්යාව දිහා ඇහැක් ඇරලවත් නොබැලීම ගැන, මාගේ පුත්‍රයා දරුවා නිසාවත් අඹුව නිසාවත් ලෝකය නිසාවත් කම්පා වුනේ නෑ කියල බුදුන් වහන්සේ කරපු උදාන වාක්‍යයක් ගැනත් සඳහන් කළා.

සමහර අය ඒ කාරණය වැරදි විදිහට තේරුම් අරගෙන විවේචන ඉදිරිපත් කරන නිසා, ඒ ගැන නොකියවුනු තවත් පැත්තක් තමයි මේ විග්‍රහ කරන්නෙ. මොකද අද හුඟක් උදවිය මෛත්‍රිය, කරුණාව, දයානුකම්පාව, යුතුකම් ආදී වචන උපයෝගි කර ගෙන, නිවන් දකින බලාපොරොත්තුවෙන් තමන්ගෙ අඹු දරුවන් අත හැරල පැවිදි දිවියට ඇතුල් වෙච්ච භික්ෂූන් වහන්සේලා, කිසිම කරුණාවක් දයාවක් නැතිව තමන්ගෙ යුතුකම් පැහැර හැරල ගියා කියල විවේචනය කරන්න පෙළඹිලා තියෙනවා. දහමට ගලපන්නෙ නැතිව කරන ඒ සමහර විවේචන කවද හරි තමන්ටම පාරා වළල්ලක් වෙන්න පුළුවන්. මොකද මතු පිටින් දකින භෞතික සිද්ධියක් විතරක් බලල ගුණ වඩන උතුමන් විවේචනය කරන්න යෑම භයානකයි.

ඒ නිසා මේ තමන්ගෙ පිරිස අත හැර දාල නිවන් දකින අදහසින් වන ගත වෙන හෝ පැවිදි වෙන උදවියයි, වෙනත් සමාජීය ප්‍රශ්නවලින් පළා යන්න ඒ කාරණය ආයුධයක් කර ගන්න උදවියයි අතර වෙනස දැන ගන්න ඕන. සමහර විට කෙනෙක් තමන්ගෙ අඹු දරුවො දාල වෙනත් ස්ත්‍රියක් පස්සෙ යන්න පුළුවන්. කාමයට කෑදර වෙලා දයානුකම්පාවක් නැතිව යුතුකම් ඉටු නොකර පළා යාමක් එතන තියෙනවා. ඒ අදහසයි, නිවන් දකින්න යන අදහසයි කාරණා 2 ක්. දහම් දැකපු කෙනෙක්ගෙ අදහස ඒ කාරණයට ගලපන්න බෑ. කම්මස්ස කෝම්හි කම්ම දායාදෝ කම්ම යෝනි කම්ම බන්ධු කම්ම පටිසරණෝ යං කම්මං කරිස්සාමීති කල්‍යාණංවා පාපකංවා තස්ස දායාදෝ භවිස්සාමීති කියන කාරණය මුල් කර ගෙන, යහපත් නම් යහපත් හෝ අයහපත් නම් අයහපත් හෝ කර්මයක ප්‍රතිඵල දායාද කර ගෙන මේ හැම ලෝක සත්වයෙක්ම සසර ගමන ගෙනියනවා. ඒ කාරණය දහම් දැකපු කෙනාට හොඳට වැටහෙනවා. තමන්ගෙ ළමයා දාල පැවිදි වුනත්, ඒ උත්තමයා දන්නවා කවදාවත් මේ ළමයා අතරමං වීමක් වෙන්නෙ නෑ කියල.



ඒ නිසා දරුවෙක් දාල අම්මා තාත්තා යන කොටත්, ඒ ළමයගෙ අනාගත රැකවරණයට ඒ අම්ම තාත්තගෙ චේතනාවත් බලපානවා. උදාහරණ විදිහට මුදල්වලට හෝ වෙනත් ලෞකික සම්පත්තියකට වහල් වෙලා යම් කිසි අම්ම කෙනෙක් හෝ තාත්ත කෙනෙක්, දරුවන්ට ඕන දෙයක් වෙච්චාවෙ, උන් හිටියත් එකයි මළත් එකයි කියල තමන්ගෙ ලෞකික අවශ්‍යතාවයන් ඉෂ්ට කර ගන්න රට යන්න පුළුවන්. එතකොට ඒ සිතිවිලිත් එක්ක පිට වෙන දූෂ්‍ය කිරණ විශ්වයට නිකුත් වෙලා ඒ අනුවම තමයි ක්‍රියාත්මක වෙන්නෙත්. ඒ වගේ අවස්ථාවකදි ඒ දරුවන්ගෙ කර්ම වේගයකින් ඔවුන් රැකුණොත් මිසක්, ඒ වගේ අදහසකින් යන අම්ම තාත්ත කෙනෙක්ගෙ සිතිවිලිවලින් ඒ දරුවන්ට රැකවරණයක් එන්නෙ නෑ. නමුත් නිවන් දකින බලාපොරොත්තුවෙන් දහම් අදහසක් මුල් කර ගෙන පැවිදි වෙන හෝ බණ භාවනා කරන්න යන අම්ම තාත්ත කෙනෙක් එහෙම හිතන්නෙ නෑ, ඒ අදහසින් දරුවන් දාල යන්නෙ නෑ. මේ සංසාර භය දැකල, මම මේ සසරින් එගොඩ වෙනවා, මේ දරුවන්ටත් ජීවත් වෙන තුරා යහපතක්ම වේවා, කවද හරි නිවන් ශාන්තියම වේවා කියල යහපත් විදිහට අධිෂ්ඨානයක් කරල තමයි ඒ වගේ කෙනෙක් යන්නෙ. ඒ මෙත්තා සහගත සිතිවිලිවලින් පිට වන සුද්ධ කිරණවලින් ඒ දරුවන්ට යහපතක් රැකවරණයක්ම ලැබෙනවා.

ඒ වගේම **ළමයෙක් විදිහට මේ ලෝකයට කවුරුහරි උපන්න නම්, ජීවත් වෙන්නත් ක්‍රමවේදයක් හැදෙනවා.** ඒ කාරණය අදත් ඔප්පු කරන්න පුළුවන්. උදාහරණයක් විදිහට පසුගිය කාලයේ හමුදාවේ කී දෙනෙක් නම් මළාද ? ඒ අතර විවාහයක් කර ගෙන ළමයෙක් දෙන්නෙක් හිටපු අයත් සෑහෙන ප්‍රමාණයක් මළා. හැබැයි එහෙම වුණා කියල මොන ළමයද අතරමං වුනේ ? අනාථ වුනේ ? එහෙම දෙයක් අහන්නවත් තියෙනවද ? ඒ අතර අම්මයි තාත්තයි දෙන්නම මරණයට පත් වෙච්ච පවුල් තියෙනවා. ඒත් ළමයි අතරමං වුනාද ? ඒ වගේ ළමයෙක් කන්න බොන්න නැතිව මළා කියල අහන්න ලැබිල තියේද ? මේ වගේ අවස්ථාවකදි ඒ ළමයට මේ ලෝකයෙන් විකල්පයක් එනවා. එහෙම ක්‍රමවේදයක් තියෙනවා. මොකද හැම කෙනෙක්ම උපතත් එක්ක එන්නෙ තමන්ගෙ ජීවිතය පවත්වන්න කර්ම වේගයෙන් ශක්තියක් අරගෙන. මේකට හොඳ උදාහරණ උපමා තියෙනවා.

පාරෙ තොටේ බලු පැටව් අනන්තවත් ඉන්නවා. ඔය අතරෙ කවුරු හරි පාරෙ යන පුංචි ළමයෙක් ඒක දැකල, අනේ අම්මෙ මේකා අරන් යමු ලස්සන හොඳ හුරතල් බලු පැටිය කිය කියා ඇවිටිලි කරන කොට, මොකක් හරි අනුකම්පාවක් නිසා ඒ බලු පැටිය ගෙදර අර ගෙන ගිහින් හොඳට සාත්තු කරල හදන්න ☞

පුළුවන්. හැබැයි ඔය අතර නාකි වෙච්ච නිකං වැනි වැනී ඉන්න බල්ලොත් ඉන්නවා. අනේ පවු මේ බල්ල කන්න නැතිව ඉන්නවා, ඌ අරගෙන ගිහින් කන්න දෙමු කියල කවුරුවත් කියනවද ? ඒ සතාට අර වගේ තැනක් නෑ. උගේ ජාතිය බෝ කරල ඉවරයි. දැන් වයසට ගිහින් ඌට අනුකම්පා කරන්න කවුරුවත් නෑ. හැබැයි ඒත් මොන විදිහකින් හරි ඌත් ජීවත් වෙනවා. නමුත් අර පුංචි බලු පැටියා, හරි හුරතල් ලස්සනයි කිය කියා ගෙදර ගෙනිහින් හදනවා. ඌට තනියෙන් හොයා ගෙන කන්න පුළුවන් මට්ටමක් එන කල් ඒ දේ කරනවා. ඊට පස්සෙ ඉතින් කලාතුරකින් කෙනෙක් තමයි බල්ලෙකුට ඒ විදිහට සලකන්නෙ. අර පොඩි කාලෙ විතරයි ඒ විදිහට සලකන්නෙ. ඊට පස්සෙ මොනව හරි කකා ඉන්නවා.

ඒ වගේම කොටියා කියන සතා මහ නපුරුයි. නමුත් බොහෝ කොටම වඳුරු පැටව් උගේ ළඟට වැටුනම ඌ පැටව අරගෙන අත්ත උඩින් ගෙනිහින් තියනවලු. පැටව මරාගෙන කන්නෙ නෑ. මහ එකෙක් වැටුනොත් විතරයි මරාගෙන කනවයි කියන්නෙ. ඒ සත්තුන්ගෙ හැටි. ඒ වගේ හුඟක් දුරට සත්තු වුනත් පැටව කාලෙ බේරෙනවා. උන්ට කොහෙන් හරි රැකවරණයක් ලැබෙනවා. ඒ වගේ මේ මෑත කාලයේ සමහර රූපවාහිනී වැඩසටහන්වල පෙන්වනවා, මහ දරුණු සිංහයො වගේ සත්තු මුව පැටව් මරා ගෙන කන්නෙ නැතිව ආරක්ෂා කරනවා. හැබැයි කර්ම ශක්තියෙන් උගේ විපාක වෙලාවක් එන කොට වෙන සතෙකුට හරි ගොදුරු වෙන්න පුළුවන්. එහෙම නැත්නම් බොහෝ කොටම පැටව් ආරක්ෂා වෙනවා. ඒ කියන්නෙ පැටව කාලයෙදි ඌට ජීවත් වෙන්න කර්ම ශක්තිය තියේ නම් ඒකට ක්‍රමවේදයක් යෙදෙනවා.

මිනිස්සු අතරත් ඒ වගේ දෙයක් සිද්ධ වෙනවා. දරුවෙක් උපන්නට පස්සෙ ඒ දරුවට කවුරු හරි සම්බන්ධ වෙනවා. ජීවත් වෙන්න මොනව හරි ක්‍රමවේදයක් යෙදෙනවා, නොමැරී බේරෙනවා. මොකද මේ සසර ගමන එන කොට හැමෝටම සංසාර ගනුදෙනු කියල දෙයක් හැදෙනවා. නමුත් ඒ කාරණය දිවැසක් නැත්නම් ඥානයට ගෝචර වෙනව මිසක් වෙනත් ක්‍රමයකින් දකින්න බෑ. භෞතිකවාදී අදහස්වලින් ඒ කාරණය දකින්න බෑ.

මේ කාරණය ඔප්පු වෙන හොඳ දහම් කතා කිහිපයක් පෙළ දහමෙ තියෙනවා. ඒ එකක් තමයි දබ්බමල්ල හාමුදුරුවන්ගෙ කතාව. උන් වහන්සේ පශ්චිම අත්බැව්කයි. ඒ කියන්නෙ ඒ අත්බවයෙම අරිහත්වයට පත් විය යුතු කෙනෙක්. ඒක මොන විදිහකින්වත් වළක්වන්න බෑ. සැරියුත් මුගලන් දෙනම ගත්තත් පශ්චිම අත්බැව්කයි. මොකද නැත්නම් පෙරුම් පුරාගෙන ආපු ඒ තානාන්තරවලට වෙනත් කවුරුවත් එන්න විදිහක් නෑ. එහෙම කෙනෙක් ඉන්නව නම් අරිහත්වයට පත් වෙලා මිසක් මොන විදිහකින්වත් මරන්න බෑ. ඉතින් උන් වහන්සේ ඉපදෙන්න ඉස්සෙල්ල දරුවෙක් විදිහට බඩේ ඉඳෙද්දි අම්ම මළා. මළාට පස්සෙ සොහොනක් හදල පිච්චුවා. එහෙම පුච්චනකොට ඔක්කොම කොටස් පිච්චිලා ගැබ විතරක් පුපුරල දරුව ඇත කුසතණ පඳුරක් මතට වැටුණා. ඊට පස්සෙ සොහොන් පල්ලො එකතු වෙලා ඒ දරුවා බේරගෙන තියෙනවා. අන්තිමට කුඩා කාලෙදිම මහණ වෙලා අරිහත්වයට පත්වුණා. ගෞතම බුද්ධ සාසනයේ සේනාසන පැනවීමේ හැකියාව ඇති භික්ෂූන් වහන්සේලා අතරින් අග තනතුර දැරුවෙ උන්වහන්සේ.

ඒ හා සමාන අනිත් සිද්ධිය තමයි සංකිච්ච හාමුදුරුවන්ගෙ කතාව. උන්වහන්සෙත් කුඩා කාලෙ බඩේ ඉඳෙද්දිම අම්ම මළා. දර සෑයක් හදල පුච්චල බලන කොට අනිත් කොටස් පිච්චිලා ගැබ විතරක් ඉතිරියි, මොකුත් වෙලා නෑ. ඊට පස්සෙ නැවත වතාවක් දර එකතු කරල ගිනි තියල පුච්චල බලන කොට ඒත් පිටින් අඟුරු වෙනව මිසක් පිච්චෙන්නෙ නෑ. මේ විදිහට කිහිප වතාවක්ම පිච්චුවා. කෝටු කැලිවලින් අවුස්සල බලන කොට අර ගැබ ඇතුලෙ දරුවා අපූරුවට ඉන්නවා. ඉතින් ඊට පස්සෙ ඒ දරුව එළියට අර ගෙන ඒ මවුගේ ඉතිරි කොටස් නැවත පිච්චුවා. හැබැයි අර කලින් වතාවෙදි පුච්චන කොට කෝටුවලින් ඇනල එළියට ගන්න ගිහින් එක කනක පැත්තක් කැඩිල ගිය නිසා සංකිච්ච කියන නම තිච්චා. අදත් කං කොටා ආදී වශයෙන් ඒ වගේ අඩු පාඩු තියෙන අයට ඒ ලක්ෂණයෙන් ආමන්ත්‍රණය කරනව වගේ, ඒ දරුවටත් ඒ වගේ නමක් පට බැඳුණා. ඉතින් සසරෙ මොනව හරි කර්ම වේගයකින් තමයි ඒ වගේ විපාක අවස්ථාවක් ආවෙ. හැබැයි කොහොම හරි ජීවිතය බේරිලා අන්තිමට අරිහත් ඵලයටත් පත් වුණා.

ඊළඟට අනික් අවස්ථාව තමයි බක්කුල හාමුදුරුවන්ගෙ කතාව. උන් වහන්සේ දරුව කාලෙ අම්ම ජලාශයකට ගිහින් නාවන කොට ඒකෙ හිටපු මාළුවෙකුට බිලි වුණා. ඒ මාළුවා මේ දරුව ගිල්ලම මාළුවගෙ බඩේදි දරුවට සිහි නැති වුණා. පස්සෙ මේ මාළුවා ධීවරයින් පිරිසකට අහු වුණා. ඉතින් මාළුව අල්ල ගෙන ඇවිත් විකුණන්න තියල තියෙන කොට සිටුවරයෙක් මිලදී ගෙන තමන්ගෙ සිටු දේවියට ගිහින් දුන්නා. සිටු දේවිය ඒ මාළුවා බොහොම ප්‍රවේසමෙන් කපන්න ඕන කියල හිතල මාළුවගෙ බඩ පලන කොට දරුවට සිහිය ආවා. මුකුත් අනතුරක් වෙලා නෑ. අන්තිමට අරිහත්වයට පත් වෙලා අවුරුදු 160 ක් ආයු වළඳල තමයි පිරිනිවන් පෑවෙ. ගෞතම බුද්ධ සාසනයේ නිරෝගී භික්ෂූන් වහන්සේලා අතර අග තනතුර තමයි උන් වහන්සේ දැරුවෙ. එතකොට මේ අවස්ථා තුනේදිම කායික වේදනාවන් විඳින්න ළදරු කාලෙදිම මාරාන්තික විදිහට විපාක ආවත්, අරිහත්වයට පත් විය යුතුම නිසා මොන විදිහකින් හරි ජීවිතය බේරුණා.

මේකට තවත් හොඳ උදාහරණයක් විදිහට පැරණි කාලයේ සිද්ධ වෙච්ච ඇත්ත කතාවක් තියෙනවා. එක අත දරුවෙක්ගෙ තාත්ත මළා. මළාට පස්සෙ ඒ දරුවගෙ බාප්ප කෙනෙක් ඒ අම්මට සම්බන්ධ වුණා. හැබැයි මේ පුංචි දරුවව බාප්පට පෙන්නන්න බෑ. ඕක මරපං මරපං කියල අර අම්මට කොච්චරවත් උපදෙස් දෙනවා. දැන් ඉතින් අම්මට කරන්න දෙයක් නෑ. තමන්ට දාව ඉපදිච්ච දරුව මරන්න බෑ. ඉතිං උඹට ඕන නම් මරා ගනින් මට බෑ කියල ඒ අම්ම අන්තිමට ඕන දෙයක් කර ගන්න ඉඩ දුන්නලු. මේ තරුණ අම්ම කෙනෙක්ගෙ හැටි.

දැන් අර මනුස්සය කල්පනා කරනවා. මනුස්සයටත් මේ පොඩි දරුවව අල්ලල මරන්න හිතෙන්නෙ නෑ. ඉතින් අර අම්මත් එක්ක නිදහසේ පවුල් කන්න මොකද කරන්නෙ කියල කල්පනා කරන කොට මතක් වුනා, කැළෑවකින් වට වෙලා තිබ්බච පාළු ගෙයක් ළඟ වැසිකිලි වළක්. ඒක හුඟක් පරණ වැසිකිලි වළක්. දැන් මේ මනුස්සය මොකද කළේ, ඉස්සෙල්ලම ගිහින් වැසිකිලි වළේ ලෑල්ලෙන් පොඩ්ඩක් උස්සල බැලුවා. බලන කොට තනියෙන් උස්සන්න පුළුවන්. එක මට්ටමකට ඒකෙ බැහැල තියන්නත් පුළුවන්. දවසක් මේ අම්ම ළමයට කිරි පොවල, ඕන එකක් කර ගනින් කියල පැත්තකට වෙලා නිකං හිටියා. මනුස්සය ළමයත් අර ගෙන පොට්ටනිය පිටින් තුරුළු කර ගෙන ගිහින් අර වැසිකිලි වළ ඇතුලෙන් දරුව තියල, ඔහොම ඉඳල මැරිල යන්නෙ නැතැයි කියල ලෑල්ල වහන්න හදන කොටම තුනටිය හිර වුණා. හෙල්ලෙන්නවත් බැරිව මනුස්සය බොහොම අමාරුවෙන් එතනින් යන්න ගියා. අර පුංචි දරුව දවස් 2 ක් වැසිකිලි වළ ඇතුලෙ හිටියා.

ඊට පස්සෙ ඒ ගමේ ඉන්න ළමයි පිරිසක් සෙල්ලම් කරන කොට

බෝලය මේ කැලෑ ප්‍රදේශයට විසි වෙලා තියෙනවා. ඉතින් ළමයි දෙතුන් දෙනෙක් විතර ඇවිත් බෝලය හොයන කොට ළමයෙක් කෙඳිරි ගාන සද්දයක් ඇහෙනවා. බලන කොට වැසිකිලි වළ ඇතුලෙ අර අත දරුව ඉන්නවා, මැරිල නෑ. හනිකට ගිහින් පොලිසියට දැනුම් දුන්නම දරුව අරන් ගියා. රෝහලට ගෙනිච්චම දරුවට කිසිම කරදරයක් වෙලා නෑ. මදුරුවෙක්වත් දෂ්ට කරල නෑ. ඉතින් මේ සිද්ධිය ආරංචි වෙලා, මේ ළමය බේරිච්ච එක මහ පුදුම වාසනාවක්නෙ කියල, ඒ කාලෙ හිටපු කෝටිපතියෙක් දරුවව දරු කමට හදා ගන්න දැන්මම ලක්ෂ 5 ක් පොතේ දානව කියල ඒ කාලෙ හැටියට ලක්ෂ 5 ක් ළමයගෙ නමින් පොතට දාල දරුකමට හදා ගත්තා. අද කාලෙ හැටියට නම් ඒක කෝටියකටත් වැඩි මුදලක්. බලන්න වෙච්ච දේක හැටි.

ජීවත් වෙන්න හේතු තියේ නම් මොන ක්‍රමයකින් හරි ඒකට ක්‍රමයක් යෙදෙනවා. ඒ වගේ අවස්ථාවල් තියෙන නිසා තමයි අපි ඒකට දැගලුවෙ මහන්සි වුනේ නැති වුනාට ඒ වගේ ළමයි අතරමං වෙන්නෙ, අනාත වෙන්නෙ නැත්තෙ. නමුත් අපිට සැකයක් එනවා, මම නැත්නම් මුන්ට කවුද ඉන්නෙ කියල. සාමාන්‍යයෙන් ගෙදරක තාත්ත තමන්ගෙ දරුවට, භාර්යාවට ආදරේ නම් නිතරම ඔය වචන පෙළම කියනවා. අම්ම වුනත් එහෙමයි. මම නැත්නම් මහත්තයට, දරුවට සලකන්නෙ කවුද කියල නිතරම ඔහොම කියනවා. හැබැයි ඔය කියන අම්ම තාත්තත් කවද හරි හදිස්සියේ මැරෙනවා. දැන් මැරෙන කොටත් අඬ අඬා මැරෙන්නෙ. අනේ මම නැත්නම් මුන්ට කවුද කියල අහනවා. ඇත්තටම කවුරුවත් නැත්ද? ඒ අපිට තියෙන දෘෂ්ටියක්. ඒ කියන්නෙ කර්ම වේගයත් එක්ක අපේ තියෙන අන්‍යෝන්‍ය සම්බන්ධයෙන් සසර ගමන එනවා. හැබැයි එහෙම එන කොට ජීවත් වෙන්න, පැවැත්මට හේතු කාරක වන ක්‍රමවේදයක් අර ගෙනයි එන්නෙ. ඒ ක්‍රමවේදයේ පහසු අපහසු බව අඩු වැඩි වෙන්න පුළුවන්. ඒ කාරණය කර්ම ශක්තියත් එක්ක පුද්ගලයගෙන් පුද්ගලයට වෙනස් වෙනවා. එතකොට ඒ සඳහා විවිධාකාර පිරිස් සම්බන්ධ වෙනවා. නමුත් ඒක අපිට පේන්නෙ නෑ. ඒ එන ක්‍රමයෙන් අපි යථාර්ථය දකින්නෙ නෑ. ඒ නිසා අපි පටු මනසකින් හිතනවා, මම නැත්නම් මේ අයට කවුරුවත් නෑ කියල. ඒ අදහසින් කෙනෙක් මහණ වෙන්න යන කොටත් සමහරු කියනවා භාර්යාව, දරුවො දාල යන්න එපා, මොන තරම් හෙණ ගහන අපරාධයක්ද කියල. ඒක ඒ අයගෙ නිගමනය.

ඉතින් දාල යන එක වටින්නෙ නෑ තමයි, ගිහින් බලු වැඩ කරනව නම්. නමුත් ඒ වගේ ක්‍රමයක් ගැන නෙවෙයි මේ කියන්නෙ. එහෙම කෙනාට අපි කිව්වත් නැතත් හේතු ඵල අනුව ඊළඟට ඒ ජාතියේම කර්ම විපාකයක් එනවා. තමන් ගියේ මොන හේතුවකටද, ඒ වගේ සිද්ධියකින් ඒ පුද්ගලයට සසරෙදි ඒ හේතුවට අනුකූලව විපාකයක් ඇදිල ඇවිත් කවදහරි තමන්ටත් අතරමං වෙන්න සිද්ධ වෙනවා. එහෙම නැත්නම් අර වගේ දාල යන අම්ම කෙනෙක්, තාත්ත කෙනෙක් ළඟ දරුවෙක් වෙලා ඉපදෙන්න පුළුවන්. හැබැයි දැන් ඒ ළමයට හැදෙන්න වෙන්නෙ අර කර්ම වේගයට යටත්ව. මොකද ඔය විදිහට උපදින දරුවො අතරින් කලාතුරකින් කෙනෙක් තමයි අර විදිහට විශේෂයෙන් හැදෙන්නෙ, වැඩෙන්නෙ. එහෙම නැත්නම් සසරෙ කරපු කර්ම වේගයට අනුකූලවම තමයි ඒ දරුවෙක් හරි තනියෙන් ජීවත් වෙන්න හේතු ඇතිව ඉපදෙන්නෙ. ඒ ළමය දාල ගියා කියල ඒ



ළමයට සුබෝපභෝගීත්වය ලැබෙන්න හේතු තිබුන නම් ඒකටත් මොනව හරි ක්‍රමයක් යෙදෙනවා. දුක් විඳින්න හේතු තිබුන නම් දුක සේ දිවි ගෙවන්නත් කොහොම හරි ක්‍රමයක් හැදෙනවා. ලෝකයෙන් උපනිශ්‍රය සුළුවෙන් තිබුනත් අනන්තරයක් ඇදිල එන්න හේතු තියෙනවා. එහෙම නැතිව 100% ක්ම භෞතිකත්වය සකස් වෙනව නෙවෙයි. කර්ම මූලිකව තමයි භෞතිකත්වය වුනත් සකස් වෙන්නෙ. ඒ නිසා ඒ කර්ම වේගයෙන්ම ඒ පුද්ගලයට මගක් හැදෙනවා.

ඒ කාරණය පැහැදිලි වෙන තැනක් තමයි, අද අම්මෙක් තාත්තෙක් මළා කියල කිසිම දරුවෙක් ඒ හේතුවෙන් බඩගින්නෙ මැරුන කියල අහන්න නෑ. අම්ම තාත්ත හිටියත් සමහර විට හාමතින්, වසංගතයකින් මැරෙන්න පුළුවන්. ලංකාවෙ විතරක් නෙවෙයි පිට රටවල්වලත් එහෙමයි. හැබැයි සමහර විට අම්ම තාත්ත මළ නිසා හෝ දාල ගිය නිසා ඒ ළමයට කලින් වගේ රැකවරණයක් / සුබෝපභෝගීත්වයක් නොලැබෙන්න පුළුවන්. ඒක තමයි කර්ම වේගය කියන්නෙ. නමුත් අම්ම තාත්ත නැති නිසාම දරුවෙක් මළා කියල අහන්න නෑ. ඒක අදටත් පැහැදිලි දෙයක්.

දැන් හිඟන්නො ගත්තොත්, ඒ පවුල්වල බොහෝ කොටම තාත්තෙක් නෑ. කොහේ හරි හැදිල පැනල යනවා. ඉතින් යාචක ස්ත්‍රීන් ඒ ළමයි කිහිල්ලෙ ගහ ගෙන මහ ජරා ගොඩේ ඔහේ යනවා. කොහේ හරි මඩමක ලගිනවා. හැබැයි මදුරුවෙක් මැස්සෙක්ගෙන්වත්, අව්වෙන් පින්නෙන් කියලවත් කිසිම හානියක් නෑ. ඒකට ඔරොත්තු දෙනවා. මොනව හරි ලැබෙන දෙයක් කාල බීල ඉන්නවා. ඇට කෝටු වගේ හැදෙනවා. ලැගපු තැන හිඟා කන්න දාල යනවා. ඊට පස්සෙ ඒ ළමයත් අතපාන්න පටන් ගන්නවා, කුණු බක්කි කන්න පටන් ගන්නවා. ඒත් කොහොම හරි හැදෙනවා. මැරෙන්නෙ නෑ. ඒ තමයි කර්ම වේගයක හැටි. ඉතින් ජීවත් වුනත් ඒ ජීවත් වෙන ක්‍රමවේදය එකිනෙකාට වෙනස්. ඒක සසර කර්ම ශක්තියෙන්මයි තීරණය වෙන්නෙ.

මේකට හොඳ උදාහරණයක් දහමෙත් සඳහන් වෙනවා. ඒ කාලෙ ආනන්ද කියල මහ ධන සිටුවරයෙක් හිටියා. ඉතින් මේ සිටුවරයා නිතරම තමන්ගෙ ළමයින්ට ඉදිරිපත් කරන තර්කයක් තිබුණා. ඒ තමයි දානයක් දුන්නම විපාක ලැබෙන්නෙ නෑ කියල. ඒ නිසා කාටවත් හාල් ඇටයක්වත් දෙන්න එපා, හිඟන්නෙක් ආවත් පන්න ගන්න කියල උපදෙස් දීල තිබුණා. හැබැයි මෙළොවදීම කියන්න පුළුවන් විපාකයක් නම් තියෙනව කියල ඔහු ළමයින්ට මේ විදිහෙ භෞතික තර්කයක් ඉදිරිපත් කළා. උඹල හාල් ගෝනියකින් හාල් නැලියක් දුන්නොත් හාල් ගෝනිය අඩු වෙනවද වැඩි වෙනවද කියල මේ සිටුවරයා අහනවා. ඉතින් ළමයි කියනවා අඩු වෙනව කියල. එතකොට ඒක පිනක් නම් අඩු වෙන්නෙ කොහොමද, වැඩිවෙන්න එපැයි කියල තර්කයක් ඉදිරිපත් කරනවා. ඒ තර්කය ඉදිරිපත් කළාම ඒ ළමයින්ටත්, ඒ අවට ඉන්න මිනිස්සුන්ටත් උත්තර දෙන්න පුළුවන් කමක් තිබුණෙ නෑ. මොකද මතු පිටින් බැලූ බැල්මට ඒ භෞතික තර්කය හරි. භෞතික වශයෙන් යමක් දුන්නොත් ඒකෙන් කොටසක් අඩු වෙනව මිසක් වැඩි වෙන්නෙ නෑ. ඒ නිසා අවට හිටපු මිනිස්සුත් ඒ වචන අහල දන් දීම ප්‍රමාද කළා.

ඉතින් මේ සිටුවරයා මළාට ☞

පස්සෙ ඒ පාප කර්මය හේතුවෙන් සැඩොල් කුළයේ හිඟන ගැහැණියකගෙ බඩේ අබ්බගාතයෙක් විදිහට උපන්නා. ඒ කියන්නෙ යම් කිසි අංග විකලත්වයක් සහිතව. එතැන් පටන් ඒ සැඩොල් කුළයටම කන්න නැතිව ගියා. හැබැයි ඒකට හේතුව ඒ අය දැන ගෙන හිටියෙ නෑ. කවදාවත් නැතිව මොකද අපට කන්න ටිකවත් නොලැබෙන්නෙ කියල පරීක්ෂා කරල බලන්න ඒ සැඩොල් කුළයේ පිරිස දෙකොටසකට වෙන් කළා. බලන කොට එයින් එක කොටසකට කන්න ලැබෙනවා. අර ළමය ගැබට ආපු වෙලාවෙ ඒ මව් එක්ක හිටපු අයට කන්න නෑ. ඉතින් මේක හරියටම අල්ල ගන්න ඒ කොටසත් නැවත කොටස් 2 කට වෙන් කළා. ඔය විදිහට අන්තිම දෙන්නෙකුට එනකල්ම අඩු කරල බලන කොට ඒ දෙන්නටම කන්න නෑ. අනිත් ඔක්කොටම කන්න තියෙනවා. ඉතින් අන්තිමට ඒ දෙන්නත් වෙන් කරල බැලුවම, අර ගැබට අලුතින් ආපු ළමය නිසා කන්න ලැබෙන්නෙ නෑ. ඒ නිසා ඒ කුළයේ අය මොකද කළේ, උඹ හිටියොත් අපිටත් කන්න ලැබෙන්නෙ නෑ කියල තනියෙන් ගිහින් කාපන් කියල තනියෙන් යැව්වා. ඉතින් ඒ වෙලාවෙ ඒ අය බොහොම අමාරුවෙන් තමයි ජීවත් වුණේ. අබ්බගාතයෙක් නිසා අවුරුදු 7 ක් යන කල් අම්ම කොහොම හරි ළමයව හැදුවා. ඊට පස්සෙ, මේක ඉන්න කල් මටත් කන්න නෑ කියල දැන් දණ ගගා හරි යන්නෙ නැතැයි කියල අම්මත් ඒ ළමයව අත හැරල ගියා.

ඊට පස්සෙ මේ ළමය දණ ගගා ගිහින් කුණු බක්කි හරි මොනව හරි තියෙන ඒවා කන්න පටන් ගත්තා. ඔහොම කාලයක් ජීවත් වෙලා ගාට ගාට හිඟා කකා අර සිටුවරයා හිටපු සිටු මාලිගාවටත් ගියා. දැන් ඉතින් ඒ ගෙදර ඉන්නෙ ඒ සිටුවරයගෙ ළමයි. සිටු ගෙදරට යන කොටම මේ ළමයට ජාති ස්මරණ ඥානය කියන කර්ම විපාක සෘද්ධියට අර තමන් පෙර ඒ සිටු ගෙදර සිටුවරයෙක් විදිහට හිටපු හැටි, කතා කරපු හැටි මතක් වුණා. අර එදා හිටපු තේජස් විදිහටම කතා කර ගෙන සිටු මාළිගාව ඇතුළට යන්න හදන කොටම අර ළමයි මොකද කළේ, තාත්තා කියල තියෙන්නෙ හිඟන්නෙක් ආවොත් ගහල ඇදල දාපල්ල කියල මේ හිඟන ළමයට හොඳටම තලල එළියට දාල දොරටුව වැහුවා. මේ තමන්ගෙ පෙර අත්බැවේ තාත්ත කියල ඒ ළමයි දැන ගෙන හිටියෙ නෑ. ඊට පස්සෙ ඉතින් බොහොම දුක සේ ජීවත් වුනයි කියනවා. එතකොට බලන්න මේ කතාවෙන් තේරුම් ගන්න වැදගත් කාරණා 2 ක් තියෙනවා. එකක් තමයි අර එදා සිටුවරයෙක් වෙලා ඉඳෙද්දි අනික් අයවත් නොමග යවල කරපු විපාකය තමන්ටම ආපස්සට කැරකිලා ආපු හැටි. ඒ වගේම නැවතත් මනුස්සයෙක් විදිහට ලෝකයේ උප්පත්තියට ඇවිත් ඒ විපාකය දුක සේම විඳවන්න ජීවිතය බේරුණා, මළේ නෑ. ඒ තමයි කර්ම වේගවල හැටි. ඒක සාමාන්‍ය උදවිය නොදකින පැත්තක්.

අනිත් කාරණය තමයි මේ අතරමං වෙනවා, අනාථ වෙනවා කියන කාරණයත් හරියට තේරුම් ගන්න ඕන. යම් කිසි ළමයෙක් තමන් හදපු වඩපු අම්ම තාත්ත නැතිව, නෑදෑයො නැතිව ඉන්න පුළුවන්. එතකොට පිටින් බලල ලෝකයා කියනවා, ඒ ළමය අතරමං වෙලා, අනාථ වෙලා කියල. ලෝකයේ පැවැත්ම තුළ ඒ කතාව බොරුවක් නෙවෙයි, ඇත්තක්. නමුත් ලෝකය තුළ ඒ ළමය අතරමං වුනත්, සමහර විට අර දබ්බමල්ල හාමුදුරුවන්ට, සංකිච්ච හාමුදුරුවන්ට වගේ බණ අහල අරිහත් ඵලයට පත් වෙන්න, මග ඵලයකට පත් වෙන්න හේතු ලැබුනොත්, ඒ ළමය කොහෙන් අතරමං වුනත් සසරින් නම් අතරමං වෙන්නෙ නෑ, අනාථ වෙන්නෙ නෑ. ලෞකිකව අතරමං වුනත් ලෝකෝත්තර වශයෙන් එගොඩ වෙනවා.

එහෙම නැත්නම් ලෞකිකව වුනත් දෙමව්පියන් එක්ක හිටියට වඩා හොඳට ජීවත් වෙන්න අවස්ථාවක් කර්ම වේගයෙන් ගෙනත් දෙන්න පුළුවන්. හැබැයි ඒක භෞතිකවාදීව හිතන අයට නම් ලේසියෙන් තේරුම් ගන්න පුළුවන් දෙයක් නෙවෙයි. ඒ නිසා වටහ ගන්න ඕන කාරණය තමයි, තමන්ට තියෙන ලොකුම යුතුකම නිවන් පූර්ණ කර ගැනීම බව. අනෙක් සියලු ලෞකික යුතුකම් ලෝකය හා සම්බන්ධයි. නිවන් මග ලෝකයෙන් එතෙරයි.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# ලැබ ගනු මැන ඒ අමා නිවන් සුව...

**අප අති උතුම් ගෝතම සම්බුදු සමිඳා**
**දස බිම් බරක් මර සෙන් පාමුල පරදා**
**භව මග තනන තණ්හා දොස් ගති හැරදා**
**දුටුවා සතර අරිසස් බෝ මැඩදි එදා**

**ලෝ සත විඳින මහ දුක් ගිනි කඳ දැකලා**
**සිව් සැකි කප් කෙලක් පාරම් දම් පුරලා**
**වටහා ගත් දහම් කඳ ලොව වෙත පුදලා**
**දුක් ගිනි නිවිය සත වෙත කරුණා කරලා**

පබැඳුම : සුචරිත ආරියරත්න - වලස්මුල්ල

**රිසි ලෙස නැතිව දුක් දෙන ලොව නිස්සාර**
**අත හැර නොඇලි මිදුනා දැක සුව සාර**
**ලබමින් සදා දුක් නැති සුව තිර සාර**
**පෙන්වා දුනි සමිඳු නිවනට යන පාර**

**ලෝභ දෝස මෝහය යන ගති හැරදා**
**ජය ගමු සිව් අපා දුක් ගිනි කඳ පරදා**
**ලබමින් සතර මග ඵල දස බැම් බිඳ දා**
**නිවනින් නිවී සැනසෙමු තුන් ලොව හැර දා**

**දම් මග රැගෙන ලොව ඇති නිසරුව දැකලා**
**පොතු නොව හරය දැක ගෙන ලෝකෙන් මිදිලා**
**අරි අටඟි වූ මග නිසි ලෙස පිය මැනලා**
**දුක් ගිනි නිවමු සැම අම නිවනින් නිවිලා**

# මෙත් සිතින් යුතුව වාසය කරන හැටි...



**"මෙත්තේන චිත්තේන විහාරාමි"** කියන සික්ෂා පදය අනුව, මෙත් සිතින් යුතුව වාසය කරන්නෙ කොහොමද කියන කාරණය පැහැදිලි කර ගන්න සංයුක්ත නිකායේ 5 - 1 කාණ්ඩයේ එන හලිද්ද වසන සූත්‍රය හෙවත් මෙත්ත සූත්‍රය විමසා බලන්න ඕන. මේ විදිහට මෙත්ත සූත්‍රය කියල වෙනම දේශනාවක් තියෙද්දිත්, අද වෙන කොට කරණීය මත්ත සූත්‍රය තමයි මෛත්‍රී කළ යුතු ආකාරය පැහැදිලි කරන්න භාවිතා කරන්නෙ.

ලෝකයා මෙත් වඩන්න පුරුදු වෙලා තියෙන්නෙ, ඇහැට පේන්න තියෙන විපාක දුකෙන් මිදෙත්වා කියන අදහසින්. යම් විපාකයක් උදා වෙන්නෙ, පෙර කරන ලද කර්මයක් හේතුවෙන්. උදාහරණයක් ගත්තොත්, හිඟන අයට මුදල් හෝ ආහාර පාන ආදිය දෙනවා. එහෙම කෙනෙක් දැක්කම ඒ අයගෙ අඳෝනාව අහල දුක හිතිල "පව්" කියලත් කියනවා. මුදල් නොදෙන කෙනෙක් දැක්කම, "හිඟන්නෙකුටවත් සතයක් දෙන්නෙ නැති අය..." කියල, සමහර උදවිය ඒ අය කෙරෙහි අප්‍රසාදයත් පල කරනවා. අනුකම්පා කළ යුතු කෙනෙක් දැකල අනුකම්පා කිරීම මෙත් වැඩීමක් නෙවෙයි. එතකොට පව් කිව්වෙ ඇයි ? ලෝභය නිසා නොදී සිටීම, අනුන්ට ලැබෙන්න තියෙන දෙයක් වැළැක්වීම වගේ, ඒ අය පෙර කරපු අකුසලයක විපාක වශයෙන් තමයි හිඟන බවට පත් වුනේ. ඒ පෙර පව් කරපු කෙනෙක්, දැන් ඒ පව් එල දීල... කියන එකයි කෙටියෙන් පව් කියල කිව්වෙ. නමුත් අද පව් කිව්වට, ඇයි එහෙම කිව්වෙ කියල විමසා බලන්නෙ නෑ, යථාර්ථය දකින්නෙ නෑ.

පිනක් කිරීමෙන් හොඳ පුණ්‍ය ශක්තියක් ගොඩ නැගෙනව වගේ, පවක් කිරීමෙන් නරක පාප ශක්තියක් ගොඩ නැගෙනවා. නිවන් දකින මගකට හෝ සුචරිත මගකට යොමු නොවුනොත්, සමහර විට ඒ පාප ශක්තිය ක්‍රියාත්මක වෙන කොට අතර මගදී නතර කරන්න බෑ. ඒ නිසා හිඟන අයට කොච්චර උදව් උපකාර කළත් ඒ භවයෙන් මුදවන්න අමාරුයි. ඒ නිසා නියම මෛත්‍රී කිරීම වෙන්නෙ, ලෝකයා හිඟන බවට පත් නොවෙන යම් ධර්ම මාර්ගයක්, ක්‍රියා මාර්ගයක් ඇත්නම් ඒ මාර්ගයට ඔවුන් යොමු කිරීම.

දුකට වැටිච්ච යමෙකුට පිහිට වෙන්නෙ අනුකම්පාවෙන්. අනු+කම්පා කිව්වම, දුක විඳින්නාගේ හදවත දුකෙන් කම්පනය වෙනවා. අනුව කම්පනය වෙන්නෙ දුකට මිසක් සැපට නෙවෙයි. අනුන්ට මෙහෙම දුක් කරදරයක් වුනා නම්, මට වුනත් එච්චරයිනෙ කියල ඒක දකින කෙනාටත් අදහසක් එනවා. යමක් දුක් කරදර නම්, තමන්ට හෝ අනික් කෙනෙකුටත් ඒ දුක් කරදරය ආව නම් ඒ ටිකමනේ කියල වැටහෙනවා. එතකොට ඒක දකින කාරුණික හදවතත් දුකෙන් කම්පනය වෙනව මිසක් මෛත්‍රියෙන් කම්පනය වෙනව නෙවෙයි.

බුදුන් වහන්සේ දේශනා කළ මෙත් සහගිය (සහගත) සිතින් වාසය කිරීම කියන කාරණය, හලිද්ද වසන සූත්‍රයේ මේ විදියටයි විස්තර වෙන්නෙ. "මහණෙනි, තෙපි සිත කෙලෙසන, නුවණ දුබල කරන, පංච නීවරණ පහකොට, මෙත් සහගිය සිතින් එක් දිගක් පතුරුවා වෙසෙව... කුළුණු සහගිය සිතින් එක් දිගක් පතුරුවා වෙසෙව ..... මුදිතා සහගත සිතින් .... උපේක්ෂා සහගත සිතින් එක් දිගක් පතුරුවා වෙසෙව. එසේ දෙවන තෙවන සිව් වන දිගද පතුරුවා වෙසෙව. මෙසේ උඩ යට සරස සර්වාත්මතායෙන් (හැම සත්වයෙක් කෙරෙහිම) සියලු ලොව පැතුරුණු මහත් බවට ගිය නොපමණ වූ (ප්‍රමාණ කරන්න බැරි තරම්) වෛර නැති දොම්නස් රහිත උපේක්ෂා සහගත සිතින් පතුරුවා වෙසෙව''

සිත කෙලෙසන, නුවණ දුබල කරන පංච නීවරණ මොනවද ? කාමච්ඡන්දය, ව්‍යාපාදය, ථීනමිද්ධය, උද්දච්ච කුක්කුච්චය, විචිකිච්චාව කියල නීවරණ පහක් ගැන කියවෙනවා. සං. නි. 5 - 1 කාණ්ඩයේ එන පරියාය සූත්‍රයෙන් පංච නීවරණ 10 ක් සහ සත්ත බොජ්ජංග තුදුසෙක් (14 ක්) තියෙනව කියල පෙන්වා තියෙනවා. ක + අම + ච + අන්ධ කියන වචන හතරක එකතුවෙන් තමයි කාමච්ඡන්දය කියන වචනෙ හැදිල තියෙන්නෙ. "ක" කියන්නෙ ක්ෂය වෙනවා, පහත් බවට පත් වෙනවා. "අම" කියන්නෙ අමෘතය හෙවත් නිවන. "ච" කියන්නෙ චිත්තය. "අන්ධ" කියන්නෙ නොපෙනී යනවා. නිවන ක්ෂය කරන යමකට හිත බැඳුනොත්, චිත්තය අන්ධ වීම නිසා හරි වැරදි හොඳ නොහොඳ නොපෙනී යනවා. ඇස, කන, දිව, නාසය, කය, මන අරමුණු කරගෙන උපදින අභ්‍යන්තර කාමච්ඡන්දය සහ ඒවාට ගෝචර වන රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම අරමුණු කරගෙන උපදින බාහිර කාමච්ඡන්දය කියල කාමච්ඡන්ද නීවරණ දෙකක් තියෙනවා. පැහැදිලි දිය බඳුනක් රතු, කහ හෝ නිල් පැහැ ගැන් වුනොත් ඒ දිය බඳුන තුලින් බලන කොට මුහුණේ සටහන පැහැදිලිව දැක ගන්න බැරි වෙනව වගේ, කාමච්ඡන්ද නීවරණය තියෙන කොට සිත කෙලෙසෙනවා, නුවණ දුබල කරනවා.

ව්‍යාපාද කියන්නෙ වැය වෙන පැත්ත කියන අර්ථයෙන්. අය වැය කියල දෙකක් තියෙනවා. වැය වෙනව කියන්නෙ යහපත් ගුණ ධර්ම ගෙවිල වැනසිලා

යනවා. වැය වෙන්නෙ ගැටෙන නිසා. ගැටෙන්නෙ ''මම, මගේ'' කියන මුලා දෘෂ්ටියෙන් නව විධ අගාධයන්ට වැටෙන නිසා. මට අහවලා හිංසා පීඩා කළා, හිංසා පීඩා කරනවා, හිංසා පීඩා කරාවි, මගේ හිතවතාට හිංසා පීඩා කළා, හිංසා පීඩා කරනවා, හිංසා පීඩා කරාවි, මගේ සතුරාට උදව් කළා, උදව් කරනවා, උදව් කරාවි කියන මේ නව ආකාරය මූලික කරගෙන ගැටිල වැයවීම තමයි බාහිර ව්‍යාපාදය. මේ විදියට ''මම'' කියල කෙනෙක් ඉන්නවා, මේ ඇස මගේ, මේ ඇස මෙසේ නිරෝගීව ප්‍රිය මනාපව පැවතිය යුතුයි කියල යම් අදහසක් ගත්තොත්, ඒ ඇස රෝග පීඩාවලට ගොදුරු වෙන කොට, වයස් ගත වෙලා නොපෙනී යන කොට, පැහැපත් බව හීන වෙන කොට දුකට පත් වෙනවා. එහෙම නොවී පවත්වා ගන්නත් නොයෙක් දේ කරනවා, ගැටෙනවා, වැය වෙනවා. මේ විදියට අභ්‍යන්තර යම් ව්‍යාපාදයක් තියේ නම් ඒකත් නීවරණයක්. ගින්නෙන් කැකෑරෙන දිය බඳුනක, දිය බුබුළු බිඳි බිඳී වාෂ්පයෙන් හාත්පසම වැහෙන කොට, ඒ දිය බඳුන තුළින් බලන කොට මුහුණු සටහන පැහැදිලිව දැක බලා ගන්න බෑ වගේ, ව්‍යාපාද නීවරණය නැගිච්ච සිත කෙලෙසෙනවා, නුවණ දුබල කරනවා.

ථීන මිද්ධ කියන්නෙ කම්මැලිකම, නිදිමත ගතිය කියල තමයි අද සාමාන්‍යයෙන් පැහැදිලි කරන්නෙ. නමුත් සං. නි. 5 - 1 කාණ්ඩයේ එන පරියාය සූත්‍ර දේශනාවේ ථීන කියන්නෙ එක නීවරණයක්, මිද්ධ කියන්නෙ තව නීවරණයක් කියල දෙකක් විදියට පැහැදිලි කරල තියෙනවා. තැන, මිදුන කියන අර්ථ දෙක අනුව, දිය සෙවෙල්වලින් හාත්පසින් වැසුන දිය බඳුනක් තුළින් මුහුණු සටහන පේන්නෙ නැති වගේ ථීනය, මිද්ධය සිත කෙලෙසෙනවා, නුවණ දුබල කරනවා. මේ ලෝකෙ යමක් සාරයි, හොඳයි, වටිනව කියල අල්ල ගත්තොත් ඒක දාල යන්න බෑ. එතැන අල්ල ගෙන ඉන්නවා. ඇලිල ඉන්නවා. ඒ තමයි ථීනය. මිද්ධ කියන්නෙ යම් කිසි තැනක මිදෙනවා. මා + ඉද්ද - මිද්ධ. ඉද්ද ගැහුව වගේ කියන්නෙ හෙලවෙන්නෙ නැතුව නැවතුනා කියන එක. ඒ ආකාරයෙන්ම ඉන්නවයි කියන එක. එතකොට ථීන, මිද්ධ කියන්නෙ ඇලීමයි, මිදීමයි. වටිනවා, සාරයි, මනාපයි කියල අල්ල ගත්ත දේ මගේ කරගෙන, අත් නොහැර එතැන හිත රඳවගෙන ඉන්නවා. ඒ හිත රාගයෙන් කෙලෙසිලා. අල්ල ගත්ත දේ කැමති විදියට පවත්වා ගන්න බැරි වෙන කොට ද්වේශයෙන් කෙලෙසෙනවා. ඇයි එහෙම පවත්වා ගන්න බැරි වුනේ ? ලෝක ධර්මතාවය නිසා කියල වටහා ගන්න නුවණ නැති නිසා, මෝහයෙන් කෙලෙසෙනවා.

උද්ධච්ච, කුක්කුච්ච කියන්නෙත් නීවරණ දෙකක්. උද්ධ + අච්ච - උඩඟු බවින් ඉක්ම ගියා. උඩඟු වෙන්නෙ ලෝකය පිළිබඳ යථා ස්වභාවය නොදන්න නිසා. ගිහි පින්වතෙක් ධර්ම දේශනාවක් කරනවා. ''අපොයි ඔය අහවලාගෙ පුතා නෙ. එයා දන්න බණ.'' ඒ විදිහට දේශකයාව පහත් කොට සලකන්නෙ උඩඟුකම නිසා. ඒ නිසා බණ ඇසීම පැහැර හරිනවා. උද්ධච්ච නීවරණය නැගී සිටියා. කුක්කු + අච්ච - කුක්කුච්ච කියන්නෙ පහත් බව නිසා ඉක්ම ගියා කියන එක. පහත් දේවල් කියන්නෙ පංචකාම ආස්වාද. ඒවා හොඳයිද ? දුකට අසහනයට පත් කරන, මුලා සහගත ආස්වාදයකට ඇති කැමැත්ත නිසා ධර්මය දෙවෙනි කරනවා. අම්ම පන්සල් යන්න කතා කරනවා. යාළුවෙක් ඇවිත් නාට්‍යයක් බලන්න යන්න කතා කරනවා. තෝර ගත්තෙ නාට්‍යය බලන්න යන එක නම්, කුක්කුච්ච නීවරණය තමයි නැගී හිටියෙ. සුළඟින් කම්පිත වෙලා රළ නැගෙන දිය බඳුනක් තුළින් මුහුණ බලන කොට මුව සටහන පැහැදිලිව බලාගන්න බෑ වගේ උද්ධච්චය, කුක්කුච්චය සිත කෙලෙසනවා, නුවණ දුබල කරනවා කියල, මේ නීවරණ දෙක පැහැදිලි කරන්න බුදුන් වහන්සේ උපමා දේශනා කළා.

විචිකිච්චා කියන්නෙ විකෘති වැඩ පිළිවෙලකට චිත්තයේ ඇතිවන කැමැත්තට. නිවන් මග දැකල නැති සියලු සත්වයෝම යන්නෙ විකෘති වැඩ පිළිවෙලක. ආස්වාද ලබන කැමැත්තෙන් බැඳිල රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ අරමුණු කරගෙන හිතන, කියන, කරන සියලු දේ විකෘති කටයුතු. අසාර ලෝකෙ දුක් විඳල මොන සැප සම්පත් රැස්කර ගත්තත් ඒවා ගෙවිල වැනසිලා යනවා. එබඳු දේට මුල් තැන දීල දහම දෙවැනි කරනව නම්, බාහිර විචිකිච්චා නීවරණය නැගී සිටීමෙන් සිත කෙලෙසෙනවා, නුවණ දුබල කරනවා. යම් කෙනෙක් ධර්මය අහල පවින් වැළකිලා යහපත් වැඩ කරන්න පුළුවන්. නමුත් මනුස්ස ලෝකයට වඩා හොඳ තැනක් මිසක් නිවන පතන්නෙ නෑ. එතකොට ලෝක සම්මතයේ ඒ වැඩ පිළිවෙල ප්‍රකෘති වැඩ පිළිවෙලක්. නමුත් ආර්ය විනයේ ඒක විකෘති වැඩ පිළිවෙලක්. මොකද ආර්ය විනය අනුව ප්‍රකෘති වැඩ පිළිවෙලක් හැටියට සලකන්නෙ නිවන අරමුණු කරගත් වැඩ කටයුතුවලට. නමුත් දෙව් ලොව, බඹ ලොව පතන්නෙ හොඳ කයක් ලබන්න. ඒක අභ්‍යන්තර පංචස්කන්ධය කෙරෙහි ඇති විචිකිච්චා නීවරණය. මේ විදියට පංච නීවරණ දහයක් තියෙනවා.

''මහණෙනි, කෙසේ වඩන ලද මෛත්‍රී චිත්ත විමුක්තිය කිනම් ගති ඇත්තී, කුමක් උතුම් කොට ඇත්තී, කුමක් කෙළවර කොට ඇත්තී වේද යත්; මහණෙනි, මෙහි මහණ විවේක නිස්සිත, විරාග නිස්සිත, නිරෝධ නිස්සිත, වොස්සග්ග පරිනාමී, මෙත්තා සහගත සති සම්බොජ්ඣඞ්ගය වඩයි.... මෙත්තා සහගත උපේක්ඛා සම්බොජ්ඣඞ්ගය වඩයි. .... මහණෙනි, ලෞකික ප්‍රඥා ඇති අරිහත්වය අවබෝධ නොකරන මහණ හට මෛත්‍රී චිත්ත විමුක්තිය සුභය නමැති බ්‍රහ්ම ලෝකය කෙළවර කොට ඇත්තී යයි මම කියමි...''

මේ විදියට කරුණා සහගත සත්ත බොජ්ජංග වැඩීමෙන් කරුණා චිත්ත විමුක්තිය, ආකාසානඤ්චායතනය පරම කොට ඇති බවත්, මුදිතා සහගත සත්ත බොජ්ජංග වැඩීමෙන් මුදිතා චිත්ත විමුක්තිය, විඤ්ඤානංචායතනය පරම කොට ඇති බවත්, උපේක්ෂා සහගත සත්ත බොජ්ජංග වැඩීමෙන්, උපේක්ෂා චිත්ත විමුක්තිය, ආකිඤ්චඤ්ඤායතනය පරම කොට ඇති බවත් දේශනා කරල තියෙනවා. මෙබඳු අවසන් ඵලයක් ලබන්නෙ ලෞකික ප්‍රඥාව තියෙන මග ඵල නොලබන යෝගාවචරයින්. ඒ අය ඒ බ්‍රහ්ම ලෝකවල ආයුස පිරිහීමෙන් ආපසු සසර ගමනට ඇද වැටෙනවා. නමුත් පංච නීවරණ පහ කරල, සද්ධර්ම ශ්‍රවණය කරල, මග ඵල ලබපු කෙනෙක් මේ ආර්ය මෛත්‍රිය වැඩීමෙන්, ඒ ඒ බ්‍රහ්ම ලෝකවල ආයු කෙළවර එහිදීම පිරිනිවෙනවා. නැවත සසරට ඇද වැටෙන්නෙ නෑ.

මුලින් සඳහන් කරපු පංච නීවරණ ප්‍රහාණය වෙන්නෙ, කලණ මිතුරු ඇසුරකින් සද්ධර්මය ශ්‍රවණය කරන මොහොතක. බුදුන් වහන්සේ අනුදන වදාළ දාන කථා, සීල කථා, සග්ග කථා, ආදීනව කථා, නෙක්ඛම්ම කථා ආදී අනුපිළිවෙල දේශනාවකින්, ශ්‍රාවකයාගේ මනස ඒ ඒ අවස්ථාවන්ට යොමු කරන කොට, දස අකුසල් හිතක් පහළ වෙන්න ඉඩක් නොලැබී යනවා, යෝනිසෝ මනසිකාරය ගොඩ නැගෙනවා. පංච නීවරණ පහ වෙලා සිත සමථයට පත්වෙනවා. මග ඵල ලබන්න හේතු වාසනා තියෙන අයට ඒ සඳහා උපනිශ්‍රය ලැබෙනවා. බුදුන් වහන්සේ වදාළ ආකාරයට මෙත් සහගිය සිතින් සත්ත බොජ්ජංග වැඩීමෙන් යෝගාවචරයාට ලැබෙන ඵලය දූනගෙනම මෙත් වඩන්න පුළුවන්. අනෙක් සාස්තෲවරු මේ පද පෙළම දේශනා කළත්, අවසානයේ කුමකින් කෙළවර වෙයිද කියන්න දන්නෙ නෑ. නමුත් බුද්ධ දේශනාව කියන්නෙ මග පෙන්වල, අවසාන ඵලය පෙන්වල, දූනගෙන යන ගමනක්.

ඊළඟට විවේක නිස්සිත, විරාග නිස්සිත, නිරෝධ නිස්සිත, වොස්සග්ග පරිනාමී කියන මෙත් සිතක තිබිය ☞

යුතු ගුණාංග සලකල බලන්න ඕන. දෙමාපිය අඹු දරු ආදීන් කෙරෙහි හිත රඳවාගත් ලෝකයා, ඒ සිත අත් නොහැර නිරතුරුවම කටයුතු කරන්නෙ, ඒ අය සමග යහතින් ජීවත් වෙන්න අවශ්‍ය දේ රැස් කිරීම අරමුණු කරගෙන. ඒ අයගෙ සිතේ කිසිම විවේකයක් නෑ. විවේක නිස්සිත වෙන්න නම්, මේ අරමුණුවලින් සිත ඉවත් වෙන්න ඕන. ඉවත් කරගන්න ඕන කියල හිතුවට නිකම්ම ඉවත් කරගන්න බෑ. මේ බැඳීම් අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් දකින්න ඕන. ඒ සඳහා කලණ මිතුරු ඇසුර, සද්ධර්ම ශ්‍රවණය, යෝනිසෝ මනසිකාරය, ධම්මානුධම්ම පටිපදාව එකතු වෙන්න ඕන. මේ ටික ලැබෙන්නෙ බුද්ධෝත්පාද කාලයක විතරයි. අබුද්ධෝත්පාද කාලයකදි කෙලෙස් යටපත් කරනව විතරයි. ඒ නිසා බොහෝ දුක් මහන්සි වෙලා බඹ ලොව උපන්නත්, ඒ ආයු කෙළවර වෙච්ච දවසට ආපසු මේ දුක්ඛිත සසරටම වැටෙනවා. ඒ නිසා බුද්ධෝත්පාද කාලයක අපට මේ දහම අහන්න ලැබීම මොන තරම් භාග්‍යයක්ද ? එයින් උපරිම ඵල නෙලා ගන්න උත්සාහ කිරීම උන්වහන්සේට කරන වටිනාම ගරු කිරීමයි, වටිනාම වන්දනාවයි කියල තේරුම් ගන්න ඕන.

අද මෛත්‍රිය කියන්නෙ මිත්‍රත්වය කියල විග්‍රහ වෙනවා. ඒ විග්‍රහය මේ සූත්‍ර දේශනාවට නම් ගලපන්න බෑ. නමුත් ධර්මය පරස්පර වෙන්නත් බෑ. සං.නි. 1 වෙනි කාණ්ඩයේ එන මාරධීතු සූත්‍රයේ, මාර දූවරුන්ගේ ප්‍රශ්නවලට පිළිතුරු දෙන බුදුන් වහන්සේ මේ විදිහට දේශනා කරල තියෙනවා. "... මම ප්‍රිය රූප, සාත රූප ඇති කෙලෙස් සේනාව දිනා, හුදෙකලාව ධ්‍යාන කෙරෙමින් අභිමතාර්ථයාගේ පැමිණීම වූද හෘදය ශාන්තිය වූද රහත් ඵල සුවය අවබෝධ කළෙමි. එබැවින් මහජනයා සමග මිත්‍රත්වයක් නොකරමි. කිසිවෙකු හා මගේ මිත්‍රත්වයක්ද නොසැපයේ...". එතකොට බුදුන් වහන්සේ නොකරපු දෙයක් කරන්න කියල, ශ්‍රාවකයින්ට අනුදැන වදාරල තියෙනවයි කියන කාරණය පිළිගන්න පුළුවන්ද ?

තිස්ස කියන රහතන් වහන්සේට, මැණික් කැපීම ඔප දැමීම කරන කුළුපග දායකයෙක් හිටියා. ඔහු දිනපතා තමන්ගෙ නිවසට දානයට වඩින්න කියල උන්වහන්සේගෙන් ඉල්ලීමක් කළා. ඔහු කෙරේ දයානුකම්පාවෙන් තිස්ස හාමුදුරුවො ඒ ආරාධනාව පිළිගත්තා. එක දවසක් දානෙට වඩින වෙලාව වෙනකොටත්, ව්‍යංජන සඳහා මස් සකස් කරමින් ඔහු හිටියෙ. ඒ අතරෙ රජතුමාගෙන් මැණිකක් අරගෙන දූතයෙක් ආවා. මණිකාරයා ලේ තැවරුන අතින්ම මැණික අරගෙන යම් තැනක තියල මස් සකස් කරන්න ගියා. ඒ නිවසේ හුරතලයට ඇති කරපු සැළලිහිනියා, මස් කෑල්ලක් කියල හිතාගෙන ලේ තැවරුන මැණික ගිල දැම්මා. ටික වෙලාවකින් ඒ ස්ථානයට පැමිණි මණිකාරයා මැණික නොදැක, ඒ ස්ථානයට වෙනත් කෙනෙක් ඒ වෙලාවෙ ආවෙ නැති නිසා, තෙරුන් වහන්සේගෙන් මැණික ගැන විමසුවා. සිදු වෙච්ච දේ දැක්කත්, උන්වහන්සේ සතා ගැන අනුකම්පාවෙන් පිළිතුරක් නොදී හිටියා. රජතුමාගේ උදහස මොන වගේ දඬුවමක් තමන්ට එල්ල කරාවිදයි කියල හිතල කෝපයට පත් වෙච්ච මණිකාරයා, උන්වහන්සේගේ හිස වර පටකින් බැඳල තිරිංග දමල තද කළා. නාස් පුඩුවලින්, කන් සිදුරුවලින් ලේ පිටවුනත් උන්වහන්සේ කතා කළේ නෑ. මේ අතර සුරතල් සැළලිහිනියා නාද කරමින් ඔහු අසළට ආවා. කෝපයෙන් හිටපු ඔහු සතාටත් දැඩි පා පහරක් එල්ල කළා. ඒ පා පහරින් විසි වෙලා ගිය සතා මැරිල වැටුනා. එතකොට උන් වහන්සේ කතා කරල කිච්චා සතා මැරිලද බලන්න කියල. ඒ වෙන කොට ඌට පණ තිබුනෙ නෑ. ඒ වෙලාවෙ සතා මැණික ගිල්ල කියල උන්වහන්සේ ප්‍රකාශ කළා.



අධික දුක් වේදනා ඉවසමින්, සතා ගැන අනුකම්පාවෙන් සිද්ධිය නොපැවසූ උන්වහන්සේ පිළිබඳ තමන් කටයුතු කළ ආකාරය සිහි වෙච්ච මණිකාරයා බොහෝ සේ දුක් වුනා, පසු තැවුනා, කමාව ඉල්ලා සිටියා. "මා එසේ කීවා නම් ඔබ ඒ සතා මරනවා. මාගේ සාස්තෘන් වහන්සේ මිත්‍රත්වය සංසනිකා දෝස සහිතයි, ප්‍රඥාවන්තයෝ අනුමත කරන්නෙ නෑ... කියල දේශනා කරල තියෙද්දිත්, ඔබගේ ආරාධනාව පිළිගෙන මෙහි පැමිණීමෙන් මට මෙබඳු දුකක් විඳින්න සිද්ධ වුනා, නැවත මෙහි මාගේ පැමිණීමක් නෑ..." උන්වහන්සේ මෙහෙම දන්වල ආපසු වැඩියා. මිත්‍රත්වයක්ම නොවන, කුළුපග දායක ඇසුරකිනුත් මෙබඳු විපත්වලට මුහුණ පාන්න රහතන් වහන්සේලාටත් සිද්ධ වුනා නම්, මෙත් වැඩීම නම් මිත්‍රත්වයයි කියල මෙත් වැඩීමෙන්, දෙපැත්තටම දුකක් මිසක් සෙතක් බලාපොරොත්තු වෙන්න පුළුවන්ද ? ලෝකයාගේ මිත්‍රත්වය පවතින්නෙ තම තමන්ගෙ ලාභය සඳහා.

"මාතා යථා නියං පුත්තං..." ආදී වශයෙන් බුදුන් වහන්සේ පෙන්වා දුන්න උපමාව අද තේරුම් කරන්නෙ, මවක් තම එකම පුතා රක්ෂණය කරන ආකාරයෙන් ලෝක සත්වයාට මෙත් වඩන්න කියල. ඒ වගේ මවකට කිසිම විවේකයක් තියෙනවද ? හැම තිස්සෙම තමන්ගෙ දරුව ගැන අවධානයෙන්, දරුව ලෙඩ වෙයිද, වැටෙයිද, අත පය තුවාල වෙයිද, සතුරු කරදර එයිද .... ආදී වශයෙන් මහා දාහයකින් ඒ මව ඉන්නෙ. මේ උපමාවෙන් පෙන්නුවෙ, අමා මෑණියන් වහන්සේ තම එකම පුතු වන අරිහතුන් වහන්සේ රක්ෂණය කරන ආකාරය ගැන. අරිහත් මගට පිළිපන් සියලු ශ්‍රාවකයන් කෙරෙහි උන් වහන්සේගේ අනුරක්ෂණය ලැබුණ බව පැහැදිළි වෙනවා. ශ්‍රාවකයාට කමටහන වැඩෙන මොහොත දිවැසින් බලල, සුදුසු සාමුක්කංසික දේශනාවකින් අරිහත්වයට පත් වෙන්න උපකාර කළ බව, ථේර ථේරී උදාන ගාථා විමසන කොට පැහැදිළි වෙනවා. අසනීප වෙච්ච අවස්ථාවලදී බොජ්ජංග ධර්ම දේශනා කරල, ඉහාත්ම සුඛ විහරණයට උපකාර කරල තියෙනවා. දවසක් මුගලන් මහ රහතන් වහන්සේ වෙහෙස වෙලා නිදි කිරා වැටෙනව දැකල, එබඳු අවස්ථාවක ආර්ය ශ්‍රාවකයා කළ යුතු වැඩ පිළිවෙල පවා දේශනා කරල තියෙනවා. (අං.නි. 4 වෙනි කාණ්ඩය - 407 පිටුව - පචලායන සූත්‍රය) බුදුන් වහන්සේගේ අනුරක්ෂණය වුනේ තමන්ගෙ ශ්‍රාවකයින්ට සසර දුකින් එතෙර වෙන්නත්, එතෙර වෙච්ච ශ්‍රාවකයින්ට ඉහාත්ම සුඛ විහරණයටත් මග පෙන්වීම සහ උපකාර කිරීම. නමුත් ඒ කිසිවෙක් සමග මිත්‍රත්වයක් තිබුණෙ නෑ.

ආර්ය විනයේ "උතුම් විවේකය" කියන්නෙ නිවනට කියන තවත් නමක්. නිවනින් මෙපිට කිසිම ලෝ සතෙකුට විවේකයක් නෑ. විවේක නිශ්‍රිත වෙන්න නම් නිවන ඇසුරු කරන සිතක් තියෙන්න ඕන. නිවන් මග වැඩීගෙන එන කොට දැනෙන සැහැල්ලු බව, ලෞකිකත්වයට නොබැඳුන ගතියේ තියෙන අගය, නිවීම සැනසීම සිතින් නිතර මෙනෙහි කරන්න ඕන. ඒ විදියට මෙනෙහි කරත්දි "අනේ මම විඳින මේ සුවය, ධර්මය අවබෝධ කරගෙන සියලු ලෝ සතුන්ටත් ලැබෙනව නම්..." කියන දයානුකම්පාවෙන්, "සියලු සත්වයෝ නිදුක් වෙත්වා'' කියල පැතුව නම්, ඒ පැතීම විවේක නිශ්‍රිත, විරාග නිශ්‍රිත, වොස්සග්ග පරිනාමි, මෙත්තා සහගත පැතුමක් කියල කියන්න පුළුවන්.

මුලින් පෙන්නුව වගේ, ☞

ලෝක සත්වයා සසර සැරිසරන කටයුතු අග්‍ර කරගෙනයි ජීවත් වෙන්නෙ. ඒ කටයුතු රාග නිශ්‍රිතයි. රාග කිව්වෙ සසර සැරි සැරීම අග්‍ර කරනවා කියන එක. ඒ අය නිදුක් වෙත්වා කියන්නෙ, දුකක් කරදරයක් නැතිව, සතුටෙන් සමාදානයෙන් ජීවත් වෙන්න ලැබේවා කියන අදහසින්. නිරෝගී වෙත්වා කියන්නෙ, කොත්තමල්ලි ටිකක් බොන තරමෙ හිසරදයක් සෙම්ප්‍රතිශ්‍යාවක්වත් නැතිව ඉන්න ලැබේවා කියන අදහසින්. සුවපත් වෙත්වා කියන්නෙ, ලෞකික වූ යහපත් පැතුම් ඉටු වෙලා ලෞකික අභිවෘද්ධිය සැලසේවා කියන අදහසින්. දුකෙන් මිදෙත්වා කියන්නෙත්, සසරෙදි කරන ලද අකුසලයන්ගේ විපාක වශයෙන් ඇදිල එන ලෙඩ දුක්, නඩු හබ, රැකියා, විවාහ .... ආදියේ ගැටළු ඇවිත් තියෙනව නම්, ඒ ඒ දුකෙන් මිදෙත්වා කියන අදහසින්. මේ සියලු පැතුම්, ලෞකික වූ සසර පැවැත්මකම කොටු කරල තියෙන පැතුම් මිසක්, නිවන ඇසුරු කර ගෙන ගොඩ නැගුන පැතුම් නෙවෙයි. ඒවා රාග නිශ්‍රිතයි.

ආර්ය මාර්ගයට නොපැමිණි සියලු ලෝක සත්වයින්ටම පොදුවේ තියෙන මහම දුක තමයි නිරය, තිරිසන්, ප්‍රේත, අසුර කියන සතර අපා දුකට කොයි යම් මොහොතක හෝ වැටේවිද කියන බිය. ඒ මහ දුකෙන් මිදෙන්න නම් සෝවාන් මගට පත්වෙන්න ඕන. සියලු සත්වයෝ සතර අපා දුකෙන් මිදෙත්වා කියන අදහස ඇතිව, සියලු සත්වයෝ නිදුක් වෙත්වා කියල පැතුව නම්, ඒ පැතුම විවේක නිශ්‍රිත, විරාග නිශ්‍රිත, නිරෝධ නිශ්‍රිත, වොස්සග්ග පරිනාමී මෙත්තා සහගත පැතුමක් වෙනවා.

සදහම් නොදුටු සියලු සත්වයින් ඇස, කන, නාසය, දිව, ශරීරය, මන පිනවීම අරමුණු කරගෙන තමයි ජීවිතය පවත්වන්නෙ. ඒ ඒ කැමති අරමුණු ඉටු කරගන්න නොයෙක් දුක් කරදර විඳිනවා. බැරි අපහසුකම් එනකොට ගැටෙනවා. සෝවාන් ඵලයෙන්, සතර අපාගතවන මට්ටමේ ගැටීම්වලින් දුරු වුනාට, කාම දාහයන්ගෙන් පෙළෙන කොට ඒවායින් මිදෙන්න ගැටෙනවා. දා+හය - හය පොළකින් දැවෙනවා. ඇසට මනාප රූප අහිමි වෙන කොට ඇස දැවෙනවා. කනට මනාප හඬ අහිමි වෙන කොට කන දැවෙනවා. මේ විදියට නාසය, දිව, කය, මන මුල් කරගෙන හය පොළකින් දැවෙනවා. කායික මානසික විවිධ රෝගවලට මුල් වෙන්නෙ කාම දාහය. මේ පෙළීම් ඇති වෙන්නෙ කාම දාහය නිසා, ගැටීම නිසා කියල, සෝවාන් ඵලයට පත් වුනාම වැටහෙනවා, සළායතන සහ ඒවාට ගෝචර වන රූපාදී අරමුණුවලත් අසාරත්වය වැටහෙනවා. අසාරත්වය දැකල, කාම අරමුණු පස්සෙ හඹා යාමෙන් වෙන් වෙනවා. මේ විදියට කාමයන්ගේ ආදීනව දැකල, කාම රාග පටිස තුනී වීමෙන් සකෘදාගාමී ඵලයට පත්වෙනවා. එසේ පත් වීමෙන් ලබන සැනසිල්ල මෙනෙහි කරල, මේ කාම දාහයන් සමග ගැටීමෙන් වෙන්වීමේ සැනසීම, කාම රෝගී බව සමනය වීම, සියලු ලෝක සත්වයින්ටත් ලැබේවා කියන අදහසින්, සියලු සත්වයෝ නිරෝගී වෙත්වා කියල පැතුව නම්, ඒ පැතුම විවේක නිශ්‍රිත, විරාග නිශ්‍රිත, නිරෝධ නිශ්‍රිත, වොස්සග්ග පරිනාමී මෙත්තා සහගත පැතුමක් වෙනවා.

බොජ්ජංග ධර්ම හැර, නිවන හැර, සියලු ලෝ සතුන්ට තවත් සුවයක් නොදකිමි... කියලයි බුදුන් වහන්සේ දේශනා කරල තියෙන්නෙ. සියලු ලෝක ආස්වාදයන් අපි කැමති විදිහට පවත්වන්න බැරි, ගෙවී වැනසී යමින් ආස්වාද මායාවක ලෝකයා මුලා කරල බැඳ තබන දෘෂ්ටි මායාවන් බව අවබෝධ කරගෙන, ඒවායින් මිදීමේ ආනිසංස මෙනෙහි කිරීමෙන්, නිවන පිළිබඳ අකම්පය සමාධියකට පත්වෙනවා. මේ සමාධි සුවය, ලෞකික වූ සියලු ආස්වාදයන්ට වඩා ශාන්තයි ප්‍රණීතයි කියල වැටහෙනවා. ඒ ලබන ශාන්ත ප්‍රණීත සමාධි සුවය සියලු ලෝ සතුන්ටත් හිමි වෙනව නම් කොච්චර වටිනවද කියන අදහසින්, සියලු සත්වයෝ සුවපත් වෙත්වා කියල පැතුව නම්, ඒ පැතුම විවේක නිශ්‍රිත, විරාග නිශ්‍රිත, නිරෝධ නිශ්‍රිත, වොස්සග්ග පරිනාමී, මෙත්තා සහගත පැතුමක් වෙනවා.

සෝවාන් වීමෙන් ලෝක සත්වයා සතර අපායෙන් සදහටම නිදහස් වෙනවා. සකෘදාගාමී වීමෙන් කාම දාහයන්ගෙන් පෙළීම, ගැටීම කියන රෝගය තුනී වෙනවා. අනාගාමී වීමෙන් මතු නොවෙනස් වන සමාධි සුවයට පත් වෙනවා. නමුත් බඹ ලොව ඉපදීමට හේතුවන පංච උපාදානස්කන්ධ දුක තවම ඉතිරියි. තමන්ටත් සියලු ලෝක සත්වයින්ටත් ඒ පංචස්කන්ධ දුකෙන් මිදෙත්වා කියන අදහස ඇතිව, සියලු සත්වයෝ දුකෙන් මිදෙත්වා කියල පැතුව නම්, ඒ පැතුම විවේක නිශ්‍රිත, විරාග නිශ්‍රිත, නිරෝධ නිශ්‍රිත, වොස්සග්ග පරිනාමී, මෙත්තා සහගත පැතුමක් වෙනවා.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ:*

**ඩබ්. ඒ. තිළිණවතී**
**විශ්‍රාමික මහජන බැංකු නිලධාරිනී**
**කඩවත**

# සීල විමංස ජාතකයෙන් ....

**බඹ දත් නිරිඳු බරණැස් රජ වූ දවසෙක**
**මහ සත් තුමා ඉපදුණි බමුණු කුලයක**
**සිප් සත් හදාරයි ළඟ ගුණැති ඇදුරෙක**
**පින් වත් කුමරු උගනියි නැතිව බිය සැක**

**පැහැපත් දුවක විය ඇදුරිඳු තුමාට**
**සිසු පුත් පිරිස අතරෙහි නිසි කෙනාට**
**අත පත් කෙරුම සිය අදහස වුනාට**
**සිල් වත් කවුද පැණයකි මෙය පියාට**

**දරුවෙනි අසවු ම කියන බස් ඉවත නොදා**
**බොරු නොව දුවව සරණෙට දෙමි නුඹට මෙදා**
**සොරු ලෙස නිවෙස් වෙත ගොස් හැකි දැනුම යොදා**
**ගරු සරු ඇඳුම් ගෙනැවිත් ජය ලැබුම හොඳා**

**කුමරුන් එවිට රූමත් දුව ලබනු රිසින්**
**රහසින් ගොස් නිවෙස් වෙත නොම හැඟෙන ලෙසින්**
**දඹ රන් පළඳනා සළු පිළි රැගෙන හිසින්**
**පිළිපන් වගයි ඇදුරිඳු නිවහනට තොසින්**

**බෝසත් කුමරු පැමිණියෙ හිස් අතිනි එදා**
**ජීවත් වනු පවකි හොර බොරු ඇතිව සදා**
**කීවත් කවුරු වළකිම් දිවි වුවද පුදා**
**මාවත්වල සිඟා කන එක වැඩිය හොඳා**

**ඇදුරිඳු සතුටු විය කුමරුගෙ වදන අසා**
**සුදුසුය දරුව ඔබ සිල් ගුණ තිබෙන නිසා**
**සොඳුරිය කරමි දුව - නැත ඔබෙ කිසිදු දොසා**
**සඳ හිරු බෙලෙන් ජය වේ දුක අඳුර නසා**

පබැඳුම : පානදුරේ එස්.ඒ.එස්. පෙරේරා

# ධම්ම පදය තුලින් නිවන් මග

**16 වන කොටස**

ධම්ම පදය තුල තියෙන සුඛ වර්ගයට අයත් මුල් ගාථා තුන දේශනා කරන්න හේතු වුන නිදාන කතාව තමයි මේ කියන්න යන්නෙ. ලොව්තුරා බුදු පියාණන් වහන්සේ ලෝකයේ වැඩ සිටින කාලය තුල, තමන් වහන්සේගේ නෑදෑ දෙකොටසක් අතර ඇති වෙච්ච ප්‍රශ්නයක් තමයි මේකට හේතු වුණේ. එක පැත්තක නෑදෑයො ශාක්‍ය වංශිකයො, අනෙක් පැත්තෙ නෑදෑයො කෝලිය වංශිකයො. ඉතින් මේ දෙපිරිස අතර ගොවිතැන් කරන්න පොදුවේ වතුර ගන්න රෝහිණී කියල නදියක් තිබුණා. මේ නදිය ගලාගෙන ගියේ ශාක්‍ය දේශ සීමාවත් කෝලිය දේශ සීමාවත් මැද්දෙන්. ඒ නිසා ගොවිතැන්වලට අවශ්‍ය වතුර ගත්තෙ පොදු එකඟතාවයක් මැද. ඉතින් මහ නියඟයක් ආපු කාලෙක මේ රෝහිණී නදියේ වතුර අඩු වුණා. හරියටම පාවිච්චි කරනව නම් එක කොටසකට විතරයි සෑහෙන්නෙ. මේ ගැන එකඟතාවයක් ඇති කර ගන්න දෙපැත්තෙම ගොවිතැන් කරන අය එකතු වෙලා සාකච්ඡා කළා. මේ සාකච්ඡාව සාර්ථක වුනේ නෑ. එක කොටසක් කියනවා, අපි පාවිච්චි කරන්නම් ඔයගොල්ලො අපෙන් අවශ්‍ය බෝග ගන්න කියල. අනෙක් අයත් ඒ කතාවම කියනවා. ඒ නිසා කිසිම එකඟතාවයකට එන්න බැරි වුණා. අන්තිමට බහින් බස් වෙන තැනට ආවා. එක පැත්තක කෙනෙක් සීමාව ඉක්මවා ගිහින් අනෙක් පැත්තෙ කෙනෙකුට ගැහුවා. දැන් සාකච්ඡාව රණ්ඩුවකට හැරිල තම තමන් අපහාස කරගන්න තැනට ආවා.

පහළ කම්කරුවො තමන්ගෙ නායකයා වූ ඒ පැත්ත අයිති ඇමතිට මේ ගැන කිව්වා. ඇමති තමන්ට උඩින් ඉන්න කෙනාට කිව්වා. අන්තිමට මේ ප්‍රශ්නය රාජ සභාව දක්වාම ගිහින් යුද්ධ කරන තැනට ආවා. දැන් රෝහිණී නදිය දෙපස ශාක්‍ය සේනාවත්, කෝලිය සේනාවත් රැස් වෙලා යුද්ධ කරන්න ලෑස්ති පිට ඉන්නෙ. ඉතින් මේ සිද්ධිය ලොව්තුරා බුදු පියාණන් වහන්සේගෙ මහා කරුණා ඥානයට අහුවුණා. සිද්ධ වෙන්න යන විනාසය උන්වහන්සේ දැක්කා. ඒ නිසා ඒ තැනට වැඩම කරල අහස මත වැඩ ඉඳගෙන, සිද්ධ වෙන්න යන විනාසය ප්‍රශ්න - උත්තර ආකාරයෙන් පහදල දීල, ඒකට හේතුව රෝහිණී නදියේ ජලය බවත් පහදල දුන්නා. උන්වහන්සේ එහෙම ප්‍රශ්න අහන්නෙ කිසිවක් නොදැන නෙවෙයි. ලොව්තුරා බුදු පියාණන් වහන්සේ නමකට කිසිම දෙයක් වහන්න බෑ. ඒත් උන්වහන්සේ ප්‍රශ්න අහන්න හේතුවක් තියෙනවා. ඒ ප්‍රශ්නය තියෙන කෙනාට හෝ ඒ අවට ඉන්න අයට ඒකට මූලික හේතුව දැන ගන්නත්, ඒ හේතුව ඇත්තටම මේ වගේ යුද්ධයකට යන්න තරම් වටිනවද යන්නත් තේරුම් කරන්න තමයි එහෙම ප්‍රශ්න අහන්නෙ.

ඔය විදිහට උන්වහන්සේ ප්‍රශ්න අහගෙන එනකොට, මේ ප්‍රශ්නයට මූලික හේතුව රෝහිණී නදියේ ජලය කියල හැමෝටම අවබෝධ වුනා. දැන් යුද්ධ කරන්න හේතුව දන්නවා. ඊළඟට උන්වහන්සේ අහපු ප්‍රශ්නය තමයි, දැන්



මේ රෝහිණී නදියේ ජලය කොච්චර වටිනවද කියල. ඉතින් රජවරු දුන්න උත්තරය තමයි ස්වාමීනි, ඉතාම අඩුවෙන් තමයි මේ ජලය වටින්නෙ කියල. නැවතත් ප්‍රශ්නයක් ඇහුවා, එතකොට මෙතනට ඇවිත් ඉන්න රජවරු සිටුවරු ඇමතිවරු කොච්චර වටිනවද කියල. හැමෝම දුන්න උත්තරය තමයි, ස්වාමීනි ඒ අය මේ ජලයට වඩා වටිනව කියල. එහෙනම් ඉතින් ඇයි මේ කිසිම වටිනාකමක් නැති ජලය වෙනුවෙන් වටිනා රජවරු සිටුවරු ඇමතිවරු විනාස වෙන්නෙ කියල බුදුන් වහන්සේ ඇහුවම, හැමෝටම කාරණය වැටහුනා. නොවටිනා දෙයක් වටිනව කියල අරගෙන තමන් සතුව තියෙන වටින දෙයක් මොකට නැති කරගන්නවද කියල හිතල යුද්ධය නතර කළා.

දැන් කෙනෙකුට හිතෙන්න පුළුවන්, ලෝකය සමග නොගැටී සිටින ලොව්තුරා බුදුන් වහන්සේ නමක් මේ අහක යන ප්‍රශ්නයකට අත දැම්මෙ ඇයි, උන්වහන්සේට උන්වහන්සේගෙ පාඩුවේ ඉන්න තිබුණනෙ, සියල්ල අත හැරපු කෙනෙක් මොකට මේවට අත දානවද කියල. මුලින්ම දැන ගන්න ඕන කාරණය තමයි, ලොව්තුරා බුදුන් වහන්සේ නමක් කියන්නෙ අද්විතීය උත්තමයෙක්. ද්විතීය කියන වචනයේ තේරුම තමයි තව කෙනෙක් ඉන්නවා, එහෙම නැත්නම් දෙවැනියා කියන එක. නමුත් උන්වහන්සේට දෙවැනි කරන්න කෙනෙක් නෑ. ඒ නිසයි උන්වහන්සේට අද්විතීයයි කියන්නෙ. ඉතින් උන්වහන්සේ ගන්න තීරණයක්, කරන වැඩක්, කියන වචනයක් ගැන තව කෙනෙකුට විවේචනය කරන්න බෑ. ඇයි ගියේ, එහෙම කරන්නෙ නැතුව මෙහෙම කරන්න තිබුන නෙ, අපරාදෙ ඒවට අත දාන්න ගියේ, බුදු කෙනෙකුට ගැලපෙන්නෙ නෑනෙ... ආදී වශයෙන් එහෙම කියන්න සමතෙක් නෑ. ඒකට හේතුව ලොව්තුරා බුදුන් වහන්සේ නමක් සතුව තියෙන ෂඩ් අසාධාරණ ඥාන. ධර්ම සේනාධිපති වූ, ප්‍රඥාවෙන් ලොව්තුරා බුදුන් වහන්සේට පමණක් දෙවැනි වූ සැරියුත් මහ රහතන් වහන්සේටවත් නැති ඥාන හයක් ලොව්තුරා බුදුන් වහන්සේට තියෙනවා. ඉතින් ඊට පහළ ඉන්න කිසිම කෙනෙක් ඒ කරපු දේ විවේචනය කරන්න, අඩුපාඩු පෙන්වන්න සමත් නෑ. මේ කාරණය ඔප්පු කරන්න පුළුවන් හොඳම තැනක් ත්‍රිපිටක පෙළ දහමේ එන සූත්‍රයක තියෙනවා. ඒ සූත්‍රය තමයි මහා පරිනිබ්බාන සූත්‍රය. ඒ සූත්‍රය තුල සාරිපුත්ත සිංහ නාදය කියල කොටසක් තියෙනවා. (දීඝ නිකාය 2 - 129 පිටුව) ඒ සිද්ධිය කෙටියෙන් කියනව නම් මෙහෙමයි.

සැරියුත් මහ රහතන් වහන්සේ බුදු පියාණන් වහන්සේ ළඟට ඇවිත්, ස්වාමීනි යම් අරිහත් ඵල ඥානයක් කියල දෙයක් තියෙනව නම්, ඒ ඥානයෙන් ඉහලටම ගිය ඔබ වහන්සේට වඩා මහණ කෙනෙක් හෝ බමුණු කෙනෙක් පෙරත් හිටියෙ නෑ, දැනුත් නෑ, මතුත් එන්නෙ නෑ, ඒ මහා ඥානය ගැන මම බොහොම පැහැදිලා ඉන්නෙ කියල කියා සිටියා. ඉතින් ලොව්තුරා බුදුන් වහන්සේ, සැරියුත් මහ රහතන් වහන්සේ මේ පවසපු වචන ටික ගැන, නුඹ වහන්සේ ඒ ටික කිව්වෙ හරියටම දැන ගෙනමයි, ඒ කිව්ව කතාවේ කිසි අඩුපාඩුවක් නෑ හරිම ශ්‍රේෂ්ඨයි කියල අනුමත කළා. මේ ශ්‍රේෂ්ඨ වචන ටිකට තමයි සිංහ නාදය කියල ☞

කියන්නෙ. ශ්‍රේෂ්ඨ නාදය සරල සිංහලෙන් කියනව නම් සීහ නාදය කියල ගන්නත් පුළුවන්.

ඉතින් ඒත් එක්කම බුදුන් වහන්සේ, සැරියුත් මහ රහතන් වහන්සේගෙන් නැවතත් මෙහෙම ප්‍රශ්න ටිකක් ඇහුවා. භාග්‍යවතුන් වහන්සේ නමක් මේ තරම් සිල්වත්, මේ තරම් ඥානයෙන් යුක්තයි, ඊට එහා ගිය කෙනෙක් පෙරත් හිටියෙ නෑ, දැනුත් නෑ, මතුවටත් නෑ කියල නුඹ වහන්සේ කිව්වෙ මගේ හිත කියවලද, එහෙම නැත්නම් සම්මා සම්බුදුවරයකුගේ හිත හරියටම දැනගෙනද? ඉතින් සැරියුත් මහ රහතන් වහන්සේ කියන්නෙත් එසේ මෙසේ කෙනෙක් නෙවෙයි, ප්‍රඥාව අතරින් බුදුන් වහන්සේට පමණයි දෙවැනි. ඒ වගේ ඥානයක් තිබිච්ච සැරියුත් මහ රහතන් වහන්සේගෙනුත් බුදුන් වහන්සේ ඇහුවෙ, හරියටම දැනගෙනද කිව්වෙ කියල. ඒකෙන් අපට තේරුම් ගන්න පුළුවන් දේ තමයි, සැරියුත් මහ රහතන් වහන්සේටත් බැරි නම් ඊට මෙහා ඉන්න කෙනෙක් කොහොමද බුදුන් වහන්සේ නමක් කරන කියන දේ විවේචනය කරන්නෙ හෝ මෙහෙම කළොත් හොඳයි කියල කියන්නෙ කියන කාරණය. ඉතින් ඒ ප්‍රශ්නයට සැරියුත් මහ රහතන් වහන්සේ දුන්න උත්තරය තමයි ස්වාමීනි, මට එහෙම කියන්න නුවණක් නෑ කියල. දහම් පොත් පත්වල සඳහන් වෙන ආකාරයට සැරියුත් මහ රහතන් වහන්සේට, මේ කල්පයේ මුල පටන් උන් වහන්සේ වැඩ හිටපු කාලය තුළ මහ පොළවට අහසින් වැටුන සියලු වැහි බිඳු ගණන කියන්න පුළුවන්. ඉතින් එහෙම හැකියාවකුත් තිබිච්ච උන්වහන්සේ දුන්න උත්තරය තමයි, ලොව්තුරා සම්මා සම්බුදුවරයෙක් ගැන මට කියන්න බෑ කියල.

ඊට පස්සෙ නැවතත් ලොව්තුරා බුදුන් වහන්සේ ප්‍රශ්නයක් ඇහුවා. එහෙනම් සම්මා සම්බුදුවරයෙක් ගැන කියන්න, උන්වහන්සේලාගේ හිත් දැනගැනීමේ ඥානය නැති නුඹ වහන්සේ අර විදිහෙ බය නැති කතාවක් කිව්වෙ කොහොමද, එහෙම සීහ නාදයක් පැවත්වුවෙ කොහොමද? ඉතින් සැරියුත් මහ රහතන් වහන්සේ නැවතත් බුදුන් වහන්සේට උත්තරයක් දුන්නා. ස්වාමීනි මට එහෙම කෙලින්ම කියන්න, ලොව්තුරා බුදුන් වහන්සේ නමකගේ හිත කියවන්න ඥානයක් නැති වුනාට, ධර්මාවබෝධය තුලින් මා ලබපු දැනීමෙන් සර්වඥතා ආදී ඥාන ගැන අනුමානයෙන් කියන්න හැකියාව තියෙනවා. ඒ අනුවයි මා ඒ කතාව කිව්වෙ. ඉතින් උන්වහන්සේ ඒකට මේ විදිහෙ උපමාවක් කියනවා.

මහා සුවිසල් නගරයක් ගැන හිතන්න. හැබැයි ඒ නගරයට යන්න පුළුවන් එකම එක දොරටුවයි තියෙන්නෙ. වටේටම විසාල ශක්තිමත් තාප්පයක්. ඒ තාප්පය හුගක් උස එකක්, කිසිම අතුරක් සිදුරක් නෑ. ගරා වැටිච්ච තැනකුත් නෑ. පූසෙක් ගියත් යන්න ඕන අර දොරටුවෙන්. මේ විස්තර සියල්ල දන්න ඒ නගරය මුර කරන එකම මුරකරුවෙක් ඉන්නවා. මේ මුරකරුවා තැනට සුදුසු නුවණ තියෙන ඉතාම ඥානවන්ත කෙනෙක්. ඔහු හොඳටම දන්නවා, ඒ තාප්පෙ තරමත් නගරයේ තරමත්. පූසෙකුටවත් යන්න බැරි තරම් විසාල ශක්තිමත් අතුරු සිදුරු නැති තාප්පයක්. ඉතින් මහ විසාල ශරීරයක් තියෙන අලියෙක් වගේ සතෙක් නගරයට යනව නම් යන්න ඕන මේ තියෙන එකම දොරටුවෙන්, පිටවෙනව නම් පිටවෙන්න ඕනත් මේ එකම දොරටුවෙන්. අන්න ඒ විදිහට දැනගෙන තමයි, මම ලොව්තුරා බුදුන් වහන්සේ නමකගේ හිත ගැන, සීලය ගැන, ප්‍රඥාව ගැන අනුමාන කළේ.

ඉතින් තමන් තුලින් එන ධර්මාවබෝධය අර සුවිසල් නගරයේ තාප්පෙ වගෙයි. එයින් තමන් තුළ නැගුනු සීලය, සමාධිය සහ ප්‍රඥාව ගැන දැනීම, අර මුරකාරයා තාප්පෙ ඇතුලෙන් පොඩි සතෙකුටවත් යන්න බෑ කියන ප්‍රත්‍යක්ෂව දන්න කරුණක් වගේ. ඒ අනුව හිතල මහා උත්තමයන් ගැනත් අනුමාන කරන්න පුළුවන්. මම දන්න ටිකෙන් මම මේ විදිහෙ සුවයක් විඳිනවා, ඉතින් පරතෙරට ගිය උතුමෙක් කොහොම සුවයක් විඳිනව ඇත්ද කියල අනුමාන කරන්න පුළුවන්. ඒක අත්දැකීමෙන් දැනගෙනම තමන්ගෙ නුවණට ගෝචර වන තරමට හරියටම කියන්න පුළුවන්. අන්න එහෙමයි සැරියුත් මහ රහතන් වහන්සේ බුදුන් වහන්සේ ගැන කිව්වෙ. ඒ නිසා උන්වහන්සේ කරපු කියපු දේ ගැන අඩු පාඩු හොයන්න අපිට හැකියාවක් කොහෙත්ම නෑ. ඒ නිසා, අඩුම තරමෙ උන්වහන්සේ දස අකුසලයෙන් වැළකිලා ඉන්නව නේ, ඒ ගුණයට හිත තියල අපිත් එහෙම ඉන්න ඕන කියල අදහස් කළත් මහ ගුණයකට හිත තිව්ව වෙනවා, ගරු කළා වෙනවා. ඒකම මහත්ඵලයි මහානිසංසයි.

ඉතින් ශාක්‍ය කෝලිය දෙපාර්ශවයේ රෝහිණී නදිය සම්බන්ධ ප්‍රශ්නයට උත්තර දෙන ගමන් උන්වහන්සේ මෙන්න මේ ගාථා තුන දේශනා කළා.

**සුසුඛං වත ජීවාම**
**වේරිනේසු අවේරිනෝ**
**වේරිනේසු මනුස්සේසු**
**විහරාම අවේරිනෝ**

සරල සිංහල තේරුම,

වෛර සහිතව ජීවත් වෙන මිනිසුන් අතරෙහි අපි වෛර නැතිව ඉතා සුව සේ ජීවත් වෙමු. අපි වෛරී මිනිසුන් මැද අවෛරීව වාසය කරමු.

ලොව්තුරා බුදුන් වහන්සේ ඒ මොහොතෙ දේශනා කළ මේ ගාථාවෙන් මුලින්ම කළේ එතන හිටපු අයගෙ වෛරය සංසිඳවපු එක. වෛරයෙන් පිරුණු හිතකට කිසි දෙයක් කිව්වට තේරෙන්නෙ නෑ. හැම තිස්සෙම පුපුරු ගහනවා. හරියට උපමාවක් කියනව නම්, ඕනම කෙනෙකුට ජීවිතයේ පාසල් යන දවස්වල හෝ වේවැල් පාරක් කාපු මතකය ඇති. ඉතින් ඒ වේවැල් පාර, අතකට හෝ කකුලකට හෝ වැදුනම එතන හම ඉලිප්පිලා එනවා. හරියට ඉරක් ගිහින් වගේ, එහෙම නැත්නම් වෛරමක් වගේ. රත් වෙලා රතු පාට වෙලා ඉලිප්පිලා, ඒ වගේම හද ගැස්ම වගේ ගැස්සි ගැස්සි පුපුරු ගහනවා. ඉතින් හිතට වෛරයක් ආවම අර හමේ වේවැල් පාර නිසා වැටුන වෛරම වගේ පුපුරු ගහනවා. වේවැල් පාර වැදුනෙ කොහෙන්ද කියල බැලුවම පේනවා, අනේ මම මෙච්චර කල් පාවිච්චි කරපු දේ, රැකපු දේ දැන් මුන් කඩා වඩා ගන්න යනව නේ, කොහොමද ඒක වාවන්නෙ කියල. තදින්ම අල්ල ගෙන හිටිය නම් තදින්ම වේවැල් පාර වදිනවා. ඉන්න බෑ, හිතේ වෛරම වගේ පලු ඇවිත් පුපුරු ගහනවා. ඒ පාවිච්චි කරපු දේ හෝ ආදරයෙන් රැක බලාගත්ත දේ, වෙන කෙනෙක් පාවිච්චි කරන කොට ඉවසන්න බෑ. ඉතින් මේක හිත ඇතුලෙ පුපුරු ගහනවා. මුලින්ම බුදුන් වහන්සේ අහපු ප්‍රශ්නය තමයි, උඹල මේ ගහගන්න හදන්නෙ, වෛර කරගන්නෙ මොකක් වෙනුවෙන්ද කියල. මෙන්න මේ වතුර ටික වෙනුවෙන්. ඒ වතුරද වටින්නෙ උඹලගෙ ක්ෂත්‍රිය ජීවිතයද වටින්නෙ? අපෝ නෑ ස්වාමීනි වතුර වටින්නෙ නෑ.

ඉතින් අර තිබිච්ච වටිනාකම, ඊට වඩා වටින දෙයක් පෙන්වල උපක්‍රමශීලීව නැති කළා. මේ ශාක්‍ය කෝලිය දෙගොල්ලොම මාන්නක්කාරයි, තමන්ගෙ පෙළපත තමයි උසස් කියල හිතන් හිටියෙ. ඒකයි අර ප්‍රශ්නය එහෙම ඇහුවෙ. කාටවත් කියන්න බෑ අපේ කුලය නොවටිනා එකක් කියල. ඉතින් නුඹලා මේ නොවටිනා දෙයක් පස්සෙ රණ්ඩු කරගන්න ගිහින් අර වටිනා රාජ කුලය නේද නැති කරගන්න යන්නෙ කියල තේරුම් කරල දුන්නා. ඒක උපක්‍රමයක්. ඒ මොහොතේ හිත වෙනස් වෙන්න කරපු දෙයක්. දැන් ඊළඟ ටික කියන්න ලේසියි. ඕනම කෙනෙකුට එහෙමයි.

යම් කිසි දේකට රණ්ඩුවීම නවත්වන්න අපි වුනත් එහෙම

කියනවා කරනවා. පොඩි ළමයි දෙන්නෙක් සෙල්ලම් බඩුවකට රණ්ඩු වෙන කොට, අපි ඊට වඩා වටිනා දෙයක් පෙන්වල තමයි ඒක නවත්වන්නෙ. අපෝ ඔය කාර් එකට මොකට රණ්ඩු වෙනවද, මම පුතාට ඊට වඩා හොඳ බැටරි දාන කාර් එකක් අරන් දෙන්නම් කියල උපක්‍රමශීලීව ඒ රණ්ඩුව නතර කරවනවා. ඉතින් ඊළඟට වටිනා දේ ලබා ගන්න නම් ඒ දෙමව්පියෝ කියන විදිහට අර රණ්ඩු වෙච්ච ළමයින්ට ඉන්න වෙනවා. ලොව්තුරා බුදුන් වහන්සේට, උන්වහන්සේ දේශනා කරපු ධර්මය අහල පරිපූර්ණ වෙච්ච උතුමන්ට, මේ ලෝකයේ එක එක දේවල් පස්සෙ දුවන ලෝක සත්වයා අර රණ්ඩු කරන ළමයි වගේ පේන්නෙ. ඕක අතහරින්නකො කිව්වට එකපාරටම අතහරින්නෙ නෑ. ඊට වඩා වටින දෙයක් මුලින්ම පෙන්වන්න ඕන. දැන් මනුස්සයෙකුට නම් දෙව් ලොව සැප ගැන කියන්න පුළුවන්. ඒ වගේම තිරිසනෙක් විඳින දුක පෙන්වල මනුස්ස ජීවිතයේ තියෙන සැප පහසුව පෙන්වන්න පුළුවන්. නැත්නම් අර කලින් එකම අත හරින්නෙ නැතුව අල්ල ගෙන ඉන්නවා. කවුරු හරි කඩල බිඳල දමයි, ඉබේ කැඩිල බිඳිල යයි කියල පරිස්සම් කරනවා. ඊට විරුද්ධ දෙයක් එන කොටම අර වේවැල් පාර වැදුන වගේ පුපුරු ගහනවා.

ඉතින් ලෝක සත්වයා වටිනාකම් දීල තියෙන දේවල් විවිධාකාරයි. ඊට විරුද්ධව යමක් එනකොට හිත පුපුරු ගහනවා, වෛරයක් ඇති වෙනවා. දැන හෝ නොදැන, හෝස් ගාල මගේ හිත පිච්චුනා වගේ දැනුන කියල කියන්නෙත් මේකම තමයි. ''අනේ අරයට ලැබුනා මට නෑ නේ'' මේ වගේ එක එක අවස්ථා. ඉතින් එහෙම වටිනාකම් නොදීපු කෙනෙක් ඉන්නව නම්, අනෙකට කොච්චර ලැබුනත් මට නෑ නෙ කියල පිච්චෙන්නෙ නෑ. ඔහු ඒ අය අතර ඉන්න හිත පිච්චෙන්නෙ නැති කෙනෙක්. කොටින්ම කියනව නම්, වෛර සහිතව ජීවත් වෙන අය අතරින් අවෛරීව ජීවත් වෙන කෙනෙක්, සුවයෙන් ඉන්න කෙනෙක්. ලෝකයා විසින් මේ විදිහට දීල තියෙන වටිනාකම නැතිවීම තමයි ඒකට හේතුව. ඒ වටිනාකම ඇරගන්න හැටි තමයි උන්වහන්සේ ඊළඟ ගාථාවෙන් පෙන්නුවෙ.

**සුසුඛං වත ජීවාම**
**ආතුරේසු අනාතුරා**
**ආතුරේසු මනුස්සේසු**
**විහරාම අනාතුරා**

කෙලෙස්වලින් ආතුරව ලෙඩ වී වසන මිනිසුන් මැද අපි කෙලෙස්වලින් ලෙඩ නොවී සුව සේ ජීවත් වෙමු. අපි කෙලෙස්වලින් ආතුර වූ මිනිසුන් මැද අනාතුරව ලෙඩ නොවී වාසය කරමු.

ඉතින් ඒ වටිනාකම දුන්න දේ රැක ගන්න, බැඳගන්න, බලාගන්න නොයෙක් දේවල් කරනවා. සමහරු අර රජවරු වගේ මරා ගන්න පවා යනවා. දැන් අර කලින් වැදුන වේවැල් පාර නිසා ඉලිප්පිලා ආව තැන තෙල් ටිකක් ගාල සනීප කරගන්න පුළුවන්. ඒත් එතන කසන්න ගියොත් මොනවා වෙයිද? තුවාල වෙන්න පවා පුළුවන්. බාහිර විස බීජ ගිහින් ලොකු තුවාලයක් බවට පත් වෙලා පැසවන්න වුනත් පුළුවන්. කෙලෙස් කියන්නෙත් ඔන්න ඔය බාහිර විස බීජ වගේ. වෛරයෙන් ඉන්න කෙනාගෙ, අර වටිනාකම දීපු දේට අනුව බැඳිල තියෙන ප්‍රමාණය අනුව මේ කෙලෙස් නිසා තව තවත් හිත තුවාල වෙනවා. හිත පැසවන්න පටන් ගන්නවා. හරියට තුවාලෙ වගේ. තව තවත් නරක පැත්තටමයි යොමු වෙන්නෙ.

උපමාවක් කියනව නම්, දැන් අපි හැමෝටම තියෙන අත්දැකීමක් තමයි මේ. ළඟම ඥාතියෙක් හෝ මිත්‍රයෙක් බරපතල විදිහට අසනීප වෙලා රෝහලක නවත්වනව කියල හිතන්න. ඉතින් අපි ඒ අයව බලන්න රෝහලට යනවා. දැන් අපිට කිසිම ලෙඩක් නෑ, නමුත් ඒ ඒ වාට්ටුවලට යන කොට ඇඳන්වල ඉන්න නොයෙක් ලෙඩ රෝග නිසා දුක් පීඩා විඳින අය දකිනවා. එක එක ජාතියේ විස බීජ නිසා ලෙඩ වෙලා වේදනා විඳිනවා. තාවකාලික වේදනා නාසකවලින් ඒ වේදනා අඩු වුනත්, ඒවායේ බලය ගිය ගමන් නැවතත් වේදනා එනවා. අපිට ලෙඩක් නැති නිසා, ඒ අය විඳින දුක පේනවා. අපිට ලෙඩක් නැති නිසා අපි සුවයෙන් ඉන්නවා. හරියටම කියනව නම්, ලෙඩ වෙච්ච අය ඉන්න තැනක ලෙඩක් නැතුව අපි සුවෙන් ඉන්නවා.

ඒ වගේ තමයි කෙලෙස් ප්‍රහීණ කරපු උත්තමයෝ. උන්වහන්සේලාගේ හිත ලෙඩ වෙලා නෑ. නමුත් නොයෙක් කෙලෙස් විස බීජ නිසා ලෝක සත්වයා ලෙඩ වෙලා ඉන්නෙ. උන්වහන්සේලාට ඒ අයව පේන්නෙ හරියට අපි ගිය රෝහල වගේ. දුක් විඳින ලෝක සත්වයෝ පේන්නෙ අර ඇඳන්වල ඉන්න ලෙඩ්ඩු වගේ. ලෙඩ්ඩු අතරේ උන්වහන්සේලා නිරෝගී සුවයෙන් ඉන්නවා. ඒ ටික තමයි ලොව්තුරා බුදුන් වහන්සේ දෙවන ගාථාවෙන් පෙන්නුවෙ.

**සුසුඛං වත ජීවාම**
**උස්සුකේසු අනුස්සුකා**
**උස්සුකේසු මනුස්සේසු**
**විහරාම අනුස්සුකා**

කාම සැප සෙවීමෙහි උත්සුක වූ මිනිසුන් අතරෙහි අපි එබඳු උත්සාහයක් නැතිව ඉතා සුව සේ ජීවත් වෙමු. අපි කාම සැප සෙවීමෙහි උත්සුක වූවන් මැද අනුත්සුකව වාසය කරමු.

ඉතින් වටිනාකමක් නැති දේවල් පස්සෙ ගිහින් වෛරයක් ඇති කරගෙන, තවත් කෙලෙස් නිසා හිත තුවාල කරගෙන ඉන්න මිනිස්සු, ඇයි එහෙම දුක් විඳ විඳ ඒකම කරන්නෙ කියල හිතෙන්න පුළුවන්. ඒක අර කලින් සඳහන් කරපු විදිහට රෝහලේ දුන්න වේදනා නාශකය වගේ. ලෙඩේ හොඳ වෙලා නෑ, ඒත් වේදනාව නැති වුනාම තාවකාලික සුවයක් ලැබෙනවා. ඒ සුවය තමයි නිතරම මතක. වේදනාවක් ආපු ගමන් ඒකම ඉල්ල ඉල්ල කෑ ගහනවා. ඉතින් ලෝක සත්වයත් මූලික තැන දෙන්නෙ මේ පංච කාමයෙන් ලැබෙන සුවයට. ලෝකයට ඇලෙන්නෙ මේ සුවය නිසා. සියල්ල දුකට පත්වෙන්නෙ මේ සුවය පස්සෙ හඹා යන උත්සාහය නිසා. ඒ සුවය ලබාගන්න කරන උත්සාහය වැටෙන්නෙ සංඛාර දුක්ඛයට. ලස්සන ගෙයක් හදන්න හීන මවනවා. ඒ හීනෙ හරිම ලස්සනයි සුන්දරයි, හිතටත් සුවයි. ඒක ලබාගන්න නොයෙක් දේවල් කරනවා. ඒවා සාධාරණ වෙන්න පුළුවන්, අසාධාරණ වෙන්න පුළුවන්. සාධාරණ නම් වෙනදට වැඩිය වැඩ කරනවා. ඒක සුවයක් නෙවෙයි, බාධක එනවා. ඒකට එක එක දේවල් කරනවා. ඒකත් සුවයක් නෙවෙයි. මෙන්න මේ උත්සාහය තමයි ලෝක සත්වයා වැඩිපුරම කරන්නෙ. අවුරුදු 60 ක 70 ක මනුස්ස ජීවිතයෙදි සුවය පස්සෙ ගිහින් කරපු උත්සාහයේ ප්‍රතිඵල හැටියට, සමහර විට අවුරුදු ලක්ෂ කෝටි ගණන් අපාවල දුක් විඳින්න පුළුවන්. ඒකත් එක්ක බැලුවම මනුස්ස ජීවිතයේ ගත කරපු කාලය සුවයි. නමුත් අපාගත වුන අවුරුදු කෝටි ගාන එක්ක බැලුවම ඒ මනුස්ස ජීවිතය ඇහි පිය ගහන නිමේෂයක් විතරයි.

ඉතින් මේ අප්‍රමාණ දුක් කඳ, සියලු ඥානයන් සහිත ලොව්තුරා බුදුන් වහන්සේට කිසිම අඩුවක් නැතුව පේනවා. ඒ නිසයි කිව්වෙ, ඔය කාම සැප පස්සෙ යන්න කරන උත්සාහය අපි අත හැරල ඉන්නෙ, අපිට ඒවා පස්සෙ දුවන්න ඕන නෑ, ඒ නිසා අර අනන්ත දුක අපිට නෑ, අපි ඒ කාම සැප විඳින්න උත්සාහ කරන මිනිස්සු අතරේ ඒ සඳහා උත්සාහ නොකර සුව සේ ඉන්නවා කියල. අන්න ඒකයි උන්වහන්සේ මේ ගාථාවලින් පෙන්නුවෙ.

කොටින්ම, වටිනාකමක් නැති දේවල් පසු පස වටිනවා වටිනවා කියල හඹා යන ලෝක සත්වයා, අනේක දුක් මැද යන මේ සසර ගමන නිමා කරන හැටි තමයි ඒ ගාථා තුනෙන් පෙන්නුවෙ.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සමග ධම්ම පද පාලිය - සුඛ වග්ගය ඇසුරින් සකස් කළේ :*

**ෆික්රි ඉස්මයිල්**
**පරිගණක ඉංජිනේරු - ගොතටුව**

# සාසනික පැවිද්ද...1

ලෝකවාසී සත්වයා වෙත පතල මහා කරුණාවෙන් මේ ජාති, ජරා, මරණ ආදී සංසාරික දුකට වැටෙමින්, ඒ වගේම සතර අපායවල ඉපදෙමින් මෙතෙක් පැමිණි මේ අනේක දුක් සහිත සසර ගමනින් නිදහස් වෙලා උතුම් නිවන් සාක්ෂාත් කර ගන්න කැමති කුල පුත්‍රයන්ට බුදු රජාණන් වහන්සේ විසින් මේ උතුම් සාසනික පැවිද්ද අනුදැන වදාළා. මේ සාසනයේ පැවිදි වෙන්න එන අයට වගේම, පැවිදි වෙච්ච නවකයින්ටත් තමන්ගෙ පැවිදි ජීවිතය පිළිබඳ දැන ගත යුතු බොහෝ දේවල් තියෙනවා. ඒ පිළිබඳ විග්‍රහයක් තමයි මේ ලිපි පෙළින් ඉදිරිපත් කරන්නෙ.

බෝසතාණන් වහන්සේ බුද්ධත්වයෙන් පසු ඇසළ පුන් පොහෝ දින බරණැස ඉසිපතනාරාමයේදී පස්වග මහණුන්ට දම්සක් පැවතුම් සූත්‍රය දේශනා කළා. ඒ දේශනාව අවසානයේ කොණ්ඩඤ්ඤ තවුසා, දහසක් නයින් ප්‍රතිමණ්ඩිත (දහස් ආකාර න්‍යායන්ගෙන් ලැබිය හැකි) සෝවාන් මාර්ග ඵලය අවබෝධ කළා. ඊට පස්සෙ බුදුන් වහන්සේගෙන් පැවිද්ද සහ උපසම්පදාව ඉල්ලුවම ඒහි භික්ඛු මහණ උපසම්පදාව ලබා දුන්නා. ගෞතම බුද්ධ සාසනයේ ප්‍රථම මහණ උපසම්පදාව විදිහට හැඳින්වෙන්නෙ ඒ අවස්ථාව.

ඒහි භික්ඛු මහණ උපසම්පදාව දෙන්න පුළුවන් ලොව්තුරා බුදු රජාණන් වහන්සේ නමකට පමණයි. ඒක සෘද්ධිමය මහණ උපසම්පදාවක්. ඒ කියන්නෙ සාසනයේ පැවිදි වෙලා නැති කෙනෙකුට, බුදුන් වහන්සේ ශ්‍රී හස්තය දිගු කරල මේ විදිහට ප්‍රකාශ කරනවා. ''ඒහි භික්ඛු, ස්වාක්ඛාතෝ ධම්මෝ චර බ්‍රහ්ම චරියං සම්මා දුක්ඛස්ස අන්ත කිරියායාති - මහණ මෙහි එන්න, ධර්මය ස්වාක්ඛාතය, මනාව දුක් නසනු පිණිස මාර්ග බ්‍රහ්ම චරියාව පූර්ණය කරන්න.'' - මහාවග්ග පාළිය - 104 පිටුව

මේ විදිහට දේශනා කරනවත් එක්කම, ගිහි වෙස් අතුරුදන් වෙලා කෙස් රැවුල් ඉවත් වෙලා පාත්‍ර සිවුරුධාරීව හැට වස් පිරුණු මහා ථෙර නමක් විදිහට තථාගතයන් වහන්සේ ඉදිරියේ පෙනී ඉන්නවා. මේ ආකාරයට තමයි කොණ්ඩඤ්ඤ තවුසා ඒහි භික්ඛු මහණ උපසම්පදාව තථාගතයන් වහන්සේගෙන් ලබා ගත්තෙ. පස්වග තවුසන්ගෙන් ඉතිරි හතර දෙනාත් මේ ක්‍රමයටම මහණ උපසම්පදාව ලබා ගත්තා. ඊට පස්සෙ යස කුළ පුත්‍රයා සහ යහළුවන් 54 දෙනාත් ධර්මය අහල බුදුන් වහන්සේගෙන් ඒහි භික්ඛු මහණ උපසම්පදාව ලැබුවා. මේ ආකාරයෙන් බුද්ධ සාසනයේ පළමුව රහතන් වහන්සේලා හැට නමක් බිහි වුණා. මේ හැට නම අමතල බුදුන් වහන්සේ මේ විදිහට අනුසාසනා කළා.



මහණෙනි, මම දිව්‍ය වූත්, මනුස්ස වූත් සියලු කෙලෙස්වලින් මිදුනෙමි. මහණෙනි, ඔබලාත් දිව්‍ය වූද, මනුස්ස වූද සියලු කෙලෙස්වලින් මිදුනාහුය. මහණෙනි, බොහෝ දෙනාට හිත පිණිස සැප පිණිස දෙව් මිනිසුන්ට අර්ථය පිණිස හිත සැප පිණිස චාරිකාවෙහි හැසිරෙන්න.

එතැන් පටන් ඒ රහතන් වහන්සේලා ජනපදවලට වඩිමින් ධර්ම දේශනා කළා. ධර්මය අහල පැහැදුන කුළ පුත්‍රයෝ නොයෙක් දිසාවලින් නොයෙක් ජනපදවලින් ඇවිත් පැවිදි වෙන්න අවශ්‍ය බව ප්‍රකාශ කළාම, බුදුන් වහන්සේ වෙතට රැගෙන ගිහින් පැවිද්ද සහ උපසම්පදාව ලබා දුන්නා. මේ විදිහට දුර බැහැර ඉඳල දින ගණනාවක් තිස්සේ පැමිණීම භික්ෂූන් වහන්සේලාට වගේම පැවිදි වෙන අයටත් ඉතා වෙහෙසකාරී දෙයක් වුණා. මේ කාරණය දැකපු තථාගතයන් වහන්සේ භික්ෂූන්ට මේ විදිහට වදාළා. ''මහණෙනි, ඔබලාම ඒ ඒ දිසාවල ඒ ඒ ජනපදවල කුළ පුත්‍රයන්ට පැවිද්ද සහ උපසම්පදාව ලබා දීමට අනුදැන වදාරමි.'' - මහා වග්ග පාළිය

පළමුව කෙස් රැවුල් බාල සිවුර ඒකාංශ කරල පෙරව ගෙන භික්ෂූන් වහන්සේලාට වැඳල උක්කුටිකයෙන් වාඩි වෙලා තිසරණ සමාදානයෙන් සාමණේර පැවිද්ද සිදු කරන්න ඕන. මුලින්ම සාමණේර පැවිද්ද තිසරණ සමාදානයෙන් සිද්ධ වුණා. ඊට පස්සෙ උපසම්පදාවත් තිසරණ සමාදානයෙන් සිද්ධ කරන්න තථාගතයන් වහන්සේ අනුදැන වදාළා.

බුදු රජාණන් වහන්සේ රාහුල කුමාරයගෙ පැවිද්දෙන් පසු කිඹුල්වත් පුරයෙන් සැවැත් නුවරට වැඩියම, සැරියුත් මහ රහතන් වහන්සේගේ කුළුපග දායක නිවසකින් පැවිදි වෙන්න දරුවෙක් දෙමව්පියන් විසින් පැවරුවා. ඒක ගැටළුවක් වුණා. මොකද සාමණේර දෙනමක් එක භික්ෂුවකට උවටැන් නොකළ යුතු බවට විනය නීතියක් මීට පෙර පනවල තිබ්බ්ච්ච නිසා. මේ කාරණය බුදුන් වහන්සේට සැළ කළාම, ව්‍යක්ත ප්‍රතිභල (විශේෂ හැකියාවෙන් සහ ගුණයෙන් යුත්) භික්ෂුවකට ඒ විදිහට දෙනමක් උපස්ථාන ආදිය කළාට වරදක් නෑ කියල අනුදැන වදාළා. ඒ වගේම සමහර තැන්වල යක්ෂ අමනුස්ස ආදී දෝස තියෙන නිසා, එහෙම තැනක එක්කෙනෙක් විතරක් තනි කරල යන්න හොඳ නැති අවස්ථා එනවා. ඒ නිසාත් දෙනමක් ඉදීම ප්‍රයෝජනවත්. මේ වන තුරුම සාමණේර තෙරුණ් වහන්සේලාට සීලයක් නියමිත වෙලා තිබුණෙ නෑ. ඒ නිසා සාමණේරවරුන්ට කොච්චර සික්ෂා පද තියෙද්ද, මොන සික්ෂාවල හික්මිය යුතුද කියල ප්‍රශ්නයක් ඇති වුණා. මේ බව තථාගතයන් වහන්සේට දැනුම් දුන්නම, ඒ නිමිති කර ගෙන සාමණේර භික්ෂූන්ට මේ විදිහට දස සික්ෂාවම හික්මීමට අනුදැන වදාළා. ඒ දස සික්ෂාව තමයි මේ - මහා වග්ග පාළිය.

1. පාණාතිපාතා වේරමණී 2. අදින්නාදානා වේරමණී 3. අබ්‍රහ්ම චරියා වේරමණී 4. මුසාවාදා වේරමණී 5. සුරාමේරය මජ්ජපමා දට්ඨානා වේරමණී 6. විකාල භෝජනා වේරමණී 7. නච්ච, ගීත, වාදිත, විසූක දස්සනා වේරමණී 8. මාලා ගන්ධ විලේපන ධාරණ ☞

මණ්ඩන විභූසනට්ඨානා වේරමණී 9. උච්චාසයන මහාසයනා වේරමණී 10. ජාත රූප රජත පටිග්ගහනා වේරමණී

(මෙතනදි ගහණය සහ පටිග්ගහණය කියන්නෙ කාරණා 2 ක්. ඒ කියන්නෙ මුදල් වගේ දේවල් අත්‍යවශ්‍ය දේකට පාවිච්චි කරනව හැර, ඒවායේ ඡන්දරාගයෙන් බැඳිල පාවිච්චි කිරීමෙන් වළකින්න ඕන.)

සාමණේර භික්ෂූන්ට වයස අවුරුදු 20 ක් සම්පූර්ණ වුනාම උපසම්පදාව ලබන්න පුළුවන්. ඒ වගේම සරණාගමන උපසම්පදාව ඇතුළු උපසම්පදා ක්‍රම 8 ක් විනයේ සඳහන් වෙනවා.

1. ඒහි භික්ඛු උපසම්පදාව
2. සරණාගමන උපසම්පදාව
3. ඕවාද පටිග්ගහන උපසම්පදාව
4. පඤ්හබ්‍යාකරණ උපසම්පදාව
5. ගරු ධම්ම පටිග්ගහන උපසම්පදාව
6. දූතේන උපසම්පදාව
7. අට්ඨවාචිකා උපසම්පදාව
8. ඤත්ති චතුත්‍ථ උපසම්පදාව

ඒහි භික්ඛු මහණ උපසම්පදාව සහ සරණාගමන උපසම්පදාව කියන්නෙ මොකක්ද කියල මීට පෙර පැහැදිලි කළා. ඊළඟට අවවාද පිළිගැනීමෙන් ලබන උපසම්පදාව තමයි ඕවාද පටිග්ගහන උපසම්පදාව කියන්නෙ. හත් අවුරුදු සෝපාක සාමණේරයන්ගෙන් ගැඹුරු ප්‍රශ්න 10 ක් අහල ඒවාට සාර්ථක හරවත් පිළිතුරු දීම නිසා ඒ හේතුවෙන් ලබපු උපසම්පදාව පඤ්හබ්‍යාකරණ උපසම්පදාව කියල හඳුන්වනවා. වයස 20 දි උපසම්පදාව සම්මත වෙලා තිබුණත් සෝපාක හිමි වගේ මහා ප්‍රාඥයින්ට හත් අවුරුදු වයසෙදිම උපසම්පදාව දීල තියෙනවා.

මහා ප්‍රජාපතී ගෝතමී දේවිය ධර්මතා 8 ක් පිළිගැනීමෙන් ලබපු උපසම්පදාව ගරු ධම්ම පටිග්ගහන උපසම්පදාව කියල හඳුන්වනවා. බුද්ධ අනුමැතියෙන් දූතයෙක් යැවීමෙන් කරන උපසම්පදාව දූත උපසම්පදාව කියල හඳුන්වනවා. යම් සාමණේර භික්ෂුවකට හෝ සාමණේරී භික්ෂුණියකට උපසම්පදාව ලබන්න එන්න බැරි තරම් අතරමැද කරදර බාධක සහිත නම්, බුදු අණින් දූතයෙක් යවල ඒ භික්ෂුවට හෝ භික්ෂුණියට දූත උපසම්පදාව ලබන්න පුළුවන්. බුද්ධ කාලයේ එක භික්ෂුණියකට මේ වගේ දූත උපසම්පදාවක් ලබා දීල තියෙන බව විනයේ සඳහන් වෙනවා.

අට වාරයක් අසමින් පිහිටුවන උපසම්පදාව අට්ඨ වාචික උපසම්පදාව වෙනවා. කර්ම වාක්‍යයකින් සංඝයා විසින් සම්මත කිරීමෙන් ඤත්ති චතුත්‍ථ උපසම්පදාව සිද්ධ වෙනවා. එතනදි උපසම්පදා භික්ෂූන් වහන්සේලා පස් නමක් හෝ ඊට වැඩි ගණනක් ඉදිරියේ, මේ භික්ෂුව උපසම්පදාවෙහි සම්මත කරනවා කියල තුන් වතාවක් කියල උපසම්පදාව ලබා දෙනවා. වර්තමානයේ භික්ෂු සමාජය තුළ සිද්ධ වෙන්නෙ මේ උපසම්පදා ක්‍රමය.

මේ සාසනයේ සියලු දෙනාටම පැවිදි වෙන්න පුළුවන්කමක් නෑ. ඒකට සුදුසුකම් තියෙන්න ඕන. මේ සාසනය සුළු සුළු ගැටුම් මැද වැඩෙද්දි නානා තරමේ අය සහ නොයෙක් විෂමචාරීන් සාසනයට ඇතුළු වෙච්ච බව පෙනී යනවා. සමහර අය ලාභ සත්කාරයන්ට ගිජු වෙච්ච නිසාත්, නානා විධ දණ්ඩනයන්ගෙන් මිදීම සඳහාත්, රාජ උදහසින් නිදහස් වෙන්නත් සඟ සසුනට ඇතුල් වුණා. ඒ නිසා පැවිද්දට වගේම උපසම්පදාවටත් සුදුසු නුසුදුසු පිරිස් වෙන් කරල දක්වන්න සිද්ධ වුණා. ඒ අනුව පැවිදි කළත් මහණකම නොපිහිටන සර්වාකාරයෙන් අභව්‍ය පුද්ගලයන් සහ පැවිදි කළොත් මහණකම පිහිටන නමුත් පැවිදි නොකළ යුතු පුද්ගලයන් වශයෙන් කොටස් 2 ක් ඉන්නවා. මේ දෙවන කාරණයෙන් කියන්නෙ, මහණකම පිහිටන නමුත් සාසනයේ පැවැත්ම උදෙසා බාහිර දුර්වලතා හා අඩුපාඩු නිසා මහණ නොකළ යුතුයි කියල.

<u>අභව්‍ය පුද්ගලයෝ</u>

1. පණ්ඩකෝ - ලිංග විකලත්වය ඇත්තා
2. ථෙය්‍ය සංවාසකෝ - ගුරුවරයෙක් නොමැතිව තනියම සිවුරු පොරවා ගත් තැනැත්තා හෙවත් හොරට සිවුරු දාගත් තැනැත්තා
3. තිත්ථිය පක්කන්තිකෝ - බුදු සසුනේ පැවිදිව පසුව තීර්ථක පැවිද්ද සහ ලබ්ධිය ගත් තැනැත්තා
4. තිරච්ඡානගතෝ - මනුස්ස ජාතියට අයත් නැති තැනැත්තා - බුදුන් වහන්සේ වැඩ ඉන්න කාලයෙත් නාග ලෝකයෙන් ආපු කෙනෙක් මනුස්ස වෙස් මවාගෙන පැවිදි වෙලා භික්ෂූන් වහන්සේලා අතර ඉඳල පසුව අනාවරණය වෙලා තියෙනවා. ඒ නිසා සිරිතක් වශයෙන් අදත් උපසම්පදා කරන කොට, නාගෝසි ? (ඔබ නාගයෙක්ද ?) කියල අහනවා. එතකොට නත්ථි භන්තේ, (නෑ ස්වාමීනි) කියල උත්තර දෙනවා.
5. මාතු ඝාතකෝ - මව මැරූ තැනැත්තා
6. පිතු ඝාතකෝ - පියා මැරූ තැනැත්තා
7. අරහන්ත ඝාතකෝ - අරිහතුන් වහන්සේ නමක් මැරූ තැනැත්තා
8. භික්ෂුණී දූෂකෝ - භික්ෂුණියක් දූෂණය කළ තැනැත්තා
9. සංඝ භේදකෝ - සමාන සංවාසක සංඝයා බිඳුවන්නා (සමගිව ඉන්න සංඝයා භේද කරල බිඳවන්න කටයුතු කරන අය)
10. ලෝහිතුප්පාදකෝ - බුදු සිරුරින් ලේ සෙලවූ තැනැත්තා
11. උභතෝබ්‍යඤ්ජනකෝ - ස්ත්‍රී පුරුෂ නිමිති ඇත්තා - උභතෝ ලිංගික හෙවත් ද්වි ලිංගික - අවශ්‍යතාවය තිබුණත් ඉෂ්ට කර ගන්න බැරි නිසා මේ අය රාග අධිකයි.

ඉහත පුද්ගලයන් පැවිද්දට වගේම උපසම්පදාවටත් නුසුදුසුයි. ඔවුන් පැවිදි උපසම්පදා නොකළ යුතු අය වෙනවා. පහත දැක්වෙන්නෙ පැවිදි කළොත් පිහිටන නමුත් පැවිදි නොකළ යුතු අය.

1. බාල වයස්කාර ළදරුවා (වයස අවුරුදු 15 ට අඩු)
2. අනනුඤ්ඤාතෝ මාතා පිතුහි - දෙමාපියන්ගෙන් අවසර නැති තැනැත්තා
3. පංචාබාධේහි ඵුට්ඨෝ - කුෂ්ට, සුව නොවන ගෙඩි, වණ, පිළිකා, ඇදුම යන රෝග ඇති අය
4. රාජභටෝ - රාජ්‍යාරක්ෂක භටයා (පොලිස් - හමුදා)
5. ධජබන්ධෝ චොරෝ - ප්‍රකට හොරා
6. කර භේදකෝ - බන්ධනාගාරයෙන් පැන ගිය තැනැත්තා
7. ලිඛිතකෝ - වරෙන්තුකාරයා
8. කසාහතෝ - කස පහරලත් තැනැත්තා
9. ලක්ඛණාහතෝ - වරදට විවිධ ලක්‍ෂණවලින් ඇඟ සලකුණු තැබූ සොරා
10. ඉණායිකෝ - ණය ඇති තැනැත්තා
11. දාසෝ - දාසයා (වහළා)
12. හත්‍ථච්ඡින්නෝ - අත් කැපූ හෝ අත් සිඳුණු තැනැත්තා
13. පාදච්ඡින්නෝ - පා සිඳුණු තැනැත්තා
14. හත්‍ථපාදච්ඡින්නෝ - අත් පා සිඳුණු තැනැත්තා
15. කණ්ණච්ඡින්නෝ - කන් සිඳුණු තැනැත්තා
16. නාසච්ඡින්නෝ - නාසය සිඳුණු තැනැත්තා
17. කණ්ණනාසච්ඡින්නෝ - කන්, නාස් සිඳුණු තැනැත්තා
18. අංගුලිච්ඡින්නෝ - ඇඟිලි සිඳුණු තැනැත්තා
19. අළච්ඡින්නෝ - මාපට ඇඟිලි සිඳුණු තැනැත්තා
20. කණ්ඩරච්ඡින්නෝ - මහ නහර කැපූ තැනැත්තා
21. ඵණහත්ථෝ - පෙණය වැනි අත් ඇත්තා
22. ඛුජ්ජෝ - කුදු තැනැත්තා
23. වාමනෝ - ඉතා මිටි තැනැත්තා

24. ගලගණ්ඩී - බෙල්ලේ වායු ගෙඩි ඇති රෝගියා
25. ලක්ඛණහතෝ - සොරකම් ආදියට ශරීරයේ කොටු මෙන් ලකුණු පුළුස්සා ඇති තැනැත්තා (හණ ගැසූ)
26. සීපදී - බරවා රෝගියා
27. පාප රෝගී - නිතර පවත්නා භගන්දරා, කාශ (ක්ෂය රෝගය) වැනි පාප විපාක රෝග ඇති තැනැත්තා
28. පරිස දූෂකෝ - පිරිස් මැද කැපී පෙනෙන විරූප තැනැත්තා
29. කාණෝ - එක ඇසක් ඇත්තා (කණා)
30. කුණී - වකුටු පා ඇඟිලි ඇත්තා
31. ඛඤ්ජෝ - කොර ගසන තැනැත්තා
32. පක්ඛාහතෝ - අත් පා සිරුරු අඩක් නැසුනු (පක්ෂඝාත) තැනැත්තා
33. ඡින්නිරියාපථෝ - මනාව යැම් ඊම් කළ නොහැක්කා (අංශභාග)
34. ජරා දුබ්බලෝ - දැඩි ජරාවෙන් දුබල තැනැත්තා
35. අන්ධෝ - අන්ධයා
36. මූගෝ - ගොළුවා
37. බධිරෝ - බිහිරා
38. අන්ධ මූගෝ - අඳ ගොළු තැනැත්තා
39. අන්ධ බධිරෝ - අඳ බිහිරි තැනැත්තා
40. අන්ධ, මූග, බධිරෝ - අඳ ගොළු බිහිරි තැනැත්තා

''යෝ පබ්බාජෙය්‍ය ආපත්ති දුක්කස්ස - '' මෙවැනි අය පැවිදි කරන ගුරුවරයාට දුෂ්කර කටයුතු සිදු වෙන අතර මේ අය පැවිදි නොකළ යුත්තෝය.

බුද්ධ කාලයේ අනෙක් ආගමිකයිනුත් (තීර්ථකාරාමවලින් පැමිණි) පැවිදි වෙන්න පටන් ගත්ත නිසා නොයෙක් ගැටළු ඇති වුණා. ඒ නිසා ඔවුන් නිමිති කර ගෙන විශේෂ සික්ෂා පනවල තියෙනවා. ඇතැම් අය අන්‍ය ආගමික ආයතනයක පැවිද්ද ලබල ඒක අත් හැරල සංඝ සාසනයට ඇවිත් ටික කාලයක් ඉඳල නැවතත් ගිහින් තියෙනවා. සමහරු උපාධ්‍යායන් සමග අමනාප වෙලා වෙනත් ආරාමයකට ගිහින් කලක් ඉඳල ඒකෙනුත් වෙනස් වෙලා නැවත ඇවිත් තියෙනවා. මේ නිසා කිසියම් විසඳීමක් අවශ්‍ය වුණා. ඒ නිසා ඔවුන් විසින් සිවු මසක් පිළිවෙත් සමාදන් වෙලා සිටිය යුතුයි කියල දැක්වුවා. ඒ හාර මාසය පිළිපැදිය යුතු ආකාරයත් මහා වග්ග පාළියේ පෙන්වා තියෙනවා. නමුත් ගිනි දෙවියන් පුදන ජටිලයන්ට ඉහත පරිවාස කාලය අදාල නෑ. ඒ ඔවුන් කර්මවාදීන් ක්‍රියාවාදීන් නිසා. මොකද ඒ අය අඩු ගානෙ කර්ම ඵල විස්වාස කරන නිසා ඒ තරම් ගැටළුවක් නෑ. ඒ වගේම ශාක්‍ය වංශික තීර්ථකයෙක් ආවම ඥාතීන්ට දෙන විශේෂ අනුග්‍රහයක් විදිහට පරිවාස කාලය නොදී උපසම්පදා කළ යුතුයි කියල වදාළා. මොකද ඒ අය සසරෙදි ආපු ක්‍රමයක් තියෙනවා. ඒ කියන්නෙ බෝධි සත්වයන් වහන්සේත් එක්ක සංසාරයේ එකට ආපු පිරිසක් නිසා උරුමයක් තියෙනවා. එහෙම නැතිව නිකම්ම ඒ අත්බැවේදි විතරක් තිබිච්ච ඥාතිත්වයක් නෙවෙයි. ඒ සසර සම්බන්ධය උඩ එහෙම අනුග්‍රහයක් දක්වල තියෙනවා.

මුල් අවදියේදි වයස අවුරුදු 15 ට අඩු තැනැත්තන් පැවිදි නොකළ යුතුයි කියල මහා වග්ග පාළියේ දක්වා තියෙනවා. ''න භික්ඛවේ ඌණ පණ්ණරස වස්සෝ දාරකෝ පබ්බජේතබ්බෝ, යෝ පබ්බාජෙය්‍ය ආපත්ති දුක්කටස්ස - මහණෙනි වයස අවුරුදු 15 ට අඩු පුද්ගලයන් සාසනයේ මහණ නොකළ යුතුය. යමෙක් මහණ කළොත් ගුරුවරයාට ආපත්ති සිදු වේ.'' - මහා වග්ග පාළිය 192 පිටුව



මේ විදිහට මේ විනය නීතිය පනවල තියෙද්දි, එක අවස්ථාවක ආනන්ද හාමුදුරුවන්ට අහිවාතක කියන රෝගයෙන් මියගිය පවුලක දෙමව්පියන් අහිමි වෙච්ච අසරණ දරුවන් දෙන්නෙක් හමු වුණා. මේ දරුවන් දෙන්නා වයස අවුරුදු 15 ට අඩු නිසා මේ කාරණය බුදුන් වහන්සේට දැන්වුවා. මුලින් පනවපු විනය නීතිය සංශෝධනය කරමින් ''අනුජානාමි භික්ඛවේ කාකුඩ්ඩේපකං -'' කියල වයස අවුරුදු 15 ට අඩු වුනත් මේ වගේ අවස්ථාවකදි දරුවන් පැවිදි කරන්න අනුදැන වදාළා - මහා වග්ග පාළිය

මේ ''කාකුඩ්ඩේපකං'' කියල සඳහන් කරල තියෙන්නෙ කවුඩෙක් (කපුටෙක්) එළව ගන්න පුළුවන් කියන අර්ථය. නමුත් ඒක විමසා බැලිය යුතු දෙයක්. මේ සඳහන් වෙන්නෙ නෙය්‍යාර්ථ හෙවත් සැඟවුණු අර්ථයක්. නමුත් ඒක නීතාර්ථයෙන් ගත්තොත් එන්නෙ මතු පිටින් තියෙන අදහස විතරයි. කපුටෙක් එළවන්න වයස අවුරුදු 2 - 3 දරුවෙකුට වුනත් කරන්න පුළුවන්. එතකොට ඒ වගේ ළදරුවෙක් වුනත් මහණ කරන්න පුළුවන් කියන අර්ථයක් නීතාර්ථයෙන් ගත්තොත් කියවෙනවා. ඒ නිසා පාත්‍රයක වහපු කපුටෙක් එළව ගන්න පුළුවන් නම්, පැවිදි කරන්න පුළුවන් කියන කාරණය ගැඹුරින් වටහා ගත යුතු දෙයක්.

මෙතනදි පාත්‍රය කියන්නෙ ආහාරයට තවත් නමක්. කවුඩා කියන්නෙ කෑදරකම. ආහාරයට තියෙන කෑදරකම සිතින් එළව ගන්න පුළුවන් නම් කවුඩෙක් එළවීම කියල හඳුන්වන්නෙ ඒ කාරණය. ඒ වගේ දරුවන් වයස අවුරුදු 15 ට අඩු වුනත් පැවිදි කරන්න පුළුවන්. එහෙම කරන්න පුළුවන් වෙන්නෙ, දෙමව්පියන් අහිමි වෙච්ච වගේ අවස්ථාවක මිසක් හැම අවස්ථාවකමත් නෙවෙයි.

නමුත් මේ නීතිය ආයුධයක් කර ගෙන දැනට බොහෝ කාලයක පටන් අවුරුදු 7 - 8 වගේ පොඩි දරුවනුත් පිරිවෙන් පවත්වා ගැනීම් වගේ සාසනානුලෝමික නොවන අවස්ථාවලදි පවා පැවිදි කරන බව පෙනී යනවා. හැබැයි ඒක විනයානුකූල නෑ. පොඩි දරුවන්ට හය හතරක් නොතේරෙන නිසා කිසියම් වේදනාවක් විඳීමට නොහැකි නිසාත්, දුෂ්කරතාවලට මුහුණ දීමට අපහසුතාවය වගේම පැවිද්දේ පරමාර්ථය වටහා ගැනීමට හැකියාව අඩු නිසාත් ඒ වගේ අය පැවිදි කිරීමෙන් වළකින්න ඕන. වර්තමානයේ පොඩි දරුවන් පැවිදි කරල, පැවිද්දට අදාල නැති පිරිවෙන් විශ්ව විද්‍යාල අධ්‍යාපනයක් ලබල සසුන් මගින් සම්පූර්ණයෙන්ම වගේ බැහැරව කටයුතු කරනවා. ඒ වගේම වැඩි පිරිසක් උසස් අධ්‍යාපනයෙන් පසු සිවුරු හැර යාමත් සිද්ධ වෙනවා. මේ කාරණය සංඝ සමාජයට ඒ තරම් හොඳ දෙයක් නෙවෙයි.

එතකොට මුලින් අවුරුදු 15 න් මහණ කරන්න අවසර දුන්නා. ඊට පස්සෙ ආනන්ද හාමුදුරුවන්ගෙ ඉල්ලීමක් අනුව අවුරුදු 15 ට අඩු අය මහණ කරන්න අවසර දීල තිබුණා. ඒ වගේම සමහර පොඩි ළමයි ඉන්නව බොහොම ඥානවන්තයි. අවුරුදු 15 ටත් අඩු ඒ වගේ අයට මොකද කරන්නෙ කියල ඇහුවම තමයි, අර පාත්‍රයේ වහපු කපුටෙක් පන්න ගන්න පුළුවන් කෙනා මහණ කරන්න කියල අවසර දුන්නෙ. ඒ කියන්නෙ කෑදරකම හිතින් පළවා හරින්න පුළුවන් නම් වයසින් අඩු වුනත් ගැටළුවක් නෑ. හැබැයි මේ කෑදරකම කිව්වම කන බොන ආහාරය විතරක් ☞

නෙවෙයි, පංචකාමයම අයිති වෙනවා. ඉතින් සමාජයේ එහෙම ඥානවන්ත ළමයි ඉන්න නිසාම තමයි ඒ වගේ අවස්ථාවක් දීල තියෙන්නෙ.

එතකොට ඒ මුලින් පනවපු විනය නීති පසුව බුදුන් වහන්සේ වැඩ ඉඳෙද්දිම උන් වහන්සේ විසින්ම අවශ්‍යතාවය අනුව වෙනස් කරල තියෙනවා. එහෙම නැතිව වෙන කෙනෙකුට ඒවා වෙනස් කරන්න අයිතියක් නෑ. ඒ නිසා ඒ වෙනස් කරපු ඒවත් මොනවද කියල බලන්න ඕන. උදාහරණ විදිහට ඒ කාලෙ රාහුල හාමුදුරුවො මහණ කළාම දෙමව්පියන්ගෙ අවසරය ගන්න ඕන කියල ඉල්ලීමක් කළාම ඒ කාරණයට ඉඩ දුන්නා. එතකොට ඒ නීතිය අදටත් වලංගුයි. දෙමව්පියන් ඉන්නව නම් ඒ අයගෙන් අවසර ගන්න ඕන. එහෙම නැතුව මහණ කළොත් ඒ මහණ කරපු ගුරු හාමුදුරුවන්ට ඇවැත් සිද්ධ වෙනවා.

ඒ වගේම අධික මහළු වයසට ගිය අයත් බුද්ධ කාලයේ වගේම අදත් බුද්ධ සාසනයට ඇතුළු වෙනවා. බුද්ධ කාලයේදී පවා සාසනයේ බොහෝ අර්බුද ඇති වෙලා තියෙන්නෙ මහළු වයසේ පැවිදි වෙච්ච අය නිසා. ථුල්ලතිස්ස, සුභද්ද වගේ භික්ෂූන්ගෙ කතාවලින් ඒ බව මනා ලෙස ඔප්පු වෙනවා. වයසට ගිහින් ජරා ජීර්ණ වුනාම අතපයේ වාරුව නැති නිසා ධර්මයේ හැසිරීමත් ඒ තරම් පහසු නෑ. ඒ කාරණය පහත දේශනයෙන් ඔප්පු වෙනවා.

ජරා පජ්ජරිතා හොන්ති
හත්‍ථපාදා අනස්සවා
යස්ස සෝ විහතත්තාමෝ
කථං ධම්මං චරිස්සති

ජරා ජීර්ණ වී වයසට ගිය විට අත පය වාරු නැත. ශරීර ශක්තියද හීන වී ඇත. එවැනි අය කෙසේ නම් ධර්මයේ හැසිරෙන්නද? මේ තමයි ගාථාවෙ කෙටි අදහස.

ඊළඟට ණය ඇත්තා මහණ නොකළ යුතුයි කියල විනය නීතියක් පනවල තියෙන්නෙ, රජයට හෝ පුද්ගලයෙකුට ණය වෙලා තිබුනොත් ඒ ණයෙන් නිදහස් වෙන්න බලාගෙන කපටිකමට මහණ වෙච්ච අයත් ඒ කාලෙ හිටපු නිසා. ඒ වගේම දාසයා / වහළා කියල ඒ කාලෙ අනුන්ට වහල්කම් කරපු අය හිටියා. හැබැයි මේ කියන්නෙ අද වගේ කුලියට වැඩ කරන සේවකයො ගැන නෙවෙයි. වහල් සේවයට ගත්තු අයට කන්න බොන්න දුන්නෙ නෑ, වැටුප් ගෙව්වෙ නෑ. ඒ නිසා අද ඉන්න සේවකයො, කම්කරුවො ඒ කාරණයට අදාල වෙන්නෙ නෑ. දැසි දස් කම්කරුවො කියල කතාවට කිව්වත් ඒ කාරණය ඒ විදිහට තෝර ගන්න ඕන. එතකොට අර කියන වහල් සේවය කර්ම විපාකයක්. ඒ වගේ අය එදා සමාජයෙන් කොන් කරල හිටියෙ. එහෙම අය සාසනයට ඇතුල් වුනාම මිනිස්සු අපවාද කරන්න ගන්නවා, සාසනයේ ඉන්නෙ මේ වගේ අයද කියල. ඒ නිසයි ඒ වගේ අය මහණ කරන්න එපා කියල විනය නීතියක් පැනෙව්වෙ.

ඊළඟට කන්, නාස්, අත් පා, බල නහර ආදිය සිඳපු තැනැත්තන් කියන්නෙ ඒ කාලෙ වැරදි කරල දඬුවම් ලබපු අය. ඊට පස්සෙ ඒ අයට සමාජයේ තැනක් දුන්නෙ නෑ. ඒ නිසා ඒ වගේ අය සාසනයේ පැවිදි වෙලා කාලය ගත කරන්න පටන් ගත්තා. එතකොට සාසනයේ ඉන්නෙ මේ වගේ කපටි වංචාකාරයොද කියල මිනිස්සු දොස් කියන්න, නිග්‍රහ කරන්න පටන් ගත්ත නිසා තමයි ඒ අය මහණ කරන්න එපා කියල විනය නීතියක් පැනෙව්වෙ. එහෙම නැතිව හදිසි අනතුරකින් කන්, නාස් ආදිය කැඩිච්ච අය නෙවෙයි ඒකට මුල් වුණේ. යම් කිසි විදිහකින් දඬුවම් වශයෙන් ඒ තත්ත්වයට ලක් වෙච්ච අය ගැනයි මේ කියන්නෙ. ඒ කාලෙ ඒ වගේ අයගෙ ඒ ඉන්ද්‍රියන් වට කරල මුලින්ම කපල දාන නිසා, හදිසි අනතුරකින් හානිවෙච්ච ඉන්ද්‍රියන් තියෙන අය සහ දඬුවමට ලක් කරපු අය හොයා ගන්න පුළුවන්. නමුත් හදිසි අනතුරකින් වුනත් ඒ වගේ තත්ත්වයට පත් වෙච්ච අය මහණ කළොත්, මේ වගේ ආබාධිතයොද සාසනයේ ඉන්නෙ කියල අද වුනත් මිනිස්සු අපවාද කරන්න පුළුවන් නිසා, ඒ හේතුවෙන් සාසනය කෙරෙහි චිත්ත ප්‍රසාදය අඩු වෙන්න පුළුවන් නිසා, ඒ කාරණයත් අවස්ථානුකූලව සැලකිල්ලට ගැනීම වැදගත්.

ඊට පස්සෙ සමහර රෝගවලින් පෙළෙන අයත් මහණ කරන්න එපා කිව්වා. මොකද ඒ කාලෙ හිටපු ජීවක වෙද මහත්තය, වෙදකම් කළේ බුදුන් වහන්සේ ඇතුළු සාසනයේ සංඝයා වහන්සේලාටයි, රජයේ වෙදකමයි විතරයි. ඉතින් එතකොට හාමුදුරුවන්ටත් නොමිලේ වෙදකම් කරන නිසා ඒ රෝග පීඩාවන්ගෙන් පෙළිච්ච වෙනත් උදවියත් මුදල් වියදම් නොකර වෙදකම් ගන්න බලාගෙන මහණ වෙන්න ගත්තා. ඊට අමතරව සමහර විකෘති කර්ම විපාකජ රෝගවලින් පෙළෙන අය මහණ කළාම බාහිර සමාජයෙන් එන අපවාද නිසා, සාසනයේ පැවැත්මට හානිකර නිසා ඒ අයත් මහණ කරන්න සුදුසු නැති අය විදිහට වෙන් කරල දැක්වුවා. ඒ වගේම එක අතකින් ඒ වගේ දරුණු රෝග පීඩාවන්ගෙන් පෙළෙන අය මහණ කළාම අනිත් භික්ෂූන් වහන්සේලාටත් ආර්ය මාර්ගය පූර්ණ කර ගන්න කරදර බාධකයි. මොකද ඒ අය ගැන බලන්නත්, ඒ අයට ඇප උපස්ථාන කරන්නත් අනිත් භික්ෂූන් වහන්සේලාට සිද්ධ වෙනවා.

ඊළඟට පොලිස්, හමුදා සේවයේ යෙදිච්ච අයට ඒ නීතිය පැනෙව්වෙ, හදිසියේ යුද්ධයක් වගේ දෙයක් ආවොත් ඒකෙන් බේරෙන්න මහණ වෙච්ච අය හිටපු නිසා. ඒ කාලෙ එහෙම සිද්ධි ඇති වෙච්ච නිසා තමයි එහෙම නීතියක් පනවන්න සිද්ධ වුණේ. ඒ නිසා ඒ වගේ කාරණාවක් අද කාලයට ගලපන කොට බොහොම ප්‍රවේසමෙන් අවස්ථානුකූලව බලන්න ඕන. ඒ කියන්නෙ හමුදාවෙන් පොලීසියෙන් ඉවත් වුනේ මොන හේතුවකට ද කියල බලන්න ඕන. ඒ වගේම කස පහර කාපු කෙනාත්, ශරීරයේ විවිධ ලකුණු තියපු අයත්, ඇඟිලි කපපු අයත් මහණ කරන්න එපා කියල කිව්වෙ ඒ වගේ අය යම් කිසි වරදකට ලක් වෙලා දඬුවම් ලබාදීපු අය නිසා.

ඊළඟට පෙණ වගේ අත් තියෙන අය කියන්නෙ ඇඟිලි අතර එකිනෙකට දලක් වගේ හමෙන් යාවෙලා තියෙන අය. හරියට නයා පෙණේ කරන කොට වගේ අත් පිහිටන්නෙත් පෙණයක් විදිහට. ඒ වගේම අධික ලෙස කුදු, මිටි අයත් මහණ වුනාම ඒ විරූපී බව නිසා මිනිස්සු දොස් කියනවා, අපවාද කරනවා, ඔච්චම් කරනවා. ඒක සාසනයටත් මිනිස්සුන්ටත් හොඳ නෑ. ඒ නිසයි ඒ වගේ අය මහණ නොකළ යුතුයි කියල විනය නීතියක් පැනෙව්වෙ. ඒ කියන්නෙ **මේ සාසනයේ පැවැත්මටයි, මිනිස්සුන්ගෙ චිත්ත ප්‍රසාදයටයි මෙහෙම නීති පනවල තියෙනව මිසක් ඒ වගේ අයට මගඵල ලබන්න, නිවන් දකින්න ඒ කාරණා බාධාවක් නෑ. ඒ වැඩේ ගිහිව ඉඳගෙනත් කරගන්න පුළුවන්.** නමුත් පැවිදි කෙනෙක් නිතරම මිනිස්සුන්ගෙ චිත්ත ප්‍රසාදයයි, සාසනයේ පැවැත්මයි කියන කාරණා ගැනත් සැලකිලිමත් වෙන්න ඕන. ඉතින් ඒ වගේ බාහිර හේතු නිසා තමයි මේ වගේ විනය නීති හුඟක් පනවන්න සිද්ධ වුණේ. ඒ නිසා ඒවා අර්ථ නිරූපනය කරන කොට, ඇයි මේ වගේ දෙයක් පැනෙව්වෙ කියන කාරණය පරමාර්ථ අර්ථයෙන් බලල තේරුම් ගන්නව මිසක්, මතු පිටින් පේන වචනවලින්ම අදහස ගන්න ගියොත් වරදින්න පුළුවන්.

**කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**
**නිග්‍රෝධාරාම සේනාසනය, පොල්පිටිය,**
**මැටිකුඹුර, පොල්ගහවෙල**

**අභයරතනාලංකාරය - 49**

# බුද්ධාන්තර 10 කට පෙර පහළ වූ සිද්ධාර්ථ බුදුන් කල හට ගත් පැතුම....



**- වහරක අභයරතනාලංකාර හිමි**

*(පසුගිය කලාපයෙන් - පෙර අත් බැවක සිවුරු හැර වෙසඟනක් සමග ගිය විපාකය......)*

වහරක අභයරතනාලංකාර හිමියන්ගේ පෙර අත්බැව් සම්බන්ධ වූ කතා අතර සතර අපාගත අවස්ථා වගේම, කරන ලද සමහර අකුසල් නිසා මේ අත්බවයෙත් දුක් විපාක විඳින්න සිද්ධ වෙච්ච අවස්ථා කිහිපයක් ගැනත් මීට පෙර හෙළිදරව් කළා. දැන් කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්, ඔය වගේ සතර අපාගත වෙලා, අකුසල්වල විපාක මේ අත්බවයෙත් විඳල, මේ වගේ ගැඹුරු වටිනා දහමක් මතු කරන්න ශක්තියක් ලැබුනෙ කොහොමද කියල. ඒ කාරණය මෙච්චර කලක් හෙළිදරව් නොකළේ පියවරෙන් පියවර ඒ තැනට එන්න ඕන නිසා. එතනදි මේ සසරෙ තියෙන භයානකත්වය පෙන්වීම තමයි මූලික වෙන්නෙ.

එතකොට මෙහෙම දහමක් මතු කරන උතුමන්ටත්, පෙර අත් බැව්වල මේ වගේ සතර අපාගත වෙන්න සිදුවීමත්, විශේෂයෙන් පශ්චිම අත්බවයේ විපාක විඳින්න සිදුවීමත් මේ භයානක සසරේ තියෙන ස්වභාවයක්. ඒක ලොව්තුරා බුදුන් වහන්සේටත්, අසූ මහා ශ්‍රාවකයන්ටත් එහෙමයි. ඒ වගේ අවස්ථා දහම් කතාවලත් කොතෙකුත් සඳහන් වෙනවා. ඒ ගැන මීට කලිනුත් විස්තර කරල තියෙනවා. හැබැයි ඒ හැම උත්තමයෙක්ම අනන්ත වූ සසර ගමනේ එන කොට විශේෂ ප්‍රාර්ථනාවක් පෙරදැරි කර ගෙන එන්නෙ. නමුත් ඒ ප්‍රාර්ථනාව මල් ඵල ගැන්වෙන කාලය ලොව්තුරා බුදුන් වහන්සේ නමකට හැර වෙනත් කෙනෙකුට එල්ල කරල කියන්න පුළුවන්කමක් නෑ. ඒ මල් ඵල ගැන්වීම සිද්ධ වෙන පශ්චිම අත්බැවේ තමයි ඒ කාරණය තමන්ට වුනත් දකින්න පුළුවන් වෙන්නෙ. එතෙක් මේ භයානක සසරේ දුගති සුගතිවල නොයෙක් අත්බැව් ලබමින්, පාප දුශ්චරිත වගේම ඒ යහපත් පැතුම ඉෂ්ට සිද්ධ වෙන්න හේතු වන විදිහෙ පාරමිතා පුරමින් සසර ගමන යනවා. එහෙම ගිහින් අදාල කාලය ආවම, ඊට අදාල පාරමිතා ශක්තිය පූර්ණ වුනාම තමයි ඒ ප්‍රාර්ථනාව මල් ඵල ගැන්වෙන්නෙ. අතීතයේ පහළ වූ මහා ශ්‍රාවක ශ්‍රාවිකාවන්ගේත් සසර ගමන කෙළවර වුනේ ඒ වගේ අවස්ථා පසු කිරීමෙන් අනතුරුව. මේ කාරණය මතු පහළ වෙන අයටත් එහෙමයි.

එතකොට මුලින්ම විසි අසංඛ්‍ය කල්ප ලක්ෂයක් මනෝ ප්‍රණිධාන, වාග් ප්‍රණිධාන වශයෙන් පෙරුම් පුරල තමයි ලොව්තුරා බුදු වෙන්න නියත විවරණ ගන්නෙ. මවුපිය ආශිර්වාදයෙන් තමයි ඒක පටන් ගන්නෙ. මාතුපෝසක ජාතකයෙන් කියන්නෙත් ඒ වගේ දෙයක්. නියත විවරණ ගත්තට පස්සෙ ප්‍රඥා අධික බෝසතාණන් වහන්සේ නමක් නම් බුදු වෙන්න එතැන් පටන් සාරාසංඛ්‍ය කල්ප ලක්ෂයක් පෙරුම් පුරන්න ඕන. ඊට මෙහා ඉන්න ශ්‍රාවක පාරමිතා පුරන අයට ඒ ඒ තත්ත්වයන්ට පත්වෙන්න විවිධ කාල සීමාවන් තියෙනවා.

ඉතින් මේ අනන්ත සසරේ එන කොට විවිධ අයගේ විවිධ යහපත්, අයහපත් ප්‍රාර්ථනාවන් තියෙනවා. කෙනෙක් තව කෙනෙක්ගෙන් පළිගන්න ප්‍රාර්ථනා කර ගෙන සසර ගමන යන්න පුළුවන්. සේරිවාණිජ ජාතකයෙන් කියවෙන්නෙ එදා කච්ඡපුට විදියට හිටපු දෙව්දත් ථෙර, සේරිවාණිජ විදියට හිටපු සිදුහත් මහ බෝසතාණන් වහන්සේගෙන් පළිගන්න වැලි අහුරක් පොළොවට ගහල, වැලි කැටයක් කැටයක් ගානෙ පළි ගන්නවයි කියමින් සාප කරමින් ආපු ගමනක්. ඒ ප්‍රාර්ථනාව අවසන් වුනේ දෙව්දත් ථෙර බුදුන්ගේ ශරීරයේ ලේ සොලවල, සංඝ භේදයත් සිද්ධ කරල අවීචි මහා නරකාදියේ උප්පත්තිය ලැබීමෙන්. හැබැයි දෙව්දත් ථෙරත් ඒ විපාකය විඳල ඇවිත් කවද හරි අට්ටිස්සර නමින් පසේ බුදු කෙනෙක් වෙලා සසර ගමන කෙළවර කරනව කියලත් ගෞතම බුදුන් වහන්සේ බුදු ඇසින් දකල ප්‍රකාශ කරල තියෙනවා. මේ භයානක සසර ගමනේ අපිට හිතාගන්නත් බැරි ඒ වගේ අවස්ථා තියෙනවා.

ඒ වගේම යහපත් ප්‍රාර්ථනාවක් ගත්තොත්, කෙනෙක් සක්විති රජකම බලාපොරොත්තුවෙන් පැතුම් පතාගෙන ඒ සඳහා පෙරුම් පුරන්න පුළුවන්. තවත් කෙනෙක් ඊට මෙහා තියෙන ලෞකිකත්වය තුළ යම් කිසි රටක රජ වෙන්න, සිටු වෙන්න... ආදී වශයෙන් විවිධ ප්‍රාර්ථනාවන් පෙරදැරි කර ගෙන පෙරුම් පුරන්න පුළුවන්. නමුත් ඒ සියලු ප්‍රාර්ථනාවන් අභිබවා යන තුන් ලෝකයෙන්ම අතිශය දුෂ්කර වූත්, උත්තම වූත් ලොව්තුරා බුද්ධත්වය ප්‍රාර්ථනා කර ගෙන පාරමිතා පුරන අයත් ලෝ සතුන් අතර ඉන්නවා. ඒ වගේම ඒ ලොව්තුරා බුදුවරුන්ගේ බුද්ධ සාසනවල අගසවු, අසූ මහා ශ්‍රාවකයින් වෙන්න ප්‍රාර්ථනා කර ගෙන පෙරුම් පුරන අයත් ඉන්නවා. ඊළඟට ලොව්තුරා බුදුන් වහන්සේ නමකගෙ සාසනයක් අතර මග පිරිහිලා යන කාල වකවානුවක නැවත නගා සිටුවන්න පැතුමක් පෙරදැරි කර ගෙන ශ්‍රාවක පාරමිතා පුරන අයත් ඉන්නවා. අපිට වර්තමානයේ අහන්න ලැබෙන මොග්ගලීපුත්තතිස්ස මහරහතන් වහන්සේත්, මලියදේව මහරහතන් වහන්සේත් ගෞතම බුදු සසුන පිරිහිලා යන කාලවල නැවත නගා සිටුවන්න ඒ වගේ ප්‍රාර්ථනාවන් පිට ආපු උත්තමයන් දෙන්නෙක්. ඉතින් ඒ විදිහට ශ්‍රාවක පාරමිතා පුරන අය තවත් ඉන්න පුළුවන්. ඒ වගේ කෙනෙක් පහළ වෙලා යම් කිසි දහම් ප්‍රාතිහාර්යක් පාන කල් ඒ කාරණය අපිට කියන්න පුළුවන්කමක් නෑ. එතකොට මේ කතා වස්තුවට මුල් වෙන්නෙත් යහපත් ප්‍රාර්ථනාවක් ගැන.

ඉතින් මේ වෙන කොටත් යම් යම් අර්ථ විපරීතයන්ට ලක් වෙලා, විශේෂයෙන් නිවන් දකින දහම යටපත් වෙලා තියෙන අවධියක, ඒ දහම නැවත මතු කරන ☞

වහරක අභයරතනාලංකාර හිමියන්ටත් මේ වගේ අනන්ත වූ සසර ගමන තුළ එක්තරා අවධියකදි විශේෂ ප්‍රාර්ථනාවක් පහළ වෙලා තියෙනවා. හැබැයි ඒ කාරණය උන්වහන්සේට පෞද්ගලිකව සමාධියට ගෝචර වෙච්ච අත්දැකීමක් මිසක් දැන් පවතින පොතක පතක සඳහන් වෙන දෙයක්වත්, දැන් ඉන්න වෙනත් කවුරුවත් විසින් ප්‍රකාශ කරපු දෙයක්වත් නෙවෙයි. ඒ නිසා කෙනෙකුට විවේචනය කරන්න පුළුවන් මේ කියන්නෙ නිකං මතයක් කියල. නමුත් මොන විවේචන තිබුණත් ඒ කාරණය පිළිබඳ උන් වහන්සේ විවිධ අවස්ථාවල අත්දැකීම් ලබල තියෙනව වගේම, මේ මතු කරන දහම් කඳින් ඒ කාරණය තේරුම් ගන්න පුළුවන්. ඉතින් මේ මහා දහම් ප්‍රාතිහාර්යට පාදක වෙච්ච ඒ මූල ප්‍රාර්ථනාව උන්වහන්සේ මේ විදිහට හෙළිදරව් කළා.

අදින් බුද්ධාන්තර 10 කට පෙර ලෝකයේ පහළ වෙලා වැඩ සිටිය බුදු පියාණන් වහන්සේ තමයි සිද්ධාර්ථ බුදුන් වහන්සේ. ඒ කියන්නෙ මේ මහා භද්‍ර කල්පයටත් පෙර මහා කල්ප ගණනාවකට එහා කාල වකවානුවක. හරියට දැන් මේ ගෞතම බුදුන් වහන්සේගේ පටන් ආපස්සට ගැන ගෙන යන කොට උන්වහන්සේ නියත විවරණ ගත්ත බුදු පියාණන් වහන්සේලා අතරින් 10 වන බුදුන් වහන්සේ තමයි සිද්ධාර්ථ බුදුන් කියන්නෙ. දැන් ඉන්න අටවිසි බුදු පියාණන් වහන්සේලා ගැන පොත්පත්වල සඳහන් වෙන ආකාරයට ඒ කාල සීමාව බලන කොටත්, ගෞතම බුදුන් වහන්සේගේ පටන් ආපස්සට 10 වන බුදුන් වහන්සේ තමයි සිද්ධාර්ථ බුදුන් වහන්සේ. ඉතින් මට සමාධියට ආපු කාරණයත් ඒ පොත් පත්වල සඳහන් කාරණයත් එක්ක ගැළපෙන බව පසු කාලෙක දැන ගත්තා. ඒක ඉතින් අවුරුදුවලින් නම් කියන්න බැරි මහා දීර්ඝ කාලයක්. ලෝක විනාසයන් ගණනාවකටම ගොදුරු වෙලා, ලෝකාන්තරික නරකයේ ඉන්න සත්තු හැර අනෙක් සියලු සතුන් ආභස්සර බඹ ලොව ඉපදිලා, නැවතත් පල්ලම් බැහැල, මේ විදිහට ලෝකය කිහිප වරක්ම විනාස වෙලා බිහි වෙන කල් දිවෙන මහා දීර්ඝ කාලයක්.

ඉතින් ඔය කියන සිද්ධාර්ථ බුදුන් වහන්සේගෙ කාලයේ මම එක්තරා මහ සිටුවරයෙක්. එදා උන්වහන්සේ ඇතුළු මහ රහතන් වහන්සේලා ලෝක සත්වයාට කරන ඒ මහා සේවාව දැකල මටත් අදහසක් පහළ වුණා, මේ සාසනයට සේවයක් කරන්න ඇත්නම් කියල. ඉතින් එක පාරටම ආවෙ ලොව්තුරා බුදු වෙන අදහස. මොකද උන්වහන්සේ ලෝක සත්ත්වයාට කරන්න තියෙන උපරිම සේවය කරනව දැක්කම ඒකට හිත ගිහින් එහෙම අදහසක් ආවා.

ඉතින් මේ විදිහට එහෙම අදහසක් මුලින් ආවත්, කල්පනා කරන කොට ඒකෙ තියෙන මහා දුෂ්කර බව වැටහිලා, ලොව්තුරා බුදු වීම එසේ මෙසේ ලේසි වැඩක් නෙවෙයි කියල හිතට ආවා. ඒ නිසා ඒ අදහස අත හැරල ඊළඟට අදහසක් ආවා රහත් වෙන්න ඇත්නම් කියල. ඒත් නැවතත් හිතුණා, දැන් ලොව්තුරා බුදුන් වහන්සේ සමග අසූ මහා ශ්‍රාවකයන් වහන්සේලා ඇතුළු මහ රහතන් වහන්සේලා දහස් ගණනක් වැඩ ඉන්න නිසා, දැන් රහත් වුනොත් මට කරන්න තරම් සේවයක් නෑ නෙ කියල. ඔහොම ඉතින් කල්පනා කර කර ඉන්න කොට ඊළඟට අදහසක් ආවා, ලොව්තුරා බුදුන් වහන්සේ නමක් පිරිනිවන් පාල කාලයක් යද්දි ඒ සාසනය යටපත් වෙලා යන කාල වකවානුවක සාසනයට සේවයක් කරන්න ඇත්නම් ඒක කොච්චර වටිනවද කියල. මොකද ඒ වගේ කාලයක ඇත්තටම ඒක ලෝ සතුන්ට විසාල සහනයක්.



ඉතින් මම ඔය අදහස හිතේ තියාගෙන කාටවත් නොකිය සිද්ධාර්ථ බුදු පියාණන් වහන්සේ ඇතුළු මහ රහතන් වහන්සේලා වෙනුවෙන් දින 7 ක මහා විසාල කිරිපිඩු දානයක් පූජා කරන්න හිතා ගත්තා. හැබැයි තනියෙන්ම නෙවෙයි, ඒකට අනිත් උදවියත් හවුල් කර ගෙන ඒ අයටත් අත හිත දෙන්න අවස්ථාවක් උදා කරල දෙන්න ඕන කියල, එදා අහල පහළ ගම් දනව්වල පින්වත් පිරිසත් ඒකට එකතු කර ගත්තා. එදා මමත් එක්ක ඒ දානයට අත ගහපු පින්වත් පිරිස් සමහරක් මේ සා විසාල කාලයක් සසරෙ ඇවිත් අදත් මේ සාසන කටයුතුවලට සම්බන්ධ වෙලා ඉන්න පුළුවන්.

එතකොට ඒ දානයත් විශේෂයි. එදා මම උන්වහන්සේව දැක්කෙ සුදු නෙළුමක් වගේ. උන්වහන්සේ හඬ නගන කොට නෙළුම් මලක පෙති වගෙයි තොල් පෙති උස් පහත් වෙන්නෙ. ඒ වෙලාවෙදි මුඛ පරිමණ්ඩලය හරියටම නෙළුමක් වගේමයි පේන්නෙ. ඒ නිසා ඒ කිරිපිඩු දානය සුදු නෙළුම් මලක් වගේ සරසල සුදු නෙළුම් මල් සුවඳ ඔබ්බවල සකස් කරන්න කටයුතු කළා. ඒ කියන්නෙ සුදු නෙළුම් මලේ හැඩයට අච්චුවක් හදල ඒ සුදු නෙළුම් මලේ හැඩයට කිරිබත් කැලි ලක්ෂයක් හැදුවා. ඒකට විශේෂයෙන් සුදු නෙළුම් මල් සුවඳ කැව්වා. මොකද ඒ කාලෙ ඒ සුවඳ වර්ගත් තිබුණා. ඉතින් මහා සේනාවක් පිරිවරා ගෙන දාන සාලා ආදිය හදල එක දිගට දින 7 ක් මේ විදිහට මහා කිරිපිඩු දානය ලොව්තුරා බුදු පියාණන් වහන්සේ ඇතුළු මහ රහතන් වහන්සේලාට පූජා කළා.

ඔහොම ගිහින් හත් වෙනි දවස අවසානයෙදි මගේ හිතේ තිබ්බච පැතුම බුදු පියාණන් වහන්සේට කියන්න ඕන කියල හිතුණා. ඒ කියන්නෙ මතු බුදු සසුනක් පිරිහිලා ගිය කාලයක, මේ සුදු නෙළුම් මල් සුවඳින් මේ කිරිබත සුවඳවත් වුනා වගේ, ඒ සුදු පාටින් පෙන්වන පාරිශුද්ධත්වය වගේ, නැවතත් ඒ සාසනයේ කඩ කිළුටු හැරල නගා සිටුවන්න අවස්ථාවක් ලැබේවා කියල. හැබැයි මේ ගෞතම නමින් බුදු වෙන බුදුන් වහන්සේගෙ සාසනයේ කියල එහෙම අදහසක් දැන ගෙන හිටිය නෙවෙයි. මොකද එහෙම දකින්න හැකියාවක් නෑ. කවද හරි මතු බුද්ධ සාසනයක් පිරිහිලා ගිය කාලයක කියල තමයි අදහස ආවෙ. ඉතින් මම උන්වහන්සේගෙ නෙළුම් මල් බඳු සිරිපා මුල වැතිරිලා වඳිනකොට, උන්වහන්සේම දරුව කියල ආමන්ත්‍රණය කරල, ඔබේ ඔය ප්‍රාර්ථනාව ඉෂ්ට සිද්ධ වෙන කාලයක් මතු උදා වෙයි කියල ආශිර්වාද කළා. ඒ සඳහා වීර්ය බල ගන්න සිතිවිලි වැඩෙයි කියලත් උන්වහන්සේ එදා මහා ආශිර්වාදයක් කළා. උන්වහන්සේ තුන් කල් දකින නුවණින් මගේ හිතේ තිබ්බච අදහස දැකලයි ඒ විදියට ආශිර්වාද කළේ.

හැබැයි ඒ ප්‍රාර්ථනාව ඉෂ්ට සිද්ධ වෙන්න බුද්ධාන්තර 10 ක කාලයක් යනවයි කියල මම එදා දැන ගෙන හිටියෙ නෑ. එහෙම කාල සීමාවක් පිළිබඳ කිසිම හැඟීමක් දැන ගන්න ක්‍රමයක් එදා තිබුනෙ නෑ. බුද්ධාන්තර 10 ක කාලයක් ගත වුනයි කියල මේ අත්බැවේදි තමයි ☞

සමාධියට දැනුනෙ. නමුත් එදා උන්වහන්සේ, අද වගේ කාලයක් උදා වෙලා මෙහෙම කෙනෙක් වෙනව කියල අනාගතංස ඥානයෙන් දැකල තමයි ඒ විදිහට අධිෂ්ඨාන කරල ආශිර්වාද කළේ. එදා උන්වහන්සේ බුද්ධ අධිෂ්ඨානයකින් කරපු ඒ ආශිර්වාදය තමයි ඒ පැතුම මල් එල ගන්වන්න මූලික වුණේ.

ඉතින් මේ කතාව ලොකුකමට කියන එකක් නෙවෙයි. මොකද මේ මගේ ශක්තියක් නෙවෙයි මතු කරන්නෙ. මහා බුද්ධ අධිෂ්ඨානයකින් ලෝක සත්වයාට මෙත් සිතින් දීපු දහම් කඳ තමයි මේ නැවත මතු කරන්නෙ. ඒ කාරණයෙදි මම කරන්නෙ අතරමැදි කාර්යක් විතරයි. හරියට නිකං පියුං කෙනෙක් වගේ. නැත්නම් සමහරු හිතාවි මම මේ ලොකුකමක් ගන්න මේ වගේ කතා කියනව කියල. නමුත් මේ මගේ ලොකුකමක් මතු කරනව නෙවෙයි, තුන් ලෝකවාසී සියලු සත්වයින්ට මහා ඖෂධයක් වන් ලෝකයේ අති දුර්ලභව පහළ වෙන්නා වූ ඒ මහා දහම් කඳ නැවත නගා සිටුවන්න, තුන් ලෝකාග්‍ර වූ බුදු පියාණන් වහන්සේලාගේම අධිෂ්ඨානය ආශිර්වාදය අවශ්‍ය බව මේ කාරණයෙන් තේරුම් ගන්න ඕන. ඒ අධිෂ්ඨානය ආශිර්වාදය නැත්නම් අපිට තනියෙන් මතු කරන්න පුළුවන් දෙයක් නෙවෙයි මේ බුද්ධ සාසනය කියන්නෙ. හරියට මඬේ ගිලුනු ඇත් රජෙක් ගොඩ ගන්න තවත් එබඳුම ඇත් රජෙක් ඕන වෙනව වගේ තමයි, මේ බුද්ධ සාසනයක් පවතින කාලය අතරතුර යටපත් වෙලා යන දහම නැවත මතු කරල ලෝක සත්වයාට දෙන්නත්, ලොව්තුරා බුදු පියාණන් වහන්සේලාගෙම අධිෂ්ඨාන ශක්තිය සහ ආශිර්වාදය අවශ්‍ය වෙනවා. උන් වහන්සේලා ජීවමානව වැඩ ඉඳෙද්දිම තුන් කල් නුවණින් දැකල ඒ අධිෂ්ඨානය, ආශිර්වාදය කරනවා. ඉතින් ඒ ශක්තිය තමයි මේ විහිදිලා පැතිරිලා යන්නෙ.

බුද්ධාන්තර 10 කට පෙර සිද්ධාර්ථ බුදුන් කල සිදු වෙච්ච ඒ සිදුවීම, මීට අවුරුදු 20 කට පෙර පොල්ගහවෙල උඩපනලිය ගෝඨාභය රජමහ විහාරයේදී පවත්වන්නට යෙදුනු මංගල බෝධි පූජාවේදි මේ විදිහට සමවත් කවි මාලාවකින් නැගුණා.

පෙර බුදු රජාණෙනි
යහපත ගෙන දෙවනා
කල සිහි කරමි අද
තෙරුවන් මහ බලෙනා
ගරු බුදු පියාණෙනි
පෙර භව සිහි කරනා
කල මතු කරමි පෙර
භව තතු ගරු ලෙසිනා

අනත වු සසර සිට
බුදු මහ රජිඳුන්නේ
ගුණ ආ අයුරු සිහි වෙයි
ගරු සිතකින්නේ
ගරු බුදු පියාණෙනි
පෙර ඔබෙ නම වැන්නේ
නම් ඇති බුදු කෙනෙකි
එම සසරෙහි උන්නේ

ලෝ සත වෙතට
මහ සිදුහත් නමක එන
ගරු බුදු පියාණන්
පෙර ලොව පහළ වුන
එම මහ කලදි බුදු
සමිඳුන් එබඳු තැන
හිත ගෙන තබමි
අද පවසමි මෙලෙස කින

පෙර ගරු පියාණන්
මෙම ලොව වැඩ උන්න
ලෝ සත කළේ
ගරු සිරිතට දකිමින්න
තුන් ලෝ දිනූ
නායක බුදු හිමි ඉන්න
එම මහ බුදු රජුන්
පෙර කලකය උන්න

එම මහ බුදු රජුන්
පෙර කල වඩින තැනේ
සුදු වත් හැඳවු සුදු
නෙළුමක් විලසකිනේ
සිටි කල සිහි කරමි
සමිඳුනි මෙබඳු දිනේ
එම දා දෙවූ
දානයකිනි මෙලෙස වුනේ

ගරු බුදු පියාණන්
වෙත කිරි පිඬු රැගෙනා
සඳමින් උතුම් මහ
නෙළුමක් ලෙස නැගෙනා
නගමින් සුවඳ දුම්
කිරිබත් ගුණ දෙවනා
පූජා කළා මතකයි
සමිඳුනි එදිනා

එම දා උතුම් ගුණ
ඇති බුදු රජිඳුන්නේ
මහ පා පියුම් සිඹිමින්
ගුණ කියමින්නේ
පැතුවා සමිඳුනේ
ලෝ සත මතු වෙන්නේ
සුවඳක් නැගේවා
සුවඳැති මල වැන්නේ

විහිදෙන දම් සුවඳ
මල් මුව හමුවෙ ගෙන
නගමින් ලෝ සතට
මහ සෙත සලසමින

ගුණයක් ලැබේවා
සවු සත භවය දැන
සමිඳුනි පතමි
යළි එම අදිටනිනි ගෙන

පසු කල මෙසවු
ලෙස බුදු රජිඳුන් දුන්න
සමවත් සිතින්
ගරු ගුණ අද කියමින්න
අනතව සරන
මෙම භව ගති පෙර උන්න
ආ තැන සිටිමි
සමිඳුනි ගරු ලෙසකින්න

දෙසූ බුදු රජිඳුනේ මෙම දරු
සිතු පැතු ලෙස එසේ වන්නේ
දෙසූ දම් කඳ ඇසූ මුවගින්
මෙදා දරු සුව සෙතකි දුන්නේ
පතා බුදු පෙළ මහා ගරු වැඳුමකින්
වැඳලයි මෙසේ එන්නේ
වදා ලොව බුදු පුතෙකු බිහි කළ
විලසමයි භව මතු කරන්නේ

ගරුව මහ බුදු රජිඳුනේ බස
මෙවන් කාලෙක නැගෙනවා
පිදූ පෙර භව ගතිය ගනිමින
මෙවන් අදහස දෙසනවා
පැතුව එම කිරි පිඬු ගෙනා මල්
ගුණය අද ලොව බෙදනවා
සිදු වූ භව තතු කියා සමිඳුනි
අදද අවසර පතනවා

බුදු රජුන් පෙර කලේ මහ ගුණ
උතුම් සිදුහත් කියන්නේ
මෙම උතුම් බුදු රජාණන් එම
ලෙසින් පෙර බුදු ම වන්නේ
එවන් ලොව්තුරු බුදු පියාණන්
අබියසේ මුල ගෙනෙන්නේ
එවන් කල සිට ආපු මෙම තුම්
ගමනෙ රස තැන් කියන්නේ

උතුම් මහ බුදු රජිඳුනේ ඔබෙ
දහම් ගුණ හදවත ගෙනා
පැතුම් ලෝ සත වෙතට මහ තෙද
දෙවන විලසට අදිටනා
උතුම් බුදු රජිඳුනේ මෙම තුම්
සසුන යට යන කලකිනා
පැතුම් ඉටු වන විලස පතනෙමි
දෙසූ දම් කඳ කියමිනා

එදා කල එම අසිරි මහ බුදු
කෙනෙකි අවසර දෙවන්නේ
දරුව සිතු පැතු විලස ඉටු වෙයි
ඔබට මතු කල තිබෙන්නේ
විරිය බල ඇති විලස සිත ගනු
සරුව සිතිවිලි වැඩෙන්නේ
දරුව මෙහි බල ඔරුව විලසය
සමිඳුනේ සෙත හැදෙන්නේ

හැබැයි සිද්ධාර්ථ බුදුන් වහන්සේගෙ කාලෙ ඒ විදියට ආපු පැතුමටත් පෙර තවත් පැතුමක් තිබිල තියෙනවා. ඒ වගේ යම් කිසි පටන් ගැන්මක සිදුවීමක් වෙච්ච කාලයක් සමාධියට නැගෙනවා. ඒ තමයි දීපංකර බුදු පියාණන් වහන්සේගෙ කාල සීමාවෙදි අපේ සිදුහත් බෝසතාණන් වහන්සේ සුමේධ කියන තාපස නමින් පළවෙනි නියත විවරණය ගත් අවස්ථාව. ඒ කාලෙ සිදු වෙච්ච විශේෂ සිද්ධියක ලකුණක් සමාධියට වැටෙනවා. **සාරා සංඛ්‍ය කල්ප ලක්ෂයක් කියන එච්චර එහා අති දීර්ඝ කාලයක සිද්ධියක් වුනත්, නාම ගොත්තං නජීරති - නාම ගෝත්‍ර හෙවත් මතක සටහන් දිරන්නෙ නෑ කියන ධර්මතාවය නිසා තමයි අදත් ඒ වගේ මතකයට නගා ගන්න පුළුවන්කම තියෙන්නෙ.**

එතකොට දීපංකර බුදුන් වහන්සේගෙ කාලයෙත් ලබපු ආශිර්වාදයක් තියෙනවා. පෙර හිටපු ශ්‍රාවකයොත් ලොව්තුරා බුදුවරුන් ඉදිරියේ එහෙම ආශිර්වාද ලබපු අවස්ථා ගැන සඳහන් වෙනවා. නැත්නම් කෙනෙකුට ප්‍රශ්නයක් එන්න පුළුවන්, එක පාරටම කොහොමද සිද්ධාර්ථ බුදුන් වහන්සේගෙන් ඔය විදිහෙ ආශිර්වාදයක් ලැබුවෙ කියල. නමුත් ඒක එක පාරටම ලබපු දෙයක් නෙවෙයි, අනන්ත සංසාරයේ දීර්ඝ කාලයක් එන ගමනෙදි නොයෙකුත් සාසනික කටයුතුවලට සහසම්බන්ධ වෙලා ලබපු සසර පුරුදු හා ප්‍රාර්ථනාවල ප්‍රතිඵලයක්. ඒ වගේ අවස්ථාවලදි විවිධ ශ්‍රාවකයන් ලබන විවිධ ඥාන, පුණ්‍ය සෘද්ධි ආදිය සම්බන්ධයෙන් බුදුවරයන් වහන්සේලා දකල ප්‍රකාශ කරපු අවස්ථා තියෙනවා. මටත් ඒ කාලෙ ඉඳන් ආපු යම් කිසි අධිෂ්ඨානයක් / ප්‍රාර්ථනාවක් තිබුණා.



ඒ සිද්ධිය සමාධියට නැගුනු ආකාරයට මෙහෙමයි. එදා මම ගොවියක්. මමත් එක්ක ගොවිතැන් කරපු තවත් යාළුවෙක් හිටියා. දවසක් අපි දෙන්නා කුඹුරු වැඩ කරමින් හිටියා. හැබැයි ඒ වෙලාවෙ මම නියර උඩට වෙලා කුඹුරු වැඩ කරපු අනිත් යාළුවත් එක්ක කතා කර කර හිටියෙ. ඒ වෙන කොට දීපංකර බුදු පියාණන් වහන්සේ ළඟ පාත ගමකට දානයකට වැඩම කරල දහම් දේශනාවක් පවත්වන්න අවස්ථාවක් යෙදිල තිබුනෙ. ඒ වෙලාවෙදි අපිත් ගිහින් බලමු කියල මම යාළුවත් එක්ක කතා වුනා. නමුත් ඔහු කුඹුරු වැඩ කරමින් හිටපු නිසා නාගන්න කල් ඉන්න කියල මට කිව්වා. ඒත් බණ අහන්න යන්න පරක්කු වෙන නිසා මම ඉක්මනට යනව කියල වේලපහින්ම පිටත් වුණා.

ඒ වෙලාවෙදි බුදුන් වහන්සේ පිළිගන්න යම් කිසි උත්සවයක් සංවිධානය කරමින් තිබුණා. ඒ සඳහා සුමේධ තාපසතුමා, ඒ ගමන් කරන ස්ථානයේ තිබිච්ච මඩ වගුරක් ගොඩ කරල පාරක් හැදුවා. එදා සුමේධ තාපසතුමා දීපංකර බුදු පියාණන් වහන්සේගෙන් විවරණ ගන්න වෙලාවෙ, එතන තිබිච්ච මඩ වළ සුද්ධ පවිත්‍ර කරල ඒ උත්සවය සරසන්නත් මම මුල් වුණා. එදා බෝසතාණන් වහන්සේට ඒ සඳහා උදල්ල දුන්නෙ මම. උන් වහන්සේ දීපංකර බුදුන් වහන්සේගෙ දෙපා මුල දිගා වෙලා විවරණ ගත්ත හැටිත් මට මතකයි. ඒ වෙලාවෙදි සුමේධ තාපසයන් වහන්සේගෙ රැවුලෙ එක කෙස් ගහක් පැහිල තිබුණත් මතකයි. මමත් එක්ක තවත් පිරිසක් ඒ ළඟ හිටියා. ඒ කාරණා තවමත් සමාධියට දැක බලාගන්න පුළුවන්.

හැබැයි එදා සුමේධ තාපසතුමාට වෙලාවට පාර හදල ඉවර කරගන්න බැරි වෙලා පොඩි කොටසක් ඉතිරි වුණා. මොකද දෙපැත්ත ගොඩ කරල පාර හදන කොට මැද කොටස පස් දාල තලල ඉවර කරන්න ඕන. ඒ හදන්න බැරි වෙච්ච කොටසෙ තමයි උන් වහන්සේ දිගා වුනේ. එහෙම දිගා වෙලා බුදු පියාණන් වහන්සේගෙන් කමාව ඉල්ලුවා, මගේ අතින් මෙහෙම අඩුපාඩුවක් වුණා, වැඩ කටයුතු ඉවර කරගන්න බැරි වුණා කියල. එහෙම කියල බෝසතාණන් වහන්සේ ඒ මඩ වළේ දිගා වෙලා, මගේ පිට මතින් වඩින්න කියල දීපංකර බුදුන් වහන්සේගෙන් ඉල්ලා හිටියා. ඉතින් බුදුන් වහන්සේ ඒ අවස්ථාවෙදි සුමේධ තාපසතුමාට විවරණ දෙන කොට ඒක දැකල, මමත් අනාගතයේ පැතුමක් පතනව කියල බලාපොරොත්තුවක් ඇති කර ගත්තා. ඒ වෙලාවෙදි බුදුන් වහන්සේ මොනව හරි විස්තරයකුත් කළා. ඒ විස්තරය කරන කොට අර මමත් එක්ක ගොවිතැන් කරපු අනිත් යාළුවත් එතැනට ආවා මතකයි. ඔහුත් යම් කිසි අනාගත පැතුමක් බලාපොරොත්තුවෙන් ඉන්න කොට, ඉදිරි බුද්ධ සාසනයකදි ඔහුත් විශේෂ කෙනෙක් වෙන බව බුදුන් වහන්සේ පවසපු සිද්ධියකුත් සමාධියට නැගෙනවා. එදා මම ගොවියෙක් විදිහට ගිහින් තමයි දීපංකර බුදුන් වහන්සේට වැන්දෙ. සුමේධ තාපසතුමා පළවෙනි නියත විවරණය ගන්නව දැකල තමයි මටත් පැතුමක් පතන්න හිතුනෙ.

කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන් එච්චර දීර්ඝ කාලයක් ශ්‍රාවකයෙකුට සිහි කරන්න පුළුවන්ද කියල. එහෙම සිහි කරන්න පුළුවන් ශ්‍රාවකයො අතීතයෙත් ඉඳල තියෙනවා.

උදාහරණ විදිහට ඒ කාලෙ වැඩ හිටපු ශ්‍රාවකයෙක් අරිහත්වයට පත් වුනාට පස්සෙ, එදා දීපංකර බුදුන් වහන්සේ දැක්කට පස්සෙ අදයි දැක්කෙ කියල ගෞතම බුදුන් වහන්සේ ඉදිරියේ ප්‍රකාශ කරල තියෙනවා. ස්වාමීනි ඒක එසේමයි, මම එදා දැක්කට පස්සෙ සසර අතර මග මවු මරල ඒ හේතුවෙන් අපාගත වුණා, අපාගත බවින් ගොඩ ඇවිත් මේ සසර ගමන් කෙරුවත් ඒ අතර කිසිම අවස්ථාවකවත් බුදුන් වහන්සේ නමක් මුණ ගැහුනෙ නෑ කියල උන් වහන්සේ ප්‍රකාශ කරල තියෙනවා. එතකොට උන් වහන්සේ පෙර දීපංකර බුදුන් වහන්සේ වැඩ හිටිය කාලෙ අත් බැව දැක්කයි කියන්නෙ, සාරාසංඛ්‍ය කල්ප ලක්ෂයක් ඈතට අතීතය සිහි කරන්න පුළුවන් බවට සාක්ෂියක්.

ඒ වගේම යසෝදරා රහත් මෙහෙණියත් සාරා සංඛ්‍ය කල්ප ලක්ෂයක් එහාට අතීතය සිහි කරල තියෙනවා. (ඒ සිද්ධිය හෙළ බොදු පියුම 22 කලාපයේ ''අපදාන පාළිය තුළින් නිවන් මග'' කියන මාතෘකාව යටතේ විග්‍රහ කරල තියෙනවා.) ඒ විදිහට විවිධාකාරයෙන් අතීතය සිහි කරන්න පුළුවන් ශ්‍රාවකයන් ඉඳල තියෙනවා. දහමට අනුව සාමාන්‍ය යෝගාවචරයෙකුටත් අන්තඃ කල්ප 20 බැගින් 40 ක් අතීතයෙන් සහ අනාගතයෙන් බලන්න පුළුවන්. ඒ කියන්නෙ කල්ප 1/2 ක්. ඉතින් මේ සසර කොච්චර දුරයිද, කොච්චර භයානකයිද කියල ඒ වගේ සිද්ධිවලින් තේරුම් ගන්න උත්සාහ කරන්න ඕන.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# මරණාසන්න මොහොතේ එන නිමිති සහ සිහින දර්ශන අතර වෙනස

යම් කිසි සත්වයෙක්ගෙ චුති-පටිසන්ධියෙන් පස්සෙ තමයි, අලුත් භවයකට සංජාති හෙවත් ගන්ධබ්බ කියන අවස්ථාව පහළ වෙන්නෙ. ඒ ගන්ධබ්බයා මවු කුසකට ඔක්කන්ති වුනාට පස්සෙ තමයි මවු කුස තුළ නාම රූප වැඩීම සිද්ධ වෙන්නෙ. එතැන් පටන් නව භවය ලබල ඔක්කන්තියට යන කල් ඉන්නෙ ගන්ධබ්බයා. එහෙම නැතුව කුස තුළ නෙවෙයි පටිසන්ධිය සිද්ධ වෙන්නෙ. මොකද චුතිය සිද්ධ වෙන තැනමයි පටිසන්ධිය සිද්ධ වෙන්නෙත්. ඒ කාරණය මීට කලින් ලිපි පෙළකින් පැහැදිලි කරල තියෙනවා. මහාමායා දේවිය දැකපු හීනයෙන් ඒ කාරණය තවත් ආකාරයකට පහදන්න පුළුවන්.

මහ බෝසතාණන් වහන්සේ මවු කුසට ඇතුල් වුනේ යම් කිසි ඡායාවක් පෙන්වල. ඒ කියන්නෙ තුසිත දෙව් ලොවින් චුත වෙලා මිනිස් පටිසන්ධියක් ලබල ගන්ධබ්බයෙක් වශයෙන් මවු කුසට පැමිණීම. සුදු නෙළුමක් හොඬින් ගත් ඇත් පැටියෙක් මහාමායා දේවියගෙ කුස වටා තුන් වතාවක් ගිහින් කුසට ඇතුල් වීමෙන් තමයි ඒක පෙන්නුම් කළේ. එතකොට පටිසන්ධිය කියන අවස්ථාව ඇහි පිය ගහන මොහොතකින් සිද්ධ වෙලා කුසේ හට ගත්තනම් එහෙම, තව්තිසා දෙව් ලොවින් චුත වෙලා කවදාවත් සුදු ඇත් පැටියෙක් සුදු නෙළුමක් අරගෙන වටේ කැරකිච්ච ලාංඡනයක් දකින්න බෑ. ඇත් පැටවා වටේ කැරකිලා කුසට ඇතුල් වෙනව හීනයකින් තමයි දැක්කෙ. එතකොට චුති - පටිසන්ධි වෙලා මේ කියන ඔක්කන්ති අවස්ථාව තමයි හීනයට දර්ශනය වුනේ. ඒ කියන්නෙ චතුර්ථජ සූක්ෂම කය. හැබැයි ඒකෙන් පෙන්වන්නෙ යම් කිසි විදියක හැඟීමක් මිසක් අර පෙනිච්ච දර්ශනයම නෙවෙයි. පෙනිච්ච දර්ශනය තමයි ඇත් පැටවෙක් කුසට ඇතුල් වීම. සුදු ඇත් පැටියගෙන් පෙන්වන්නෙ මහා සම්පත්තියක් කියන ලාංඡනය.

මේ විදියට හීන ලෝකෙන් පෙන්වන්නෙ බොහෝ කොටම ලාංඡන මිසක් හැබෑ තත්ත්වයම නෙවෙයි. හැබැයි ඒ තුළ යම් කිසි හේතු ඵල සම්බන්ධයක් තියෙනවා. ඒ හේතු ඵල සම්බන්ධයට අනුවම තමයි හීනයක් වුනත් පේන්නෙ. සමහර විට කෙනෙකුට දුක්ඛිත තත්ත්වයක හීනයක් පේන්න පුළුවන්. හැබැයි ඒක භෞතිකව සුඛිත මුදිත වෙන්න සිද්ධ වෙන්නත් පුළුවන්. උදාහරණ විදියට වැරහැලි ඇඳගෙන ඉන්න තත්ත්වයෙන් පේන්න පුළුවන්. එතකොට ඒ පුද්ගලයට බොහොම සැප සම්පත් ලැබෙන්න හේතුවක් වෙන්න පුළුවන්. සමහරවිට හීනෙන් අසූචි ගොඩක තෙරපෙනවා. ඒකත් මහා සම්පත්තියක් ලැබෙන්න



හේතුවක් වෙනව කියල සිහින තෝරන න්‍යාය ධර්මයන්වල පෙන්වල තියෙනවා. හැබැයි ඒක ලෞකික සම්පත්තියක් හෝ ලෝකෝත්තර සම්පත්තියක් වෙන්න පුළුවන්. ඒ වගේ හීනවලින් පෙන්වන යම් කිසි විදියක ක්‍රම තියෙනවා. එතකොට ඒක දැනගන්න නම් හීන තෝරන්න ඕන. මොකද හීනයකින් පෙන්වන්නෙ මේ භෞතිකව ස්වභාවිකත්වයෙන් සිද්ධ වෙන දේම නෙවෙයි. ඒ භෞතික සිද්ධිය පෙන්වන්නෙ වෙනත් ආකාරයකින්. එහෙම නැතුව පෙනිච්ච දේම නෙවෙයි භෞතික වශයෙන් ලැබෙන්නෙ.

ඒ නිසා හීනෙන් දකින දේ සහ යම් කිසි කෙනෙක් මරණාසන්න මොහොතට කල් තියා පටන් ගෙන, චුති-පටිසන්ධි ලබන මොහොතෙදි බලවත් වෙන්නා වූ කර්ම, කර්ම නිමිති, ගති නිමිති කියන්නෙ කාරණා දෙකක්. චුති-පටිසන්ධි අවස්ථාවෙදි පේන දේ හීන ක්‍රමයක් නෙවෙයි. ඒක භෞතික ක්‍රමයටමයි පේන්නෙ. ලැබෙන්න තියෙන දේමයි පේන්නෙ. ඒ නිසා ඒ කාරණය හීන දකින එකෙන් තෝරන්න බෑ. ඒ පුද්ගලය මළාට පස්සෙ හීන පස්සෙන් යයි කියල ගත්තොත් ඒ නිගමනය වැරදියි. කෙනෙක් හීනෙන් දකිනවා, බොහොම දුක්පත් වෙලා ඉන්නවා. සමහර අවස්ථාවල හීන තෝරන න්‍යාය ධර්මයන් අනුව ඒ පොහොසත් වෙන ලකුණක්. හැබැයි ඒක මරණාසන්න මොහොතක කර්ම, කර්ම නිමිති, ගති නිමිති වුනා නම් එහෙම, ඒ දුක්පත් වෙලා ඉඳල පොහොසත් වෙන එකක් නෙවෙයි, දුක්පත් වෙන්නමයි, ඊට අනුකූලවමයි ඒ නිමිත්ත ඇඳිල එන්නෙ.

මේ දෙකේ ලොකු වෙනසක් තියෙනවා. ඒ නිසා හීන වෙනම තෝරල ගන්න ඕන සංකීර්ණ විෂයක්. හැම එකක්ම එකම විදිහට තෝරන්නත් බෑ. ඒ කාරණය 100% ක්ම දන්නෙ අනාවරණ ඥානය තියෙන ලොව්තුරා බුදුන් වහන්සේ නමක් විතරයි. අනික් අය සිද්ධාන්ත ක්‍රමයට තෝරනව මිසක් හරියටම දන්නෙ නෑ. සමහර ඍෂිවරු පුරාණ පොත් පත්වල පෙන්වා තියෙන හීන තෝරන න්‍යායන්ට අනුව, ළඟ ළඟ පුංචි වෙනස්කම් තියෙන කාරණා 2 ක් හීනෙන් දකින කොට, ඒකෙ ප්‍රතිඵල විදිහට පෙන්වන්නෙ හාත්පසින්ම වෙනස් ප්‍රතිඵල 2 ක්.

උදාහරණ විදිහට මැණික් දැක්කොත් අපහාසයට උපහාසයට ලක් වන බවත්, මුතු දැක්කොත් ධන ලාභ වස්තු ලාභ ලැබෙන බවත් කියවෙන අවස්ථා තියෙනවා. එතකොට ඒක මතු පිටින් බලල තෝරන්න බැරි මහ සංකීර්ණ කාරණයක්. පිටින් බැලූ බැල්මට සමාන වටිනාකමක් හා සමාන ගුණයක් තිබුණත්, අති සියුම් විදිහට බලන කොට ඒවායේ හට ගැන්ම වෙනස්. මුතු ගන්නෙ මුතු බෙල්ල කියන මුහුදු සතාගෙන්. මැණික් කියන ඒවා ස්වභාවිකවම පොළවෙ හැදෙන අජීවී දෙයක්. ඒ වගේ වෙනස්කම් නිසා ඒවා සිහින දර්ශන විදිහට දකින කොට ලැබෙන ප්‍රතිඵලත් වෙනස් වෙන්න

පුළුවන්. ඒ නිසා මහ ඥානයක් තියෙන කෙනෙකුටම තමයි ඒ වගේ දෙයක් හරියට තෝරන්න පුළුවන් වෙන්නෙ.

උදාහරණ විදියට බෝසතාණන් වහන්සේ බුදු වෙන බව දැක්කෙ හීන පහකින්. ඒ හීන පහම දැක්කෙ තෝරල ගන්න ඒවා විදියට. උන් වහන්සේ අසූචි වළක අසූචි නොගෑවී සක්මන් කරනව දැක්කා. පාදයේ දණ හිසට එනකල් අසූචි වලක ඉන්න පණුවො වැළඳ ගන්නව හීනෙන් දැක්කා. ඒ කියන්නෙ උපාසක උපාසිකා පිරිස් උන්වහන්සේගෙ දණ මඬල ළඟ ඉන්නව වගේ, දණින් වැටිල උන්වහන්සේට එකතු වෙනවා, ගෞරව කරනවා. ඒකෙ ලක්ෂණයක් තමයි, සුදු පණුවො අසූචියක ඉඳන් උන්වහන්සේගෙ දණහිස වහ ගැනීමෙන් පෙන්නුම් කළේ. හැබැයි අසූචි උන්වහන්සේගෙ ශරීරයේ ගෑවෙන්නෙ නෑ. ඒ කියන්නෙ උන්වහන්සේට ඕන තරම් සම්පත්තිය ලැබුණත් උන්වහන්සේ ඒවට ඇලෙන්නෙ නෑ. ඒක දැක්කෙ අසූචි වළේ අසූචි නොගෑවී සක්මන් කිරීමෙන්. මොකද ලෝකෝත්තර පැත්තෙදි මිල මුදල් වගේ ලෞකික සම්පත් අසූචිවලට උපමා කරල තියෙනවා. එතකොට අසූචි ගොඩ උඩින් අසූචි නොගෑවී වැඩියයි කියන්නෙ, ඕන තරම් සම්පත් ලැබුනත්, ලෝකයා විසින් විවිධ පුද පූජා සත්කාර කළත් ඒවායේ නොඇලෙන බව, ඒ ස්වභාවය උන් වහන්සේට පිහිටනවයි කියන එක. නමුත් ඒ කාරණය දැක්කෙ අර විදියෙ හීනයකින්. ඒක තමයි ලාංඡනය.

හැබැයි ඒ ලාංඡනය භෞතිකත්වයෙන් ගත්තොත් එහෙම අපායක්. ඒක අයිති වෙන්නෙ ගූථ නිරය කියන අපායට. කවුරුහරි මරණාසන්න මොහොතෙදි ඕක දැක්ක නම් එහෙම, ඒ ගූථ නිරය කියන අපායෙ උපදින්න තියෙන ගති නිමිත්තක්. ඒ නිසා හීන පේන ක්‍රමයට හාත්පසින්ම වෙනස් ක්‍රමයක් තමයි මරණාසන්න මොහොතෙදි පෙන්වන්නෙ. ඒ දෙකේ ලොකු වෙනසක් තියෙනවා. ඊළඟට පෙකනියෙන් නැගුන ඊතණ ගහක් බඹ ලොව දක්වා නැගුන හැටි බෝසතාණන් වහන්සේ හීනෙන් දැක්කා. ඒ කියන්නෙ බ්‍රහ්ම ලෝකයට යන කල් සියල්ලම උන් වහන්සේට වසඟ වෙනවයි කියන කාරණය.

හීන කියන්නෙ සිහියට නැගෙනවා, සිහි කල්පනාව, සිහි වන න්‍යාය කියන අදහස. ඒකත් හේතු ඵල ධර්මයට අනුවම සිද්ධ වෙන දෙයක් මිසක් අහඹුවක් නෙවෙයි. ඒ නිසා නිකම්ම හීනයක් දකින්නෙ නෑ. ඒකටත් හේතුවක් තියෙනවා. සාමාන්‍යයෙන් පුද්ගලයගෙ ගතියට ගතිය සම්බන්ධයක් හෝ විරුද්ධත්වයක් නිසා තමයි හීනයක් පේන්නෙ. ඒ කියන්නෙ කෙනෙකුට මමත්වය කියල දෙයක් තියෙනවා. ඒ මමත්වයට සම්බන්ධ කාරණා මුල් කර ගෙන ඇලීම් සහගත හීන පේන්න පුළුවන්. ඒවාට විරුද්ධ දෙයක් එන කොට ගැටීම් සහගත භයානක හීන පේන්න පුළුවන්. පෙළක් අයට අලි පන්නනව හීනෙන් පේනවා. හැබැයි ඒකට කැමති නෑ, භයානකයි. නමුත් තමන්ගෙ තිබ්බ්ච විසඳගන්න බැරි ප්‍රශ්නයකට ධර්මානුකූල නොවන වැරදි ආකාරයකට පිළිතුරක් හෙව්වොත් ඒ වෙලාවට එහෙම හීන පේන්න පුළුවන්.

ඒ නිසා බුදු, පසේ බුදු, මහ රහත් උත්තමයින්ට ඉහත ස්වභාවයේ හීන පේන්නෙ නෑ. උන් වහන්සේලාගෙ හිතේ ස්වභාවය වෙනස්. ඒ විදිහෙ හීන පේන මානසිකත්වය සම්පූර්ණයෙන්ම ඉවත් කරල තියෙන්නෙ. ඒ නිසා ඒ ගති ලක්ෂණය



බාහිර කෙනෙකුට දෙන්න බෑ. ඒ ගති ගුණ කවන්න බෑ. තමන්ගෙ නැගෙන්නෙත් නෑ. අනික් කාරණය රහතන් වහන්සේ නිදා ගන්නව කියල සාමාන්‍ය අයට වගේ නින්දක් නෑ. උන් වහන්සේලා මහන්සි යන්න සැතපිලා ඉන්න එක විතරයි කරන්නෙ. ස්ව + ඇත + පී + අම කියන එක තමයි සැතපීම කියන්නෙ. ඒ කියන්නෙ තමන් විතරයි, වෙන කෙනෙක්ගෙ සම්බන්ධයක් නෑ. පී කියන්නෙ පානය. අම කියන්නෙ ඒකට සුදුසු ආහාරයක්. තමා පිළිබඳ අදහස් ගැනීම තමයි මේ කියන්නෙ. විශේෂයෙන් යම් කිසි ආහාරයක් හෝ ගිලන් පස එකක් අර ගෙන වෙහෙස මහන්සිය දුරු කර ගන්න සැතපෙන්න පුළුවන්. එතකොට අනිත් අයගෙ ශරීරවල සෛල ගෙවෙන වේගය උන් වහන්සේලාගෙ ශරීරවල නෑ. නින්දෙදි සෛල පෝෂණය වෙන කොට ආස්වාද සහගත දැනීමක් එනවා. නින්දෙ සුව එන්නෙ ඒකෙන්. නමුත් රහතන් වහන්සේගෙ ඒ මට්ටමට ශරීරය කිළුටු වෙන්නෙ නෑ. මොකද කාමය පූර්ණ වශයෙන් බිඳපු නිසා. ඒ නිසා ඒ සෛලවල ඉතා සියුම් වෙනසක් තියෙන්නෙ. සුළු වෙලාවක් සැතපිලා ඉන්න කොට ඒ තත්ත්වය මග හැරෙනවා, ශරීරය ලිහිල් වෙනවා. නමුත් අනිත් අයගෙ ශරීරය තද වෙලා තියෙන්නෙ. ඒ තද වෙච්ච එක ලිහිල් කිරීම නින්දෙදි සිද්ධ වෙන දෙයක්. එතකොට තමයි ඒ සුවය දැනෙන්නෙ.

රහතන් වහන්සේගෙ ශරීරය හැම වෙලේම සැහැල්ලුයි. ඒ සැහැල්ලු ශරීරයට අර කියන විදිහෙ සෛල හිර වෙලා හිටින්නෙ නෑ. හුස්මෙන් හුස්මට එවෙලෙම අපද්‍රව්‍ය පිට වෙලා යනවා. හුස්ම ගන්න කොට, පිට කරන කොට සම්පූර්ණ සුද්ධ වෙලා ඉවරයි. අන්න ඒ සෛල සුද්ධ කරන්න තමයි උන් වහන්සේලා සැතපෙන්නෙ. ඉතාම සුළු කොටසයි සුද්ධ කරන්න තියෙන්නෙ. ඒකට තමයි ශරීරය අප්‍රාණික කරල සැතපිලා ඉන්නෙ. මොකද මේ විපාක කය දරා ගෙන ඉඳීමේ අමාරුව උන් වහන්සේලාටත් තියෙනවා. අන්න ඒ විපාක කයේ දාහය යන්න සැතපිලා ඉන්නව මිසක් උන් වහන්සේලාට මානසික දාහයක් නෑ. ඒ නිසා ඒ වගේ උත්තමයන්ට සාමාන්‍ය අයට වගේ හීන පේන්නෙ නෑ.

එතකොට අනික් අයට හුගක් වෙලාවට හීන පේන්නෙ තමන්ගෙ ගතිවල ඇති වන වෙනස්කම් අනුව. ඒ හැර හීන පේන තවත් විවිධ අවස්ථා තියෙනවා. ඒ අතර දේවතාවො පෙන්වන හීන, මළගිය ඥාති අමනුස්සයො පෙන්වන හීන, වා පිත් සෙම් කුපිත වීමෙන්, ඍතු විපර්යාසවලින් පේන හීන... ආදී වශයෙන් විවිධාකාරයෙන් තියෙනවා. දේවතාදීන් විසින් අඩ නින්ද අල්ලල තමයි හීන පෙන්වන්නෙ. ඒ හීන පෙන්වන එක ක්‍රමයක්. ඒ අයගෙ මොනව හරි බලාපොරොත්තුවක් ඉෂ්ට කර ගන්න එහෙම පෙන්වන්න පුළුවන්. ඒ වගේ සසරෙදි තමන්ගෙ මොනව හරි ගති ලක්ෂණයක සම්බන්ධයක් නිසාත් හීන පේන්න පුළුවන්. ඒ අනුව අනාගතයේ වෙන්න තියෙන දේවල් යම් කිසි කර්ම වේගයකින් පෙන්වන්නත් හීන පේනවා. චිත්ත වේගයන්ගෙ ස්වභාවය අනුව පේන හීනත් තියෙනවා.

මේ ඔක්කොම රහත් ඵලයෙන් මෙහා ඉන්න අයට තමයි තියෙන්නෙ. රහතන් වහන්සේට ඒ වගේ දේවල් පේන්න හේතු නෑ. මොකද මනසින් බලාපොරොත්තු සහගතව අල්ල ගත්ත දෙයක් නැති නිසා. ඒ නිසා හීනයක් පේන්න තරම් අවශ්‍යතාවයක් /

සම්බන්ධයක් උන් වහන්සේලාට නෑ. ඒ කියන්නෙ අර වගේ ඇලීමෙන් ගැටීමෙන් හට ගන්න හීන පේන්නෙ නෑ. නමුත් වා පිත් සෙම් දෝස නිසා එන ශරීර අපහසුතාවයන් හේතුවෙන් හීන පේන්න පුළුවන්. එහෙම නැතිව ඇලීම් ගැටීම් නිසා හීන දකින නින්දක් උන් වහන්සේලාට නෑ. නින්දක් නැතිව හීන පේන්නෙත් නෑ. නිදාගෙන ඇහැරෙන වෙලාවට තමයි හීනයක් පේන්නෙ. එහෙම නැත්නම් නින්ද යන වෙලාවට අඩ නින්දෙදි. එහෙම නැතිව නින්ද ගිහින් තියෙන වෙලාවට නෙවෙයි හීන පේන්නෙ. ඒ කියන්නෙ තද නින්දෙදි නෙවෙයි. කොයි වෙලාවක හරි නිදාගෙන අවදි වෙන වෙලාවට හෝ නින්ද යාගෙන එන වෙලාවට තමයි හීන පේන්නෙ. මැදියම් රැයේ වුනත්, දවල් වුනත්, පොඩි වෙලාවකට නින්ද ගියත්, ඇහැරෙන වෙලාවට හෝ ඒ නින්ද යන මොහොතකට පෙර තමයි හීනයක් පේන්නෙ. ඒ තමයි සිහිය තියෙන වෙලාව. තද නින්දෙදි සිහියක් නෑ. මොකද නින්ද යන කොට විවිධ සිතිවිලි නැගෙන අතරතුරයි නින්ද යන්නෙ. අවදි වෙන කොට ඒ මොනව හරි සිතිවිල්ලක ඉඳගෙන නැගිටිනවා. ඒ අතරෙ තමයි හීන පේන අවස්ථාව එන්නෙ.

අභිධර්මයට අනුව චිත්ත වීථි ඇති වන ක්‍රම කිහිපයක් තියෙනවා. අති මහත්තාරම්මන, මහත්තාරම්මන කියන්නෙ අපි ප්‍රකෘතියෙන් ඉන්න වෙලාවට පංචද්වාරය මුල් කර ගෙන බොහොම බලවත්ව හට ගන්නා ප්‍රබල චිත්ත වීථි. ඒවායේ චේතනා ප්‍රබල වෙලා සංඛාර බලවත් වෙනවා. ඒවායින් ජනක කර්මයක් උපද්දවන්න හේතු වන බලය ලැබෙනවා. අති පරිත්තාරම්මන, පරිත්තාරම්මන, එහෙම නැත්නම් අවිභූතාරම්මන කියන චිත්ත වීථි තමයි හීන පේන කොට ඇති වෙන්නෙ. ඒවා ඒ තරම් බලවත් නෑ. නමුත් සමහර විට හීනෙන් කෑ ගහන, කතා කරන, ඇවිදින වගේ අවස්ථාවලදි පංචද්වාර ආවර්ජන නැගිල ඒවා බලවත් වෙන්න පුළුවන්. එතකොට මනෝද්වාරය තමයි හීනවලට ප්‍රධාන වෙන්නෙ. හීනවලදි තමන්ට ඕන දෙයක් කරන්න පුළුවන්කමක් නෑ. විපාක ස්වභාවය තමයි ප්‍රධාන වෙන්නෙ. විපාකයට අනුකූලව නැගෙන අදහස තමයි ක්‍රියාත්මක වෙන්නෙ.

උදාහරණයක් විදිහට හීනයකදි අපිව අලියෙක් පන්නනව නම් අපිට ඕන විදිහට ගහකට නගින්න බෑ, ඒක හිතල මතල කරන්න බෑ. හීනෙන්ම ආපු තීරණය විදිහට එක්කො පැනල දුවනවා, එහෙම නැත්නම් බය වෙලා කෑ ගහනවා වගේ මොනව හරි වෙන්න පුළුවන්. ඒ වෙලාවට ප්‍රකෘතියෙන් ඉන්න වෙලාවක වගේ හිතල මතල තීරණ ගන්න බෑ. ඒ වගේම හීනෙන් කරන කියන දේවල් ජනක කර්මයක් හට ගන්වන්න තරම් ප්‍රබල වෙන්නෙ නෑ. බලවත් පවක් හෝ පිනක් හට ගන්න ඒවා හේතු වෙන්නෙත් නෑ. බොහොම ශේෂ මාත්‍ර වශයෙන් තමයි ඒවායින් පින් පවු තියෙන්නෙ. ප්‍රවෘත්ති විපාක වශයෙන් ඒවා ඵල දෙන්න පුළුවන්. නමුත් ගණන් ගන්න තරම් ප්‍රබල ඒවා නෙවෙයි.

අඩු තරමෙ භික්ෂුවකට ඇවතක් සිද්ධ වෙන්නවත් හීන බලපාන්නෙ නෑ කියල පෙන්වා තියෙනවා. ඒ කාරණය ඔප්පු වෙන අවස්ථාවක් ත්‍රිපිටකයෙත් තියෙනවා. එක්තරා උපසම්පදා භික්ෂුවක් කාම මෛථුනයේ යෙදෙනවා හීනෙන් දැක්කා. එතකොට තමන් පාරාජිකා වුනයි කියල හිතාගෙන කම්පා වෙලා සිවුරු හැරල යන්න ලෑස්ති වෙලා බුදු පියාණන් වහන්සේ ළඟට ගියා. මහණ, හීනවලට ඇවැත් නෑ කියල උන් වහන්සේ දේශනා කළා. ඒ කියන්නෙ හීනෙන් මිනිහෙක් මැරුවත් පාරාජිකා වෙන්නෙ නෑ. හැබැයි ඇත්තටම මිනිහෙක් මැරුව නම් උපසම්පදා භික්ෂුව පාරාජිකයි. මේ වගේ අවස්ථාවකදි හිත සංවර කර ගන්න, නිතර පාලනය කර ගන්න කියල බුදුන් වහන්සේ පෙන්වා දුන්නා. මොකද අසංවර විදිහට පංචේන්ද්‍රියන් කාම අරමුණු කෙරෙහි යොමු කරන්න ගියාම, ඒකෙ විපාකයක් විදිහට තමයි ඒ වගේ හීන පේන්නෙ. ඒ නිසා සංවර වෙන්න කියල උපදෙස් දුන්නා.

තද නින්දෙදි හීන පේන්නෙ නෑ. ඒ වෙලාවට නැගෙන චිත්ත වීථිවල ජවන නැගෙන්නෙ නෑ. ජවන වෙනුවට භවාංග වෙලා චිත්ත වීථිය අවසන් වෙනවා. හුස්ම ගන්නව කියන්නෙ චිත්තජ ක්‍රියාවලියක්. ඒ නිසා තද නින්දෙදි වුනත් හුස්ම ගන්න නිසා මනෝද්වාර චිත්ත වීථි නැගෙනවා. හැබැයි ආවර්ජනා නොකරන නිසා ඒ පහළ වන මනෝ විඤ්ඤාණ අපට දැනෙන්නෙ නෑ. ඒවායේ ජවන නැති නිසා සංඛාර හට ගන්නෙත් නෑ. ඉතින් මේ හීනවලදි සිද්ධ වෙන දේ හරියට ධර්මයට ගැලපිලා තියෙනවා.

මොන හීනය ගත්තත් හේතු ඵලයි. අපිට තෝර ගන්න බැරි එකයි ගැටළුව. මේ හීන පෙනීම පිළිබඳ බුදුන් වහන්සේ කරපු සමහර දේශන කොටස් පොත් පත්වල විග්‍රහ කරල තියෙනවා. ඒ නිසා අපි වැඩකට නැති වල් පල් හීන කියල කිව්වත් ඒවාටත් හේතුවක් තියෙනවා. වා පිත් සෙම්වලින් ආපු එකක්ද, හිතේ සිතිවිලි එක්ක බැඳෙන එකක්ද කියල දන්න කෙනෙකුට තෝරන්න පුළුවන්. හේතු ඵල හරියට දන්න කෙනාට අනුමානයෙන් බල බලා ඉන්න දෙයක් නෑ. ඒ න්‍යාය ධර්මයෙන් කියන්න පුළුවන්.

උදාහරණ විදිහට සූත්‍ර පිටකයේ ඛුද්දක නිකායට අයත් ජාතක පාළිය (1) 77 වන ජාතකය විදිහට එන මහා සුපින ජාතකයෙන් කොසොල් රජතුමා දැකපු හීන 16 ක් ගැන විස්තර වෙනවා. ඒ විස්තරය ලෝකයා අතර බොහොම ප්‍රසිද්ධයි. මොකද බුදුන් වහන්සේ හේතු ඵල න්‍යාය ධර්මයන්ට අනුව ධර්මානුකූලව නුවණට ගෝචර වෙන විදිහට ඒවා විග්‍රහ කරල තියෙනවා. එතකොට ඒ හීන 16 න් විග්‍රහ කරල තියෙන්නෙ අනාගතයේ ලෝකයට සිද්ධ වෙන දේවල්.

උදාහරණ විදිහට එක හීනයකදි මහවිසා කළු ගල් ජලයේ පාවෙනව දැකල තියෙනවා. එතකොට බුදුන් වහන්සේ ඒ කාරණය තෝරනවා, අනාගතයේ පහළ වන පාලකයින්, බුද්ධිමත් වියත් සිල්වත් හිමිවරුන්ගෙ උසස් කතා අහන්නෙ නැතිව ඒවා නොසලකා හරිනවා, රාජ සභාවෙත් රටේ හැම තැනත් යහපත් උදවියගෙ අදහස් මනුස්සයින්ගෙ සිත්වලට කාවදින්නෙ නැතිව පාවෙලා යනව කියල.

ඒ අනුව එදා උන් වහන්සේ තෝරල දුන්නු ඒ සිහින 16 අද වෙන කොට කොච්චර දුරට ඔප්පු වෙලාද කියන කාරණය මේ වෙන කොටත් රටේ ලෝකයේ සිද්ධ වෙන දේවල්වලින් තේරුම් ගන්න පුළුවන්. එදා කොසොල් රජතුමා දැකපු ඒ හීනවලින් බය වෙලා බමුණන්ගෙ කීමට අනුව වැරදි දෘෂ්ටි අරගෙන මුලින්ම යාග හෝම කළයි කියලත් සඳහන් වෙනවා. නමුත් බුදුන් වහන්සේ ඒවාට ධර්මානුකූල විසඳුම් පැහැදිලි කළාට පස්සෙ දැහැමින් රාජ්‍යය කරන්න අධිෂ්ඨාන කරගත්ත කියල කියනවා.

ඉතින් මේ අනුව ඔප්පු වෙනවා, මොන හීනයක් වුනත් නිකං අහඹුවක් නෙවෙයි, හේතු ඵල සම්බන්ධයක් මතම දකින දෙයක් කියල. ඒ වගේම චුති පටිසන්ධි මොහොතෙ සිද්ධ වෙන ක්‍රියාවලිය හා හීන අතර සම්බන්ධයක් නෑ කියන කාරණයත් මේ අනුව තේරුම් ගන්න ඕන.

*වැහැරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# කේන්ද්‍රයෙන් පෙන්වන හේතු ඵල දහම... 9 වන කොටස

## නවග්‍රහ අපලවලට හේතු ඵල අනුව ධර්මානුකූල විසඳුම්

දැන් මේ විස්තර කරන නවග්‍රහයින්ට අමතරව යුරේනස්, නෙප්චූන්, ප්ලූටෝ කියන තවත් ග්‍රහයො තුන් දෙනෙක් අලුතින් හොයා ගත්ත කියල, සමහර අය ඒවත් කේන්ද්‍රවලට ඇතුළත් කරන්න පුරුදු වෙලා ඉන්නවා. නවීන විද්‍යාවෙ තියෙන දුරේක්ෂවලින් බලල තමයි ඒවා අලුතින් හොයා ගත්තයි කියන්නෙ. නමුත් මේ ග්‍රහයින් තුන් දෙනා අලුතින් හොයා ගන්න දෙයක් නෑ, දුරේක්ෂ නැතිවම පෙර හිටපු ඍෂිවරු ඒවා දිවැසින් දැකල, මේ ක්ෂීර පථයෙන් හුඟක් දුර පිහිටපු නිසා ඒවායින් මනුස්සයින්ට බලපෑමක් නෑ කියල දැනගෙන ඒවා ගණන් නොගෙන ඉවත් කරල තියෙන්නෙ. නමුත් දැන් ඉන්න සමහර අය කියනවා, ඒවා අලුතින් හොයා ගත්ත කියල. අලුතින් කරල තියෙන්නෙ ඒ ග්‍රහයින්ට නම් තැබීම විතරයි. ඒ ග්‍රහයින්ගෙන් මනුස්සයින්ට බලපෑමක් නැති නිසයි ඍෂිවරු ඒවා ගණන් නොගත්තෙ. නමුත් ඒවා මේ මනුස්ස ලෝකයට බලපාන්නෙ නැති වුනාට, ඒ සීමාවෙ පිහිටපු වෙනත් ලෝකවලට බලපාන්න පුළුවන්. මොකද ඒවත් පටිච්ච සමුප්පන්නයි, හේතුඵලයි. එතකොට අපිට බලපාන සීමාවෙ ඉන්නෙ අර ග්‍රහයො නව දෙනා විතරයි.

ඒ නව ග්‍රහයින්ගෙන් එන අපලවලට හේතු ඵල දහම අනුව යොදා ගන්න පුළුවන් ධර්මානුකූල ප්‍රතිකර්ම ක්‍රමයක් පසුගිය කලාපයෙන් විග්‍රහ කළා. ඉතින් මේ ප්‍රතිකර්ම විග්‍රහ කරන කොට යම් කිසි රාමුවකට කොටු වෙලා සීමා කරන්න පුළුවන්කමක් නෑ. සාපේක්ෂව ගත්තම හොඳ, වඩා හොඳ, හොඳම ... ආදී වශයෙන් වර්ග කරන්න පුළුවන් විවිධාකාරයේ ප්‍රතිකර්ම තියෙනවා. ඒ විදිහට විග්‍රහ කෙරෙන තවත් සාර්ථකම ප්‍රතිකර්මයක් තමයි මේ ඉදිරිපත් කරන්නෙ. මොකද දැන් මේ කරන සමහර ප්‍රයෝග සම්පත්ති / ප්‍රතිකර්ම ආදියෙන් ප්‍රතිඵල නෑ කියල අඳෝනා නගන පිරිසකුත් ඉන්නවා. කරන ප්‍රතිකර්ම හෝ ප්‍රයෝග සම්පත්තිවලින් සාර්ථක ප්‍රතිඵල නොලැබෙන්නත් හේතු තියෙනවා. ඒක සාමාන්‍ය උදවිය නොදකින පැත්තක්. ඒ නිසා ඒ කාරණය මුලින්ම විග්‍රහ කරල තේරුම් අරගෙන ඉන්න ඕන.

මනුස්සයෙක් විදිහට උප්පත්තිය ලබල ජීවිතයක් ගත කරන කොට කල්ල සුක්ඛං කල්ල සුක්ඛ විපාකං කියල, කළු සුදු හෙවත් පිං පව් සම්මිශ්‍රණයකින් හැදිච්ච පසුතලයක් තියෙනවා. ඒ වගේ උප්පත්තියක් ලබන කොට ජනක කර්මයකින් ගොඩ නගල වට කරල හදා ගත්තු වැඩ පිළිවෙලක් අනුව තමයි මේ ලෝක සත්වයෝ සසර ගමන යන්නෙ. ජනක කර්මයකින් උපත ලබන කොට උපතේ මූල ධර්මය පෙන්වනවා. එතකොට කළු සුදු විපාක හෙවත් පින් පව් මිශ්‍රණයකින් උපත ලබන්නෙ



විශේෂයෙන්ම මනුස්සයො. ඊට අමතරව තිරිසන් සත්තුත්, මනුස්සයො ආශ්‍රිතව ඉන්න සමහර භූත කොටසුත්, චාතුර් මහා රාජිකය ඇතුළු සමහර දේව කොට්ඨාසත් ඉන්නවා. කළු සුදු කිව්වම පුණ්‍ය කර්මත් තියෙනවා, ඒ වටා පරිවාර කරගත්තු පාප කර්මත් තියෙනවා. එතකොට පින් පව් දෙකම මුල් කර ගෙන හට ගත්තු ගති ලක්ෂණවලට අනුව තමයි විපාක එන්නෙ. එහෙම එන කොට ඒ විපාකයන් පල දෙන ක්‍රමවේද තියෙනවා. මොන කර්ම විපාකයක් පල දුන්නත්, පාප කර්මයක් නම් ඒක අපිට දැනෙන්නෙ අනිෂ්ට අප්‍රිය දුක් වේදනා වශයෙන්. පුණ්‍ය කර්මවල විපාක ඉෂ්ට ප්‍රිය සැප වේදනා වශයෙන් දැනෙනවා. පුණ්‍ය කර්මයකුත් කරල පාප කර්මයකුත් පරිවාර කර ගත්තොත්, ඉෂ්ට ප්‍රිය සැප විපාකයක් විඳින්න ඇවිත් ඒත් එක්කම අනිෂ්ට අප්‍රිය දුක් විපාකස්කන්ධයකටත් කොටු වෙනවා. ඒ තමයි කළු සුදු විපාකවලින් එන උප්පත්තිවල හැටි.

ඒ නිසා ලෝකයේ උපදින සත්ත්වයින්ට ග්‍රහ චක්‍රය කියල දෙයක් හැදෙනවා. ඒ තමයි ග්‍රහණය කර ගත්තු දේ. ග්‍රහණයක් නැතිව අත්හැරී මිදී නොඇලී ගිය කෙනා තමයි රහතන් වහන්සේ. ඊට මෙහා ඉන්න සියලු අය ඒ ඒ මට්ටමේ ඡන්ද රාගයෙන් ලෝකය ග්‍රහණය කර ගෙන ඉන්නෙ. ඒ නිසා ග්‍රහණය කරපු දේට විපාක දෙන අනුකූල වස්තූන් සම්පිණ්ඩනයක් සතර මහා භූතයන්ගෙන් ගොඩ නගල පිහිටනවා. සතර මහා භූතයන්ගෙන් සකස් වෙච්ච වස්තුවක් කවද හරි ඇසුරු නොකර කිසිම හොඳ හෝ නරක කර්ම විපාකයක් ගෙවන්න විදිහක් නෑ. ඒ සඳහා ධාතු 6 කින් ගොඩ නැගිච්ච ලෝකයක් තියෙන්න ඕන. ආපෝ, තේජෝ, වායෝ, පඨවි, ආකාස, විඤ්ඤාණ කියල ධාතු 6 ක් තියෙනවා. එතනදි විඤ්ඤාණ ධාතුවයි, ආකාස ධාතුවයි තමයි ප්‍රධාන වශයෙන්ම මුල් වෙන්නෙ. මේ ධාතු 6 න් ගොඩ නැගිච්ච ලෝකයක් තුළ තමයි හොඳ හෝ නරක කර්ම විපාකයක් විඳින්න අවස්ථාව සැලසෙන්නෙ. ඒ නිසා මේ ධාතු 6 ග්‍රහණය කර ගෙන ඇසුරු කරගෙන තමයි ලෝක සත්වයා සැරි සරන්නෙ. සැරි සරන අයට ඒ 6 මුල් වෙලා හට ගත්තු විද්‍යමාන වස්තුවක් ඇසුරු කරල ලබන ස්පර්ශයකින් තමයි සැප හෝ දුක් වේදනා වශයෙන් විපාක වින්දනයක් ලැබෙන්නෙ. හිතට ධර්මයක් ඝට්ටනය වෙලා දුකක් සතුටක් ආවත් ඇස, කන, නාසය, දිව, ශරීරය කියන පහ ඇසුරු කරගෙන කවදහරි ගත්ත අරමුණකින්මයි ඒ වගේ විපාකයක් එන්නෙත්. පාප හෝ පුණ්‍ය විපාකයක් පල දෙන්නෙ ඒ විදිහට.

මේ ධාතු 6 න් ගොඩ නැගිච්ච ලෝකයේ සත්ව / පුද්ගල, ද්‍රව්‍ය / වස්තු කියල දෙයක් ගොඩ නැගෙනවා. විපාක විඳින්න සුදුසු ලෝකය ඊට අනුකූලව ඔය තත්වයෙන් ගොඩ නැගෙනව මිසක්, කිසිම සජීවී අජීවී දෙයක් අහඹුවකින් ගොඩ නැගෙන්නෙ නෑ. ඒ හැම දෙයක්ම කර්ම විපාකයන්ට අනුකූලව තමයි ☞

ගොඩ නැගිල හැඩ ගැහිල ලෝකයක් වශයෙන් බිහි වෙන්නෙ. ඒ බිහි වෙන ලෝකයේ පරිහරණයට, ඇසුරට ඇවිත් ''මම'' කියන මමත්වයෙන් යුක්ත වන පංචස්කන්ධ සම්පිණ්ඩනයකින් කයක් හදා ගෙන, එබඳු වන්නා වූ සජීවී / අජීවී ලෝකයක් සමග සම්බන්ධ වෙලා අරමුණු සට්ටනය වෙලා ඒ අනුව සැප දුක් විපාක සකස් වන ක්‍රමයක් තියෙනවා. ඒ අනුව තමයි ග්‍රහයින්ට අනුකූලව චක්‍රයක් හැදිල ඊට අනුව විපාක චක්‍රයක් හැදෙන්නෙ. ඒක අහම්බෙන් හට නොගත් හේතු ඵල ක්‍රමවේදයක් නිසාම, සංඛත නිසාම, පටිච්ච සමුප්පන්න නිසාම පැරණි ඍෂිවරු ඒ විශ්ව චක්‍රය දකල ඒක සටහන් කළා. ඒ චක්‍රයෙන් අතැඹුලක් - අතේ තියපු නෙල්ලි ගෙඩියක් වගේ පේන්න දිව්‍යසක්, මනසක් තිබ්ච්ච නිසා ඒ අය විශේෂයෙන් ප්‍රඥා පාරමිතාව පූර්ණ කරන බෝසත්වරුන්, ඍෂිවරුන් වශයෙන් ඒ ක්‍රමවේදය ලෝකයට හඳුන්වා දුන්නා.

ඒ අනුව මේ මේ විපාක ගෙවන මේ සත්වයාට මේ වගේ වෙලාවක මේ ආකාරයට ක්‍රියාත්මක වෙච්ච ඉෂ්ට ප්‍රිය / අනිෂ්ට අප්‍රිය දේට මුහුණ දෙන්න සිද්ධ වෙනවා, මේ විදිහට ඒ චක්‍රය ක්‍රියාත්මක වෙනවා, නුඹලා ප්‍රයෝග සම්පත්තියෙන් ප්‍රයෝජන ගනිල්ලා කියල ලෝකයාට කියා දුන්නා. නමුත් ඒ චක්‍රය අද වෙන කොට බොහෝ කොටම සැඟවිලා තියෙන්නෙ. එතකොට ඒ වගේ වෙලාවකදී ඒ කර්ම විපාකයක් නිකම්ම එන්නෙ නෑ. ඒකට අවශ්‍ය සමනන්තරය හෙවත් පරිසරය ගොඩ නැගෙන්න ඕන. ඒ පරිසරය ගොඩ නැගීම වැළැක්වුවොත් සමහර විපාක පල දෙන්න බැරිව යනවා.

එතකොට විවිධාකාර උපක්‍රම-යන්ගෙන්, ප්‍රතිකර්මවලින් වළක්වන්න පුළුවන් විපාකත් ඒ අතර එනවා. ඒ නිසා 100% ක්ම කර්මයටම ඉඩ දීල බලන් ඉන්න අවශ්‍ය නෑ. ඉතාම සුළු කොටසක් තමයි වළක්වන්න බැරි විපාක විදිහට එන්නෙ. ඒක හොයා ගන්න බැරි කර්ම වේගයක්. නමුත් බොහොමයක් ඒවාට ප්‍රතිකර්ම තියෙනවා. නමුත් ඒ ප්‍රතිකර්ම ගැන හරියට දැනුවත් නොවීම නිසා තමයි මනුස්සයින්ට ඒවායින් ප්‍රයෝජන ගන්න බැරි වෙලා මෙච්චර දුක් විඳින්න වෙලා තියෙන්නෙ. එතකොට ඒ ප්‍රතිකර්ම කරල, ප්‍රයෝග සම්පත්තීන් යොදල ඒවායින් බේරිලා ලෝකය තුළ නිකං කාල බීල ජීවත් වෙලා සැප විඳින්න නෙවෙයි මේවා පෙන්වා දෙන්නෙ. මේ ජීවත් වෙන ටිකට අප්‍රමාදීව විමුක්තියට මග පාදා ගන්න තමයි මේවා යොදා ගන්න ඕන.

ඒ වගේ විමුක්තියක් හෙවත් නිවනක් ලබාගන්නත්, ඒ කාලෙ තිබ්ච්ච අබුද්ධෝත්පාද හෙවත් බමුණු ලෝකයෙන් බැරි නිසා, බ්‍රහ්ම ඵලයට පත්වෙන්න මග පාදා ගන්නත්, එහෙම නැත්නම් සතර අපාගත නොවී සුගතියට පත් වෙලා මෙලොව පරලොව අභිවෘද්ධියට මග පාදා ගන්නත් එදා හිටපු ඍෂිවරු ඒ හොඳ පැත්ත කියල දුන්නා. ඒ වගේ වෙලාවෙදී තමන්ට යම් කිසි කර්ම විපාකයක් තිබුන නම් ඒකට ප්‍රතිකර්ම කරන හැටි, ප්‍රයෝග සම්පත්ති යොදා ගන්න හැටි විග්‍රහ කරල දුන්නා. අන්න ඒ ක්‍රමවේදයක් හැදෙන හැටි, මතු වෙන හැටි, කලින් කලට එන හැටි පටිච්ච සමුප්පාද චක්‍රයෙන් ගොඩ නැගෙන මූල ධර්මය තමයි මේ කේන්ද්‍රයෙන් කියන්නෙ.





ඉතින් යහපත් දෙයක් කරගන්න කියල දුන්නත් සමහරු ඒක අයහපතක් කරන්නත් යොදා ගත්තා. උදාහරණයක් විදිහට යම් කිසි බේතක් ගත්තම බඩේ ඉන්න දරුව මැරෙන නිසා ඒක ගන්න එපා කියල කිව්වම, සමහරු ඒක දරු ගැබ් විනාස කරන්නත් යොදා ගත්තා. ඒකෙන් අයුතු ප්‍රයෝජන ගත්තා. ඉතින් ඒ විදිහට යහපත කරගන්න කියල හඳුන්වා දීපු සාස්ත්‍රයත් අද වෙන කොට ක්‍රමයෙන් ගුරු මුෂ්ටි වශයෙන් හංග ගෙන මැරිල ගිහින් ඉතිරි වෙච්ච නෂ්ටාවශේෂ ටිකක් විතරයි තියෙන්නෙ. ඒ ටිකෙන් සාස්ත්‍රය දන්නවයි කිව්වට හරි යන්නෙ නෑ. ඒ සාස්ත්‍රයෙන් ඉතා අල්පයයි ඉතිරි වෙලා තියෙන්නෙ. සම්පූර්ණ සාස්ත්‍රයම නෑ.

මේ කාරණය තේරුම් ගන්න මේ මෑතක් වෙනකල් තිබ්ච්ච ක්‍රම වේදයක් තියෙනවා. යම් කිසි දරුවෙක්ගෙ උපන් වෙලාව ගෙනිහින් දුන්නම, ඒ සාස්ත්‍රය හොඳින් දන්න පැරණි කාලෙ ඉඳන් එන අය ඒ දරුව ස්ත්‍රීද පුරුෂද කියල හරියටම එල්ල කරල කියනවා. බුලත් අතක් ගෙනිහින් දුන්නම ඒක ගැනල ගන්න එක්තරා චක්‍රයක් තිබුණා. එතනදී දරුව කුසින් උපදින වෙලාව නෙවෙයි, බඩට ඔක්කන්ති වෙන වෙලාව තමයි ගත්තෙ. හැබැයි දැන් ඉන්න නවීන විද්‍යාව හදාරන අය, ඒ ගැන පර්යේෂණ කරන අය, වෛද්‍යවරුන්ගෙත් අවසරය ඇතිව දරුවෙක් බිහි වෙන වෙලාවට ඒ ස්ථානයට ගිහින් කේන්ද්‍රයක් හදල ගත්තත්, ඒ ක්‍රමයට ස්ත්‍රී ද පුරුෂ ද කියල සුද්ධ ඇතිව කියන්න බෑ කියල ඒ අයම කියනවා. එහෙම කරපු පර්යේෂණත් තියෙනවා. මේ මෑතක් වන තුරුත් සමහර නක්ෂත්‍රවේදීන් හිටියා, ළමයෙක්ගෙ කේන්ද්‍රයක් හදන්න ආවම ඒ ළමය ස්ත්‍රී ද පුරුෂ ද කියල මට කියන්න එපා, ඒක කියන්න බැරි නම් මේ සාස්ත්‍රයෙන් වැඩක් නෑ කියල, උපන් වෙලාව දුන්නම ස්ත්‍රීද පුරුෂද කියල එල්ල කරලම කියනවා. සමහරු කෙළින්ම අකුරු ටිකත් කියල දුවට මේ නම දාන්න, පුතාට මේ නම දාන්න කියල එල්ල කරලම කියනවා. එතකොට කොහොමද එහෙම කියන්නෙ ? ඒ වගේ චක්‍ර සාස්ත්‍රයක් ලෝකයේ තිබ්ච්ච නිසා. නමුත් ඉතින් ඒ හැකියාව තියෙන අය මැරිල ගියාට පස්සෙ ඒ සාස්ත්‍රයත් එතැනින් ඉවරයි. ඒ විදිහට නක්ෂත්‍රයේ තියෙන වැදගත් කොටස් එකින් එකට ගිලිහිලා යනවා.

මීට අවුරුදු 30 කට විතර උඩදී නක්ෂත්‍රය ගැන හොඳ දැනුමක් තිබ්ච්ච මහත්තයෙක් හිටියා. එක්තරා මනුස්සයෙක් ඔහුට ළමයි හතර දෙනෙක්ගෙ කියල වෙලාවල් 4 ක් ගිහින් දුන්නා, ඒ වෙලාවල් බලල ගැලපෙන නම් 4 ක් කියන්න කියල. ඉතින් මේ මහත්තය ඒ වෙලාවල් 4 බලල කිව්වා, මේ වෙලාවල් මනුස්ස දරුවො උපදින වෙලාවල් නෙවෙයි, තිරිසන් සත්තු උපදින වෙලාවල් කියල. පස්සෙ අර මනුස්සයා, නෑ නෑ මනුස්ස දරුවො තමයි හරියටම කෙස් ගහටම වෙලාව බැලුවයි කිව්වම මේ මහත්තය කිව්වා, මේක කුර සත්තු උපදින වෙලාවක් මේවට මම නම් දෙන්නෙ කොහොමද කියල.

ඊට පස්සෙ ඉතින් ගරුසරු ඇතිව කිව්වා, කාරණය ඇත්ත මම අද උදේ එන කොට ඊරියක් පැටව් ගහනවා, මම හරියටම පැටව් 4 දෙනෙක් හම්බ වෙන වෙලාවල් කෙස් ගහටම බලල මේ සාස්තරය පරීක්ෂා කරන්න අර ගෙන ☞

ආව කියල. එතකොට ඒ තිබිච්ච සාස්ත්‍රය අද වෙන කොට සැඟවිලා. සමහර විට ගුරු මුෂ්ටි වශයෙන් තියාගෙන දෙන්නෙ නෑ. පරම්පරාවෙන් පිට යයි කියල බයට දෙන්නෙ නෑ. එහෙම නැත්නම් ඒ සාස්ත්‍රය දෙන්න සුදුසු ගැලපෙන පුද්ගලයො නැති නිසා ඒක දෙන්න හැකියාවක් නෑ. ඒ නිසා සාස්ත්‍රය නොදී ඉඳීමෙන් අද තියෙන්නෙ පිරිහිච්ච නක්ෂත්‍රයක්. ඉතින් අද තියෙන සාස්ත්‍රය 100% ක් පූර්ණ නෑ. නැවතත් මහ ඍෂිවරු පහළ වෙච්ච දවසක තමයි ඒ සාස්ත්‍රය කවද හරි සුද්ද කරල දෙන්නෙ.

එතකොට මේවායින් අපි දකින්න ඕන කාරණය තමයි සියලු සතුන් හට ගන්න පරිසරයක්, ක්‍රමවේදයක් තියෙනවා. ලෞකිකත්වයේ සැරි සරන සත්වයාගෙ මොනව හරි අදහසක් ආවම, ඒ අදහස ක්‍රියාත්මක වෙලා ගෙවිල යන එක්තරා චක්‍ර රටාවක් හැදෙනවා. ඒකෙන් පෙන්වන්නෙ ඒ සත්වයාගෙ මානසිකත්වයේ ස්වභාවය. ඒ චක්‍ර රටාව වැඩෙන ක්‍රම රටාව අනුව තමයි ඒ ඒ පුද්ගලය ඒ ඒ මොහොතේ ක්‍රියාත්මක වෙන්නෙ. එතකොට ඉස්සෙල්ලම කරන්නෙ ඒකෙ ලැග ගන්න එක. එක එක්කෙනාට විශේෂ වන යම් තැනක් හොඳයි කියල හිතා ගත්තොත්, ඒ පුද්ගලය එතැන ගිහින් ලගිනවා. ඒක අදත් මනුස්සයො අතර විතරක් නෙවෙයි සත්තු අතරත් දකින්න තියෙන දෙයක්. අපි අද කතාවටත් කියන, ගිහින් ලැගපන් .... ලැග ගන්නවා ... ආදී වශයෙන් කියන ලක්ෂණ තමයි ලග්නය කියන්නෙ. ඒක තමයි කේන්දරයක පළවෙනි කොටුවෙන් පෙන්වන්නෙ.

ඊට පස්සෙ ලැගපු තැනින් පෙන්වන හොඳ ඒවා ගන්න හොයනවා. මොකක්ද ඒකෙන් හොඳ දෙයක් තියෙන්නෙ, තමන්ට ආස්වාදය විඳින්න ඒ විදිහට ලැගපු තැනකින් හොඳ ඒවා එකතු කරල මමත්වයෙන් ගන්නවා. ඒ ග්‍රහණය කර ගත්තු එක තමයි දෙවන කොටුව හෙවත් ධනස්ථානයෙන් පෙන්වන්නෙ. ඊට පස්සෙ අනිකට වඩා පළවෙනි වෙන්න, විජයග්‍රහණය කරන්න තැනක් හොයනවා. ඒ තමයි තුන්වන කොටුව හෙවත් වික්‍රමස්ථානය. පෘතජ්ජනයෙක් විදිහට යමක් අල්ල ගන්න ගියාම ඒ ක්‍රියාදාමය යන හැටි තමයි මේ පෙන්වන්නෙ.

ඊට පස්සෙ, මම දැන් මෙහෙම කෙනෙක් කියල ලෝකයාට තමන්ගෙ තත්ත්වය පෙන්වන්න යමක් ආරම්භ කරනවා. ඒක තමයි හතර වන කොටුවෙන් පෙන්වන ආරම්භකස්ථානය. දැන් ඉතින් මං කියන දේ අහන, මගෙ දරුවො ටිකක්, ගෝලයො ටිකක්, මගේ කියල පිරිසක්, මගේම කියල ව්‍යාපාරයක් හදා ගන්න ඕන කියන කොට ඒක තමයි පස් වන කොටුවේ පුත්‍රස්ථානයෙන් පෙන්වන්නෙ. ඊට පස්සෙ ඒ අය අතර කලබලයක් ඇති වෙනවා, අපිට මේ මේවා දුන්නෙ නෑ, අනෙක් කෙනාට අරව මේව දුන්න කියල. දැන් ඉතින් අනෙක් අයගෙ අඩුපාඩු බලන්නයි, රණ්ඩු ලිහන්නයි ගිහින් මහ වද කරන කාලයක් එනවා. අන්න ඒ ගොඩ නගා ගත්තු දේවල් රකින්න ගිහින් ඊළඟට සතුරො ඇති වෙනවා, රෝගී වෙනවා. ඒක තමයි 6 වෙනි කොටුවෙන් පෙන්වන රෝගස්ථානය හෙවත් සතුරු ස්ථානය. ඊට පස්සෙ ඒ අය අතරින් හොඳ පිරිස් එකතු කර ගන්නවා. උඹල වරෙල්ලා, උඹල පලයල්ලා කියල පිරිස තෝරන්න පටන් ගන්නවා. හොඳ අය සහ තමන්ට පාලනය කරන්න පහසු දේවල් වෙන් කර ගන්නවා. ඒ මානසිකත්වය ක්‍රියාත්මක වෙන කොට ඒක තමයි හත් වෙනි කොටුවෙන් පෙන්වන කුටුම්භස්ථානය හෙවත් පවුල් ස්ථානය.

ඕව සියල්ලම භාර ගෙන කැඩිල බිඳිල විනාස වෙලා යන කොට දැන් එක එක්කෙනාගෙ ගුණ වයනවා. මොකද තමන්ට වඩාත් හොඳ තැනක් ගන්න. අරයට වඩා මෙයා ලොකුයි, මෙයාට වඩා එයා හොඳයි .... ආදී වශයෙන් තමන් ජය ගන්න එක එක්කෙනා පාගනවා. අහවල් ගෝලය මෙහෙමයි කියල ගුරුවරයට කේලම් කියනවා. තමන්ට තැනක් ගන්න අනිකා මරා ගන්න හදනවා. ඒක තමයි අට වෙනි කොටුවෙන් පෙන්වන මාරකස්ථානය.

ඊට පස්සෙ මේවා සියල්ලම කරල දුක් විඳින කොට, දඬුවම් විඳින කොට අන්තිමට සාධාරණ යමක් ඇත්නම් මෙන්න මේ දේවල්, මේ අය හොඳයි කියල හොඳ පැත්තක් තෝර ගන්නවා. මේක මහ කරදරයක් කියල හොඳ අය එක්ක එකතු වෙනවා. දැන් ඉතින් සැනසෙන මගක් බලමු කියල ගත්තම ඊළඟට එන්නෙ 9 වන කොටුවෙන් පෙන්වන පුණ්‍යස්ථානය. දැන් ඒකට අනුව හොඳ දේවල් හොයා ගෙන තාවකාලික පැවැත්මට මෙන්න මේ ටික නම් හොඳයි කියල පින් පැත්ත තෝර ගන්නවා. ඊළඟට ඒ තැන ඉඳගෙන එදිනෙදා විවිධාකාර කටයුතු ඉෂ්ට සිද්ධ කරනවා. ගොවිතැන්, වෙළ හෙළඳාම්, ඉගැන්වීම්, විවිධාකාර ගොඩ නැගීම් ආදිය සිද්ධ කරමින් අනාගතය ගොඩ නගනවා. ඒක තමයි 10 වන කොටුවෙන් පෙන්වන කර්මස්ථානය හෙවත් භව ගොඩ නගන ස්ථානය.

ඊට පස්සෙ මොකද කරන්නෙ, මම මෙච්චර කලක් මහන්සි වෙලා මේවා ඉගෙන ගෙන තියෙනවා, මෙච්චර ගෝලයො හදල තියෙනවා, මෙච්චර සේවයක් කරල තියෙනවා කියල එකතු කරගෙන සන්තෝස වෙන ස්ථානය තමයි 11 වෙනි කොටුවෙන් පෙන්වන අයස්ථානය. ඉතින් ඔය සියල්ලම කරල එක පාරටම පණ යන වෙලාවක් එනවා. ඒ තමයි 12 වෙනි කොටුවෙන් පෙන්වන වැයස්ථානය. ඒ ජීවිතය එතැනින් ඉවරයි. ඒ චක්‍රය ඉවරයි.

ඔය විදිහට 12 පොළකින් ග්‍රහණය කිරීම නිසා කොටු 12 න් එන චක්‍රයක් හදල ඒවාට නම් දාල ඍෂිවරු විසින් හඳුන්වා දීල තියෙනවා. ඒ විදිහට ග්‍රහණය කරපු චක්‍රය පිහිටපු රටාව අනුව ගතියක් හැඳුනම ඒකට ග්‍රහ චක්‍රය සහිත කේන්දරය කියල කිව්වා. ක්ෂය කරන්නා වූ පංච කාමය රැස් කර ගෙන ඒකට ආහාර කර ගන්න දර දාල, එහෙම නැත්නම් ගිනි මොළවන්න දර දාපු එක තමයි කේ + අන්දර - කේන්දර වුණේ. ඒ එක නිරුක්ති අර්ථයක්. මොකද නිරුක්ති වුනත් තැනට ගැලපෙන විදිහට විවිධාකාරයෙන් දෙන්න පුළුවන්.

ක්ෂය කියන පහත් බවට පත් කරන ජරා, මරණ, දුක්ඛ, දෝමනස්ස, උපායාසයන්ට පත් කරන යමක් ඇත්නම් ඒක ''කේ'' කියල පෙන්වනවා. ඒ තමයි ක්ෂය වෙන බව. ''අන්'' කියන්නෙ ආහාරය. ක්ෂය වන දේට ආහාරය තමයි පංච කාමය. අන්න ඒක දර එකතු කරනව වගේ යළි යළි පුබුදුවන්න, අවුළුවන්න එකතු කරන දේ තමයි කර්ම ශක්තිය. ඒ අර්ථයෙන් එකතු කරන පොදිය තමයි කේන්දරය කියන්නෙ.

ඉතින් ඕක බල බලා ඉඳල අපි මොකද කරන්නෙ තව කේන්දරයක් ගොඩ නගන්න බලනවා. නැවත සැරයක් සැනසිල්ලෙන් ඉන්න ක්‍රමයක් බලනවා. දැනට ඉන්න එක පවත්වන්න හදන කොට ජරා, මරණ ..... ගොන්නක් එනවා. ඉතින් නැවතත් කේ + අන් + දර තමයි එකතු කරන්නෙ. ක්ෂය වන පහත් දේට ආසා කරන, ඒකට අවශ්‍ය පෝෂණය හෙවත් ආහාර හදනවා, කේන්දරය හදනවා. අන්න ඒ කේන්දරය පිච්චුව දවසට නම් නිවන් දකිනවා, රහත් වෙනවා. ඒක තමයි කේන්දරය පුච්චල නිවන් දකින ක්‍රමය. එහෙම නැතිව පුස්කොළ සටහනක් පිච්චුවට නිවන් දකින්නෙ නෑ. ඉතින් මේ කියන ධර්මතාවයට අනුව මේ ලෝක ස්වභාවය දකින්න ඕන. මේ කාරණය මීට කලින් විග්‍රහ කළත්, ඒ විග්‍රහ කිරීමත් විවිධාකාරයෙන් කරන්න පුළුවන් නිසයි මේ විදිහට තවත් ආකාරයකට පැහැදිලි කළේ.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# වාස්තු විද්‍යාවේ හේතු ඵල සම්බන්ධය දහම් ඇසින් ....

**9 වන කොටස**

ඉඩම්වල ගෙවල් හදන කොට ත්‍රිකෝණාකාර අක්‍රමවත් ආදී හැඩවලින් දෝස එන්න පුළුවන් බව පසුගිය කලාපයෙන් පැහැදිලි කළා. ඉතින් ඒ දෝස මග හරවා ගන්නත් යම් යම් උපක්‍රම තියෙනවා. ඉඩමක් ගත්තම තුන් හුලස් හැඩයට එන දෝසය මග හරින්න නම් ඒ කෝණාකාර ප්‍රදේශය කොටු කරල අයින් කිරීම හෙවත් අත හැරීම තමයි කරන්න තියෙන්නෙ. ඒ කියන්නෙ අයිතිය අතහරින්න ඕන. එහෙම නැත්නම් ඒ ප්‍රදේශය කොටු කරල බුදු මැදුරක් හැදුවත් ඒ දෝසය තරමක් දුරකට ඉවත් වෙනවා. නමුත් ඒකත් ඉතින් තුන් පැත්තටම කරන්න පුළුවන්කමක් නෑ. මොකද බුදු මැදුරක් නිවසක තුන් පැත්තකටම තියෙන කොට ගැලපෙන්නෙ නෑ. කුස්සිය, වැසිකිළිය, ගරාජය ආදී ස්ථානත් අනිත් පැතිවලට අහු වෙන නිසා ඒ වගේ ස්ථානයකට බුදු මැදුරක් අහුවුනොත් ඒක ගලපන්න බෑ. කොහොම හරි දෝස අවම කර ගන්න ගේ හතරැස් හැඩයටවත් හදන්න ඕන. ඒ කියන්නෙ ත්‍රිකෝණාකාර ඉඩම ඒ විදිහටම තියෙද්දි ගේ හරියට හැදුවොත් තරමක් හොඳයි. නමුත් ඉඩමෙ බලපෑම තියෙනවා.




හැබැයි මේ වගේ ත්‍රිකෝණාකාර ඉඩම්වල ගෙවල් හදල හොඳට ඉන්න අයත් බොහොම කලාතුරකින් දකින්න ලැබෙනවා. ඒ ඉතින් මොනව හරි පෙර ප්‍රබල පුණ්‍ය ශක්තියක් තියේ නම් ඒ දෝසය අභිබවා පුණ්‍ය ශක්තිය නැගී සිටින නිසා. එහෙම නැත්නම් වෙනත් මොනව හරි වත් පිළිවෙත් නිසා තාවකාලිකව අල්ලල හිටින්න පුළුවන්. ඒත් හොඳට ඉන්නව කියල කල් ගත වෙන කොටත් ඒ තත්ත්වය දිගටම තියේවි කියල කියන්න බෑ. මොකද පුණ්‍ය ශක්තිය කියන එකත් ගෙවී ගෙවී යනවා. මේ අත්බැවෙත් ඒ වගේම පින් දහම් කරල පුණ්‍ය ශක්තිය වඩා ගත්තෙ නැත්නම්, ලැබිච්ච ශක්තිය ක්‍ෂය වෙනව මිසක් අලුතින් එකතු වීමක් වෙන්නෙ නෑ. ඒ නිසා සාමාන්‍යයෙන් ත්‍රිකෝණාකාර හැඩයක් සමස්තයක් විදිහට ගත්තම හානිකරයි. විශේෂයෙන් නිවස. සමහර ඒවායේ වාසය කරන අය ඒකෙන් ආපු දෝස නිසාම මිය පරලොව ගිය අවස්ථාත් තියෙනවා. ඒ දෝසයත් එක්කම කර්ම විපාකයකුත් ආවම සමනන්තර - අනන්තර ප්‍රත්‍යය අනුව එහෙම වෙන්න පුළුවන්.

ඊළඟට පුනීලාකාර හැඩැති ඉඩම් ගත්තත් ඔය මූල ධර්මයම තමයි එතැනටත් යෙදෙන්නෙ. ඒ හැම එකකම ශක්තිය පිටතට විහිදීමක් තමයි වෙන්නෙ. අනිත් කාරණය මේ වගේ ත්‍රිකෝණාකාර, පුනීලාකාර, පොරෝතල ආකාර ආදී අක්‍රමවත් හැඩතල තියෙන ඉඩම්වල ගෙවල් හදන්න ගියාම ප්‍රායෝගික ප්‍රශ්නත් එනවා. මොකද එතකොට ඒවාට එන කාමර ආදියත් බොහෝ කොටම ඒ හැඩ තලවලටමයි හදන්න වෙන්නෙ. එහෙම නැත්නම් යම් කිසි ඉඩම් ප්‍රමාණයක් අපතෙ යනවා. නමුත් ඒකට වඩා බරපතල වෙන්නෙ වාස්තු දෝස. එතකොට ඒ කෝණාකාර පැතිවලට නිවසේ කොටස් අඩුවෙන් හදන්න වෙනවා. බැරි වෙලාවත් ඉඩමේ ඊසාන පැත්තක් නැති වුනොත් එතැනත් දෝසයක් එනවා. ඒක ස්ථානීය දෝසයක්. එතකොට ඊසානෙන් එන ශක්තිය සම්පූර්ණයෙන්ම නැතිව යනවා. නමුත් ඊසානෙන් එන ශක්තිය කියන්නෙ තනිකරම අත්‍යවශ්‍ය අධ්‍යාත්මික ශක්තියක්. විශේෂයෙන් උතුරෙන් එන චුම්භක ශක්තියෙයි, නැගෙනහිරින් එන කොස්මික් කිරණ ශක්තියෙයි සම්ප්‍රයුක්තය වැඩ කරන්නෙත් ඊසාන දිසාවෙන්. ඒ කියන්නෙ එක අතකින් ඒ ශක්ති දෙකේ මිශ්‍රණයක් ලැබෙනවා. ඒ හේතුව නිසාත් ඊසාන කියන්නෙ හොඳ දිසාවක්. ඒ වගේම මරු නොසිටින එකම දිසාවත් ඊසාන. සතියේ දින 7 ගත්තම ඊසාන දිසාව හැර අනෙක් දිසා 7 ට මරු සිටිනවා. නමුත් පුද්ගල මාර කියන වසවර්ති මරුට ඊසාන දිසාවෙන් විතරක් එන්න බෑ. මොකද දිසා 8 ගත්තම කොහෙන් හරි ඉඩක් තියෙන්නත් ඕන. ඒ අතිනුත් ඊසාන බොහොම සුද්ධයි.

සී සානවා කියන වචනයෙන් තමයි මේ ඊසාන කියන එක හැදුනෙ. ඒ කාලයට තමයි කුඹුරු වපුරන්නෙ. අද යල මහ කියල කන්න 2 ක් තිබුණත් මුල් කාලෙ මහ කන්නය විතරයි වැඩ කළේ. යල කියන්නෙ නිකං තාවකාලික එකක්. එතකොට අවුරුද්දට එක සැරයයි කුඹුරු වපුරන්නෙ. අනෙක් කාලවල පුරන් වෙන්න තියනවා. එතකොට අස්වැන්න වැඩියි. ඒ ඊසාන කාලයට වැස්ස, අව්ව ආදී සියල්ලම අඩුවක් නැතිව ලැබෙනවා. බාහිර කරදරත් නෑ. ඒ නිසා ගොයම් පැළයට බාධක නෑ. පැළ මැරෙන්නෙ නෑ. ඒ නිසා ඒ කාලය අනෙක් කාලවලට වඩා විශේෂයි. බොහොම හොඳ කාලයක්. ඊසාන කියන දිසාවට ඒ වචනය ලැබුනෙත් ඒ නිසා. එතකොට ඉඩමක ඊසාන දිසාවක් නැත්නම් අධ්‍යාත්මික ශක්තිය නැති ගෙයක් තමයි හැදෙන්නෙ. එතකොට ඉතින් ඒ ගෙදර ඉන්න අයත් ගහ මරාගන්න, නිතර කුලල් කා ගන්න පෙළඹෙනවා. ඒ වගේ මොනව හරි ප්‍රශ්න එනවා.

ඊළඟට L අකුරෙ හෙවත් පොරෝතල හැඩය ගත්තමත් එහෙමයි. ඒ හැඩයෙදි මොනව හරි දිසාවක් නැතිවෙන නිසා ඒ දිසාවෙන් එන ශක්තිය නොලැබීමෙන් එතැනත් අර දෝසයම එනවා. ඒ වගේම ත්‍රිකෝණාකාර හැඩයට තියෙන සමහර ඉඩම්වල නිරිත මුල්ලක් නෑ. නමුත් නිරිත කියන්නෙ ගෙදරක් ගත්තම ස්වාමි පුරුෂයා සහ භාර්යාව ඉන්න ප්‍රධාන නිදන කාමරය තියන්න සුදුසුම ස්ථානය. ඒ වගේම මනුස්සයෙක් දවසෙම වැඩ කරල මහන්සි වෙලා ගෙදර ඇවිත් නිවී සැනසිල්ලෙ නිදාගන්න සුදුසුම ස්ථානය. දැන් එතකොට ඒ ස්ථානය නැති වුනාම, මනසට විවේකයක් සහනයක් නෑ. ඉතිං ඉන්න කල් දෙන්න රණ්ඩු වෙන්න ගහ බැන ගන්න පෙළඹෙනවා. ඒ ප්‍රශ්නය වෙන විදිහකින් විසඳන්නත් බැරිව යනවා. හැබැයි එතනදි ඉඩමෙ හැඩයට වඩා වාස්තු ☞

දෝසවලට බලපාන්නෙ නිවසේ හැඩය. ඉඩමේ හැඩයට වඩා L හෙවත් පොරෝ හැඩය තියෙන ගෙයක් තමයි විශේෂයෙන් හොඳ නැත්තෙ. ඒ හැඩයට ඉඩමක් තිබුණොත් ඒ එක පාදයක් වගා කටයුතු වගේ වෙනම දේකට යොදවල, එහෙම නැත්නම් තමන්ගෙ ළමයෙකුට ලියල දීල ඉතිරි කොටසේ හතරැස් ආකාරයෙන් ගේ හැදීමෙන් ඒ ඉඩමෙන් එන දෝසය සෑහෙන දුරකට මග හරවා ගන්න පුළුවන්. එහෙම නැතිව පොරෝ හැඩැති ඉඩමේ ඒ හැඩයටම හිටින්න ගේ හැදුවොත් දෝස වැඩියි.

ඒ වගේ අක්‍රමවත් හැඩතල තියෙන ඉඩම්වල අත්‍යවශ්‍ය දිසාවල් තියේද නැත්ද කියල බලා ගන්නෙ, ඒ ඉඩම්වල හතරැස් හැඩය එන විදිහට ලකුණු කරල උතුරු පැත්ත අරගෙන ඊට අනුකූලව අනෙක් දිසාවල් බැලීමෙන්. එතකොට සමහර දිසාවන් නෑ. ඒක ඉඩමේ හැඩයත් එක්ක ගන්නෙ. එතකොට ඊසාන දිසාව යා කළාම අනිත් පැත්තෙන් එන්නෙ නිරිත මුල්ල. ඊසානෙන් සුද්ධ ශක්තිය ඇවිත් නිරිත දිසාවේ ගබඩා වෙනවා. මේවා ඉතින් පොත් පත්වල නැති වුනාට මූල ධර්මය දන ගෙන නැණ නුවණින් හිතල බලන්න ඕන කාරණා. එතකොට ඊසාන දිසාවට බුදු මැදුරක් තියේ නම් හොඳටම ගැලපෙනවා. එහෙම නැත්නම් මල් පාත්තියක් වගේ දෙයක් සුදුසුයි. ඊසාන දිසාවෙන් ශක්තිය හොඳට ගලා ගෙන එන්න ඕන නිසා ඒ පැත්තෙන් තාප්පයක් බැන්දත් වැඩිය උස නැති, කොට තාප්පයක් තමයි බඳින්න ඕන. එහෙම නැත්නම් තාප්පයක් නොබැඳ නිදහස්ව තියන්න ඕන.

ඊළඟට ඒ එන ශක්තිය ගබඩා වෙන නිරිත මුල්ල ත්‍රිකෝණාකාරව තිබුණොත් අර කලින් කිව්ව විදිහට ශක්තිය හානි වෙනවා. ඒ වගේම නිරිත මුල්ලෙන් දොරක් තිබුනොත් ඒ ගෙදර මුදල් ඉතිරියක් නෑ. මොකද අර එන සුද්ධ ශක්තිය රැඳෙන්නෙ නැතිව පිට වෙනවා. ඒ නිසා නිරිත දිසාවෙන් 1/3 ක් විතර හැම තිස්සෙම වැහිල තියෙන්න ඕන. ඒ පැත්තට දොරවල් දාන්න සුදුසු නෑ. ආවරණය වෙලා තියෙන තරමට හොඳයි. තාප්පයක් දානව නම් ටිකක් උස තාප්පයක් දාන්න ඕන. මොකද එන ශක්තිය පිට නොවී රැඳිල තියෙන්න ඕන නිසා. දැන් මේ කාරණය විශේෂයෙන් අපේ පැරැන්නන් පන්සල් වගේ පූජනීය ස්ථාන හදන කොට හරියටම අනුගමනය කරල තියෙනවා. ඒවා හදල තියෙන්නෙ බොහෝ කොටම කන්දක නම්, කඳු නිම්නය මග හැරල කඳු මුදුනක. මොකද අර ශක්ති ගලනය හරියට සිද්ධ වෙන්න ඕන නිසා. ඒවායේ දිශානතිය හරියට පිහිටුවල, උළුවහු දොරවල් නිවැරදිව දාල, ශක්ති ගලා යාමට අවහිර නොවෙන්න ගොඩ නගල තියෙනවා. නමුත් ඒ කාරණය හරියට දන්නෙ නැති නිසා මෑත කාලයේ තමයි පහත් තැන්වල හදල තියෙන්නෙ.

එතකොට දැන් මේ වගේ ඉඩම්වල දෝස ආවම ඒකට සාර්ථක හොඳ විසඳුමක් නැත්ද කියල කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්. මොකද ඉඩමක් දැනටමත් ලැබිල තියේ නම්, මිලදී ගෙන තියේ නම්, ඒ ගත්ත ඉඩමට වෙන කරන්න දෙයක් නෑ. නමුත් ඒකට හොඳ සාර්ථක විසඳුමක් තියෙනවා. හැබැයි ඒක මනුස්සයො අතර සාමයෙන්, සමාදානයෙන් කර ගන්න ඕන කටයුත්තක් නිසා, කොච්චර දුරට ප්‍රායෝගිකද කියල කියන්න අමාරුයි. මොකද අපේ රටේ මනුස්සයො ගත්තම හුඟක් ඉන්නෙ පැළ ඉණි වැටටත් ඔළු පළාගන්න උදවිය. එහෙම නැත්නම් මේ ක්‍රමය අනුගමනය කරල ඒ දෝසය මග හරවා ගන්න පුළුවන්. ඒ තමයි මාඉමේ ඉන්න තමන්ගෙ අසල්වැසියන් එක්ක එකතු වෙලා, සමගියෙන් සමාදානයෙන් පල දෙන හැඩයක් එන විදිහට මාඉම් වෙනස් කරල නැවත මැන ගැනීම. එතැනදි කාට හරි අවාසියක් වෙනව නම්, සාධාරණ මුදල් හුවමාරුවකට හරි ඉඩම් හුවමාරුවකට හරි එහෙම විසඳුමක් කර ගන්න පුළුවන් නම් කාටත් හොඳයි. අනෙක් කාරණය තමයි මේ ඉඩම් මනින මිනින්දෝරු මහත්වරුන් තමන්ගෙ පහසුවට ආවට ගියාට ඉඩම් මනින්නෙ නැතිව, මේ වාස්තු දෝස ගැනත් යම් ප්‍රමාණයකට දැනුවත් වෙලා ඒ දේ කරනව නම් මේ වගේ ප්‍රශ්න හුඟක් අඩුයි.

ඊළඟ කාරණය තමයි කිසිම ඉදිකිරීමක් නොකරත්, එකම ඉඩමක් දෙන්නෙක් එකතු වෙලා සුදුසු විදිහට දෙකට බෙදා ගත්තම, එහෙම නැත්නම් අළුතින් මිලදී ගත්තම, ඒ ඉඩම්වලින් කලින් ආපු නැති දෝස දැන් එන්න පුළුවන්. එහෙම නැත්නම් කලින් තිබිච්ච දෝස දැන් කැපෙන්නත් පුළුවන්. ඒ කාරණය ඇත්තටම දහමින් පහදන්න පුළුවන්. මා කර ගත්ත ඉම තමයි මාඉම කියන්නෙ. මා කළා කියන්නෙ ඉවත් කළා, අයින් කළා කියන අදහස. මා හෝ ජාති ජාති ...., මාමේ බාල සමාගමෝ ...., මානිවත්ත අභික්කම ... ආදී වශයෙන් කියන කොටත් ''මා'' කියන්නෙ නොවේවා, ඉවත් කරනවා, එපා කියන අදහස. ඒ කියන්නෙ ඒ ඉඩමෙන් එහා පැත්තෙ සියල්ල මා කරල අත හැරල තියෙන්නෙ. මෙහා පැත්ත තමයි මගේ කියල අල්ල ගෙන තියෙන්නෙ. එහෙම නැත්නම් මහ ලොකුවට අල්ලගත්ත ඉම කියලත් අදහස ගන්න පුළුවන්. ඒ කියන්නෙ ඒ ඉමෙන් මෙහා තමයි මගේ කියල මහ ලොකුවට අල්ල ගන්නෙ. කෙනෙක් තණ්හාවෙන් බැඳෙන්නෙ ඒ ඉඩමේ වට සරියත් එක්ක. ඒ වට සරිය මගේ කියල ගත්තු භූමි ප්‍රමාණයක්. පිට කෙනෙක් ඒක ඇතුලට පැනල ඉන්නක් හිටෙව්වොත් එහෙම මොකද වෙන්නෙ, මිනිස්සු ඔළු පලා ගන්නවා. මොකද මගේ කර ගෙන තියෙන්නෙ. හැබැයි ඒ ඉඩම මගේ කර ගන්න කලින් එහෙම ගැටළුවක් නෑ. අගේට තිබිච්ච ඉඩම දැන් මගේ කර ගත්ත විතරයි ඒ තුල තමන්ට කර්ම භවයෙන් එන කිරණ සම්බන්ධ වෙනවා. ඒ කිරණ නරක නම් දෝස එනවා, සුද්ධ කිරණ නම් සපල වෙනවා.

උදාහරණ විදිහට ගහ කොළවලට ආදරය කරල, ගහ කොළ රක්ෂණය කරල පෝෂණය කරපු අයට අධි ගෘහිත දෙවි දේවතාවන්ගෙ සම්බන්ධතාවය තියෙන්න පුළුවන්. එහෙම වුනොත් ඒක මගේ කරගත්තු ගමන් ඒ ගහ කොළින් ලැබීමක් එනවා. මොකද තමන්ගෙ පුණ්‍ය කර්ම ශක්තිය සහ ඒ දෙවි දේවතාවන්ගෙ ආශිර්වාදය නිසා. දැන් අර කර්ම ශක්තියෙන් මේ ඉඩම මගේ කියන බැඳීමත් එක්ක ඒ ක්ෂේත්‍රයත් මනසින් බැඳෙනවා. මන ආප කරනවා. ආප කරනවා කියන්නෙ ආපෝ ගතිය හෙවත් ඇලීම. එතකොට මනාප වෙලා යනවා. දැන් විශ්වයෙන් එන කිරණ වැඩ කරන්නෙත් ඊට අනුකූලව. දැන් අර කර්ම භවයේ තියෙන කර්ම ශක්තිය, ඇද ඇද මගේ කර ගත්ත ඉඩමට සම්බන්ධ වෙනවා. ඒ කියන්නෙ අධිපති ප්‍රත්‍යයෙන් ප්‍රත්‍ය වෙවී ඇද ගන්නවා, ඇද ඇද පතිත කර ගන්නවා.

අධිපති කියන්නෙ යම් කිසි තැනක ප්‍රධාන වීම. ඒ වචනයේම ඒ අර්ථය තියෙනවා. ඉන්ද්‍රිය ප්‍රත්‍යය කියල දෙයක් තියෙනවා. යම් කිසි කාරණයකට චේතනාව අධිපති වුනාම ඒක කර්මවලට වැටෙනවා. ඒ වගේ, ගෙදරකත් යම් කිසි අධිපතියෙක් ඉන්නවා. එතකොට ඒ ගෙදරට ඒ පුද්ගලයා අධිපතිකම් කරන නිසා, ඒ ගෙදර සියලු සජීවී අජීවී දේටත් ඒ පුද්ගලයාගෙ බලපෑම තියෙනවා. යම් කිසි අයිතිකාරයෙක් ඉන්න නිවසක් තියෙන කොට අපි කතාවටත් කියන්නෙ අහවලාගෙ ගෙදර කියල. ඒ වගේ අපේ හිතේ වැඩ කරන චෛතසික තියෙනවා. ඒ අතර ස්පර්ශ, වේදනා, සංඥා, චේතනා, ඒකාග්‍රතා, මනසිකාර, ජීවිතේන්ද්‍රිය කියන්නෙ සර්ව චිත්ත සාධාරණ චෛතසික 7. ඒ කියන්නෙ මේ 7 හැම හිතකටම තියෙනවා. එතනින් චේතනාව ප්‍රධාන වෙනවා. ඒක අධිපති ප්‍රත්‍යයට තමයි වැටෙන්නෙ. යම් කිසි වැඩක් කරනව නම් ඒකෙදි සංඥාව ප්‍රධාන වෙනවා. ඒ කියන්නෙ මොකක් හරි අපිට ආපු සංඥාවක්. ඒකත් අධිපති ප්‍රත්‍යයට වැටෙන්නෙ. එතකොට රාගය ගත්තමත් අධිපති ප්‍රත්‍යයට ☞

වැටෙනවා. තරහක් ආවොත් ද්වේශය අධිපති ප්‍රත්‍යයට වැටෙන්න පුළුවන්. ඒ වගේ යම් චිත්ත ගතියක් හේතු කොටගෙන නම් ඒක කරන්නෙ, ඒ ප්‍රධාන කාරණය ඒකෙන් අධිපති වෙනවා. ඒක තමයි අධිපති ප්‍රත්‍යයේ ක්‍රම රටාව. ඒ කියන්නෙ අධිපති විදියට ප්‍රත්‍ය වෙනවා.

උදාහරණ විදියට පාසලක ළමයින්ට උගන්වන කොට, කවුද උගන්වන්නෙ කියල ඇහුවම කවුරුහරි ගුරුවරයෙක් ඉන්නවා. ඒ ගුරුවරය තමයි එතනට අධිපති. එතකොට ළමයින්ගෙ ඉගෙනීමට ඒ ගුරුවරයා අධිපති විදිහට ප්‍රත්‍ය වෙනවා. ඒක ළමයින්ගෙ ඉගෙනීමට බලපානවා. ඒ ගුරුවරයා තමන්ට හිමි විෂය උගන්වල, ඊළඟට තවත් ගුරුවරයෙක් ආවොත් ඒ වෙලාවට අධිපති ප්‍රත්‍යය වෙනස් වෙලා අලුත් ගුරුවරයගෙ අධිපතිත්වය යටතේ ළමයි ක්‍රියාත්මක වෙනවා. මේක හොඳට පැහැදිලි කාරණයක්. ඒ කියන්නෙ යම් කිසි කෙනෙක් යම් කිසි තැනකට යම් කිසි කාල පරිච්ඡේදයක් සඳහා අධිපති වුනොත් ඒ පුද්ගලයට ඒ ස්ථානයේ තියෙන සියල්ලම නැමෙනවා. යම් කිසි විදියකින් ඒ පුද්ගලයගෙ ද්වේශය අධිපති වුනොත්, අර ඉස්සෙල්ල කියපු සර්ව චිත්ත සාධාරණ චෛතසික සියල්ලත් ද්වේශයට නැමෙනවා. එතකොට ඒ ස්ථානයත්, ඒ ස්ථානයේ ඉන්න අනෙක් අයත් ද්වේශයේ ස්වභාවය ගන්නවා. ඒක තමයි ක්‍රමය. ඒ නිසා මේ කාරණය ඉඩම්වල සරු හෝ නිසරු බවටත් බලපානවා. මොකද ඒ ඉඩම යම් කිසි පුද්ගලයෙකුට හිමි වුනාම, ඒ පුද්ගලයගෙ පුණ්‍ය ශක්තිය තමයි අධිපති ප්‍රත්‍යය හරහා විහිදෙන්නෙ. දැන් ඒ පුද්ගලයගෙ මන ඒ ඉඩමට ආප වෙලා තියෙන්නෙ. ඒ කියන්නෙ මනාප වෙලා. එතකොට ඒ පුද්ගලයගෙ කර්ම කිරණයි, ඉඩමෙ කිරණයි දෙක එකට සම්බන්ධ වෙනවා.

දැන් සමනන්තරය මගේ කියල ගත්තම, අන් අන්තරයක් ඒකට ඇද ගන්නවා. මේ කාරණය ප්‍රායෝගිකව ඔප්පු කරන්න පුළුවන් සමහර ඉඩම් තියෙනවා. ඒ සමහර ඉඩම් සම්පූර්ණයෙන්ම පාළුයි. කිසිම ගහක් කොළක් පළදාවක් හැදෙන්නෙ නෑ. සපල නෑ. නමුත් සමහරවිට ඒක වෙන කෙනෙක් මිලදී ගත්තොත් මාස කිහිපයක් යන කොට හොඳට සශ්‍රීකයි. මොකද කර්ම ශක්තියෙන් ඒ පුද්ගලයට ලැබීම් / පින් තියෙනවා. එතකොට ඊට කලින් අයිති කෙනාගෙ කර්ම භවයේ ඒ ලැබීම් / පින් නෑ. මොකද පෙර අත්බැව්වල අනුන්ගෙ පළදාව විනාස කරල, ගස් කොළං කපල විනාස කරල, අනුන්ට ගහකොළකින් ගෙඩියක්වත් කඩා ගන්න නොදීම ආදී කර්ම විපාක නිසා. ඒ කියන්නෙ ඉඩම හෙවත් සමනන්තරය තමන්ට තිබුනට ඒ පුද්ගලයට පින් පල දෙන අනන්තරයක් නෑ. නමුත් හේතු වාසනා තියෙන කෙනෙක් ඒ ඉඩම ගත්තම අර සියල්ලම කර්ම භවයෙන් ඇදිල එනවා. ඒ ඇදල එන්නෙ පුණ්‍ය කිරණ ශක්තිය. ඒ ශක්තිය ඒ ඉඩමේ ගස් වැල්වලට, භූමියට වැදිල ඒවා පෝෂණය වෙනවා. මේ විදිහට කර්ම ශක්තියෙන් ගස්වැල් පෝෂණය වෙන බව ඔප්පු කරන්න පුළුවන් පරීක්ෂණයක් 47 වන කලාපයේ මිරිස් පැළයක් ආධාරයෙන් පැහැදිලි කළා.

එතනදි මෛත්‍රී භාවනාවෙන් කිරණ ශක්තිය දෙන කොට ඒ පැළ හොඳින් වැඩෙනවා. ඒ වගේම අධ්‍යාත්මික ශක්තිය වැඩි කෙනෙක් ඒක කළොත් ලැබෙන සශ්‍රීකත්වය තවත් වැඩියි. ඒ කියන්නෙ ඒකත් පුද්ගල බද්ධ කාරණයක්. මොකද විවිධ පුද්ගලයන්ගෙ කර්ම ගබඩාවල තියෙන කර්ම ශක්තියත් එකිනෙකට වෙනස්. ඉතින් ප්‍රබල අධ්‍යාත්මික ශක්තියක් තියෙන කෙනෙක්ගෙන් විහිදෙන ඒ කිරණ ශක්තියත් ප්‍රබලයි. එතකොට ඒ අළුත් පුද්ගලය, මගේ කියල මාඉම් කර ගෙන ඒ ඉඩම ගත්ත ගමන්, ඒ පුද්ගලයගෙ ඕරා වළල්ලේ තියෙන කර්ම කිරණ ශක්තිය ඉඩමට සම්බන්ධ වෙනවා. එතකොට ඒ අනුව පල දෙනවා. මේ හේතුවෙන් හොඳට පින් තියෙන කෙනෙක් ඉඩම ගත්තොත් සියල්ල සශ්‍රීකයි. එහෙම නැති කෙනෙක් ගත්තොත් ඉඩම කොච්චර හොඳ වුනත් වගතුවක් නෑ, පල දෙන්නෙ නෑ.

මොකද මාඉමෙන් ඉඩම වෙන් කළාම, මේක මගේ කියල සිතිවිල්ලක් එනවා. මේ සීමාව මගේ කියල තමන් තුල සමනන්තරයක් හැදෙනවා. ඒ සීමාව ඇතුලෙ ගහක් කොළක් කැපුවොත්, වැට ඉන්නක් එහෙම වෙනස් කළොත් ඒකට සටන් කරනවා. මොකද මගේ ඉඩම නිසා. දැන් ඉතින් තමන්ගෙ කර්ම භවයත් ඒකත් එක්ක සම්බන්ධ වෙනවා. මේ කියන්නෙ වාස්තු දෝසයක් ගැන නෙවෙයි, තමන්ගෙ කර්ම ශක්තිය භූමියට බලපාන හැටි. එතනදි කර්ම භවයේ වැඩිපුරම තියෙන්නෙ සුද්ධ කිරණ නම් ගැටළුවක් නෑ. එතකොට ඉඩම වටේටත් ඕරා වළල්ලක් වෙනම හැදෙනවා. නමුත් ඒ හැදෙන ඕරා වළල්ල මනුස්සයගෙ ශරීරය වටා තියෙන ඕරා වළල්ල වගේ උපකරණවලින් පෙන්වන්න බෑ. මොකද දැන් තියෙන ඕරා යන්ත්‍රවලට අහු වෙන්නෙ එක්තරා සීමිත කොටසක් විතරයි. ලෝකයේ සියලු සංඛ්‍යාතයන් ඕරා යන්ත්‍රයට අහු වෙන්නෙ නෑ. මොකද ඕරා ගත්තම සෘණ අනන්තයේ පටන් ධන අනන්තයට යන කල් තියෙනවා. ඉතින් දැන් තියෙන යන්ත්‍රවලින් විද්‍යුත් චුම්භක තරංගවල සීමා සහිත සංඛ්‍යාතයක් විතරයි මනින්න පුළුවන් වෙන්නෙ. එතකොට ඉඩමක තියෙන ඕරා වළල්ලත් පුද්ගල බද්ධයි. ඒ ඉඩම හිමි පුද්ගලයා අනුව ඉඩමේ ඕරා වළල්ලත් වෙනස් වෙනවා. මොකද මගේ කියල ගත්තම පුද්ගලයගෙ කර්ම භවයත් එක්ක ඒක සම්බන්ධ වෙන නිසා. එතකොට ඒ අනුව ලැබීමත් එනවා. ඒ ලැබීම හොඳ වෙන්නත් පුළුවන්, නරක වෙන්නත් පුළුවන්. ඒ විදියට පුද්ගල බද්ධ නිසා තමයි ඉඩම්වල සරු නිසරු බව පුද්ගලයගෙන් පුද්ගලයට වෙනස් වෙන්නෙ.

ඒ නිසා තමන්ගෙ ඥාතියෙකුගෙ හෝ හිතවතෙකුගෙ නිවසකට තියෙන දෝසයක් දැන ගෙන ඒ සඳහා උපදෙස් දෙන කොටත්, මගේ කර ගන්නෙ නැතිව උපදෙස් දෙන්න ඕන. නැත්නම් ඒ දොස් කිරණවලින් තමන්ටත් දොස් එන්න පුළුවන්. ඒ කියන්නෙ ඔහු මගේ කෙනෙක් නිසා කොහොම හරි මේ තත්ත්වයෙන් මුදවා ගත යුතුයි කියන අදහස ගන්නෙ නැතිව, ඔබේ ඉඩමට / නිවසට මෙහෙම දොස් තියෙනවා, ඒවා මේ මේ විදිහට හදා ගන්න කියල උපදෙස් දීම විතරයි කරන්න ඕන. ඒවාට අනවශ්‍ය විදිහට මැදිහත් වෙලා තමන්ගෙ දෙයක් වගේ කරන්න ගියොත් ඒ දෝස තමන්ටත් එන්න පුළුවන්. ඒ වගේම තමන් පාවිච්චි කරන බඩු භාණ්ඩ වුනත් මගේ කියල අල්ලගෙන කියන්නෙ නැතිව, මම ඉඳගන්න පුටුව, මම නිදාගන්න ඇඳ... ආදී වශයෙන් කතා කරනකොට බාහිරින් එන්න තියෙන දෝසවල බලපෑමත් අඩු වෙනවා. මොකද සමහර අමනුස්සයො ඒ වගේ බඩු භාණ්ඩවලට අරක්ගෙන ඉන්නවා. ඒ අය මගේ කියල කතා කරනවට කැමති නෑ. එහෙම කතා කරනකොටත් ඒ අයගෙන් කරදර එනවා, ලැබීම් අඩු කරනවා.

එතකොට මේ අධිපති ප්‍රත්‍යය කියන කාරණය දැනගන්න පුළුවන් දෙයක්. මේ සම්බන්ධයෙන් වහරක අභයරතනාලංකාර හිමියන් ගිහි කාලයේදී ලබපු අත්දැකීම් කිහිපයක් මේ විදියට විස්තර කළා.

''ඒ කාලෙ අපේ ගම් පළාතෙ අක්කර 12 ක් විතර විසාල පොල් ඉඩමක් තිබුනා. ඒ ඉඩමෙ කහ පාටට හුරු වල් තණකොළ වර්ගයකුත් වැවිල තිබුනා. හැබැයි පොල් ඉඩමක් වුනාට ගහක ගෙඩියයි දෙකයි හැදුනෙ. හුගක් ඒවා නිකං පුහු ගෙඩි. ඒ ඉඩම ඒ කාලෙ එච්චර මිලකුත් නෑ. අක්කර 12 ම ලක්ෂ 12 ටත් අඩු ගානක් තමයි මිල වුනේ. ඉතිං මේ ඉඩම ඒ අයිතිකාරයගෙන් කවුරු හරි කෙනෙක් මිලදී අරගෙන, හොඳට සුද්ධ කරල යටිරෝපණ වගාවක් විදියට

අන්නාසි වගා කරල ගත්තට පස්සෙ අර පොල් ගස්වල කරටි කඩා වැටෙන තරමට ගෙඩි හැදුනා. මොකද ඒ වෙනකොටත් කරටි හීන් වෙලා තිබුනෙ. ඒ තරම් නිසරුයි. ඊට පස්සෙ ඒ අලුතින් ගත්ත කෙනාගෙන් තවත් කෙනෙක් ඒ ඉඩම ගත්ත ගණනට වඩා දහ ගුණයක මිලට ඉල්ලුවා. ඒත් දුන්නෙ නෑ. මොකද පලදාව බොහොම සාර්ථකයි.

ඊළඟට වහරක පන්සල පැත්තෙ එක්තරා කුඹුරක් තිබුණා. ඒ පැත්තෙ හැටියට බුසලකින් බුසල් 40 ක් වගේ සෑහෙන වී අස්වැන්නක් ගන්න පුළුවන් කුඹුරක්. ඒත් ඒක වගා කරපු අයට ගන්න පුළුවන් වුනේ බුසලකින් බුසල් 12 - 15 ක් වගේ ගණනක් තමයි. එතනදි ඒ කුඹුරු කරපු අයට ලැබෙන අස්වැන්න මදි වෙච්ච නිසා ගොයම් කපල ඉතිරි වෙන නෙරි කාල කියන එකත් කපා ගන්නවා. ඒක තමයි අන්තිම අස්වැන්න. ඉතිං ඔය විදියට දොළොස් අවුරුද්දක් කුඹුරු වැඩ කළත් හරි ගියේ නෑ. බැරිම තැන කුඹුර වික්කා. ඊට පස්සෙ අලුතින් ගත්ත කෙනා පළමු කන්නයෙන්ම බුසලට බුසල් 40 ක් ගත්තා. දැන් එතනදි වෙනස බලන්න. එතකොට පින් පව් කියන ඒවා පල දෙන්නෙ නැත්ද ? හොඳට නරකට දෙකටම මේ අධිපති ප්‍රත්‍යය කියන එක බලපානවා. මේ අපි දැනුවත්ව සිද්ධ වෙච්ච දේවල්.

ඒ වගේ තවත් සිද්ධියක් මම ඒ කාලෙ එක්තරා ගම් ප්‍රදේශයක නැවතිලා ගෙවල් ආරක්ෂා කරන වැඩ, සෙත් ශාන්ති ආදිය කරන කොට අත්දැකින්න ලැබුනා. ඉතිං ඒ ප්‍රදේශයේ හිටපු වෙද මහත්තයෙක්ගෙ ගෙදරක නැවතිලා තමයි ඒ වැඩ කටයුතු කළේ. ඒ ගෙදර වැඩ කටයුතුවලට උදව් කරන්න ඒ පැත්තෙ හිටපු හිඟන ළමයෙක් ගෙනාවා. එතකොට ඒ ගෙදර හිටපු ළමයෙක් කිව්වා, ඕකා ගෙදරටවත් ගේන්න එපා මොන වැඩක්වත් හරියන්නෙ නෑ ඔක්කොම නැති වෙනව කියල. ඒ කිව්ව වගේම ඒ ළමය ගෙනාවා විතරයි, ඒ දවස්වල දවසකට හත අටක් තිබ්බිච්ච ගෙවල් ආරක්ෂා කරන වැඩ එකක්වත් නැතිව ගියා. හිටි ගමන් සෙනගත් නැතිව ගියා. හැබැයි මේ ළමය හැම පෝයටම සිල් ගන්නවා. බඩ චුට්ටක් තියෙන හුඟක් කෙට්ටු ළමයෙක්. හැබැයි කොසුත් එක්ක හාල් සේරුවක විතර බත් එක වේලකට කනවා. ඒ කාලත් මදි. මම ඉතිං පස්සෙ උපක්‍රමයක් යොදල මේ ළමයට කිව්වා, ඔයාට මෙහෙම අපලයක් තියෙනවා, ඒ නිසා මේ තෙල් ටික ගෙදර ගිහින් පහනට දාල පත්තු කරන්න කියල. ඒ විදියට කියල ආරක්ෂාවක් දුන්නා. මොකද ඒක ගෙදරටත් හොඳයි. ඒ ළමයටයි, මේ ස්ථානයටයි දෙපැත්තටම යහපතක් වෙන්න තමයි එහෙම කළේ. ඒ ළමය ගියා විතරයි අර කලින් වගේම වැඩ ආවා. සෙනගත් ආවා. දැන් එතකොට ඒ ළමය ඒ ස්ථානයට ගෙනල්ල නිකම්ම තිව්වෙ නෑ, මොනව හරි වැඩපලක් බාර දුන්නා. ඉතිං ඒ වැඩේ කරනකොට ඒ ළමයගෙ අධිපති ප්‍රත්‍යයත් එතන ක්‍රියාත්මක වෙනවා. එතකොට ඒ ළමයගෙ කර්ම ගබඩාවෙ තිබුනෙ පාප කිරණ ශක්තිය නම් ඒක ඇදිල ඇවිත් අර මෙච්චර කලක් ආපු ලැබීම නැතිවෙන්න හේතු වෙනවා.

ඊළඟට තව දවසක් මම, කෙනෙකුට ආරක්ෂක වැඩක් කරල දීල ඔහුගෙන් මට රුපියල් 1,000/=ක් එන්න තිබුනා. වැඩේ කරල දුන්නට පස්සෙ මේ මනුස්සය කිව්වා මේ දවස්වල සල්ලි නෑ කියල. නමුත් ඔහුට සල්ලි තිබුනා, එදා උදෙත් තිබුන කියල මම දන්නවා. මම කිව්ව ඉතිං නැත්නම් නෑ කියන්න, තියෙනව නම් ඒක බලා කියා ගන්න, වෙන මොනව කියන්නද කියල. ඊට පස්සෙ මනුස්සය දවසක් මට බස් එකේදි මුණ ගැහිල, මට කවදාවත් වෙච්ච නැති දෙයක් වුනානෙ කිව්වා. මනුස්සයගෙ මුදල් පසුම්බියේ තිබ්බිච්ච රුපියල් 1,000/=ක් හොරු අරගෙන. ඒ කියන්නෙ බස්වල යන ගැට කපන්නෙක්. මගේ සාක්කුවේ පනාවකුත් තිබුනා, ඒකත් අරගෙන කිව්වා. ඒ කියන්නෙ මනුස්සයගෙ ලෝභකම අධිපති වුනාම අධිපති ප්‍රත්‍යය ඒ අනුව ක්‍රියාත්මක වෙලා ඒ තිබ්බිච්ච දේ නැතිවෙන්න බලපෑවා. ඔය වගේ අවස්ථා හරියට තියෙනවා. එතකොට මේ අධිපති ප්‍රත්‍යය හොඳ නරක දෙපැත්තටම බලපානවා. ඒ වගේම භෞතික වස්තුවලටත් බලපානවා, පුද්ගලිකවත් බලපානවා.''

දැන් අනෙක් කාරණය තමයි ඉඩම් කැබලිවලට කඩන කොට ඒකෙ ගෙයක් තිබුනොත් එහෙම වාස්තුත් සම්පූර්ණයෙන් වෙනස් වෙන්න පුළුවන්. උදාහරණයක් විදිහට පර්චස් 20 ක ඉඩමක්, සමානව හරි මැදින් බෙදුවොත් සහ ඒ පර්චස් 10 ක හරි මැදින් කලින් හදපු ගෙයක් තිබුණ කියල හිතුවොත්, දැන් ඒ පුද්ගලය මොකක් හරි මුදල් අවශ්‍යතාවයකට, එහෙම නැත්නම් තමන්ගෙ කෙනෙකුට තෑගි දෙන්න අර පර්චස් 20 හරියටම මැදින් පර්චස් 10 සමාන කොටස් 2 කට කඩනවා. එතකොට එක කොටසක ගෙදර තියෙනවා. දැන් මොකද වෙන්නෙ, තමන් වෙන් කර ගත්තු ඉඩම් කොටසට වෙනම පාද 4 ක් පිහිටන නිසා ඒ කොටසේ බ්‍රහ්ම පාදයයි, නිවසේ බ්‍රහ්ම පාදයයි හරියටම සමපාත වෙනවා. ඒකෙන් ඒ ගෙදර ගේ හිමියාට මාරාන්තික දෝසයක් එනවා. ඒ වගේ අවස්ථාවල ගේ හිමියා මරණයට පත් වෙච්ච අවස්ථාත් තියෙනවා. අන්තිමට ඉන්න අයටත් කරදර බාධක කෙළවරක් නෑ. ඒ නිසා මේ ඉඩම් කැලිවලට කඩන කොටත් විශේෂයෙන් ගෙවල් තියේ නම් වාස්තු පැත්ත හරියට බලලයි ඒ දේ කරන්න ඕන. ඒ වගේ අවස්ථාවකදි ගේ වර්ග ඵලය ගැලපෙන විදිහට වෙනස් කළාම හරි. ඒ වගේම ඒ නිවසට අලුතින් කොටස් එකතු කරන කොටත් වර්ග ඵලය වෙනස් වෙන නිසා වැසිකිලි වළ, ළිඳ ආදියේ පිහිටීම ගැනත් සැලකිලිමත් වෙන්න ඕන. නමුත් මනුස්සයින්ගෙ කර්ම විපාක ප්‍රබල වුනාම මේ වගේ දේවල් ගණන් ගන්නෙ නෑ. සමහරුන්ට කිව්වට තේරෙන්නෙත් නෑ, පිළිගන්නෙත් නෑ. ඒ වගේ වෙලාවට ඉතින් කරන්න දෙයක් නෑ.



ඉඩමේ බ්‍රහ්ම පාදය සහ
නිවසේ බ්‍රහ්ම පාදය සම්පාත වීමේ දෝසය

ඊළඟ කාරණය තමයි ඉඩමක වතුර බැස්ම තිබිය යුතු දිසාව. ඉඩමේ පිහිටීම ගත්තම නිරිත පැත්තෙන් උස් වෙන විදිහටත් ඊසාන පැත්තෙන් පහත් වෙන විදිහටත් බෑවුම තියෙන්න ඕන. ඒ කියන්නෙ උතුර සහ නැගෙනහිර අතර කෝණයේ ඉඩම් කොටස තරමක් පහත් වෙන්න ඕන. එතකොට ඊසාන දිගින් තමයි වතුර බහින්නෙ. ඒක තමයි නිවැරදිම ක්‍රමය. ඒකත් විද්‍යාත්මකව ඔප්පු කරන්න පුළුවන්. ඒ විදිහට පිහිටියම උතුරින්, ඊසාන දිගින්, ඒ වගේම නැගෙනහිරින් එන කාන්දම්, කොස්මික් ආදී අත්‍යාවශ්‍ය කිරණ ශක්තිය ඒ නිවසට පහසුවෙන් ඇද ගන්නවා. මොකද ඒ පැත්ත පහත් නිසා. බෑහැල යන පැත්තට තමයි ශක්තිය ඇදෙන්නෙ. ඒ එන ශක්තිය රඳා පවතින්න නම් නිරිත පැත්ත ටිකක් උස්ව තියෙන්න ඕන. නමුත් ඊසාන පැත්ත ඉස්සිලා නිරිත පැත්ත පහත් වෙලා තිබුණොත්, අර දිසා තුනෙන් එන

31 පිටුවට...

# අත පය හිරි වැටීම්, හන්දිපත් වේදනා ආදියට ප්‍රත්‍යක්ෂ සමාධි ඔසුවක්...

අත පයේ ඇතිවන හිරි වාත, හන්දිපත් වේදනා ආදියෙන් පෙළෙන උදවිය අද වෙනකොට බහුලයි. ඊට අමතරව විශේෂයෙන් කාන්තාවන්ට ඇතිවන ඔසප් දෝස සහ ඔසප් වේදනා නිසාවෙන් පීඩා විඳින අයත් බහුලයි. මේ ආදී සියලු රෝගවලට මීට කලකට ඉහතදී වහරක අභයරතනාලංකාර හිමියන් විසින් බෙහෙත් සමාධියෙන් හසු කරගත් අත්හදා බලන ලද ප්‍රත්‍යක්ෂ ඔසුවක් තමයි මේ ඉදිරිපත් කරන්නෙ.

මේ සඳහා අවශ්‍ය වෙන්නෙ කලාඳුරු සහ මී පැණි විතරයි. කලාඳුරු ගන්න කොට අල සහිත ගහක් සහමුලින්ම ගන්නත් පුළුවන්. එහෙම නැත්නම් කලාඳුරු අලේ විතරක් ගන්නත් පුළුවන්. ඒ විදියට ගත්තු කලාඳුරු අලය හෝ අල සහිත ගහ මුලින්ම හොඳට හෝදල, හොඳට වේළල කුඩු කරගන්න ඕන. ඊට පස්සෙ ඒ කුඩු පිරිසිඳු මී පැණිවලින් කෝපි ගෙඩි පමණට ගුලි කරගන්න ඕන. එහෙම නැත්නම් පෙති විදිහට හදා ගන්නත් පුළුවන්. එතනදි අනුපාතයක් අවශ්‍ය නෑ. ගුලි කරගන්න අවශ්‍ය ප්‍රමාණයට මී පැණි ගත්තම ප්‍රමාණවත්. ඒ විදියට හදා ගත්තු ගුලි මඳ අව්වෙ වේළල තියාගන්නත් පුළුවන්. ඒවා උදේ, දවල්, රාත්‍රී ආහාරයට පසු 1 බැගින් මාස 3 ක් පමණ අඛණ්ඩව පාවිච්චි කිරීමෙන් ඉහත වේදනාවන් දුරු වෙන්න හේතු වෙනවා. මේ ඖෂධයෙන් ශරීරයේ හන්දි, නහර ආදියේ තියෙන අපද්‍රව්‍ය ඉවත් කරල පිරිසිදු කිරීමක් කරන නිසා නහරවල, ස්නායුවල ක්‍රියාකාරීත්වය හොඳින් සිද්ධ වෙනවා.






# ඇස් පෙනීම දුර්වල අයට ප්‍රත්‍යක්ෂ ඔසුවක්...

වහරක අභයරතනාංලකාර හිමියන් විසින් බෙහෙත් සමාධියට හසු කරගත්, විවිධ හේතු නිසා ඇස් පෙනීම දුර්වල වෙච්ච අයට තවත් ප්‍රත්‍යක්ෂ ඖෂධයක් තමයි මේ හඳුන්වා දෙන්න යන්නෙ. හැබැයි මේ ඖෂධය ඇස් පෙනීමේ දුර්වලතා තියෙන සියලු දෙනාටම සියලු ආකාරයෙන් ප්‍රත්‍යක්ෂ නොවෙන්න පුළුවන්. ඇස් පෙනීමේ දුර්වලතා තියෙන සමහර අයට මේ ඖෂධය ප්‍රත්‍යක්ෂයි. මොකද සමහර කර්ම විපාක සහ වෙනත් තදබල භෞතික හේතු මතත් ඇස් පෙනීම දුර්වල වෙච්ච අය ඉන්න පුළුවන්. ඒ නිසා මේ ඖෂධය තමන්ට ප්‍රත්‍යක්ෂ වෙනවද නැත්ද කියල පාවිච්චි කරලම බලන්න ඕන. මොකද මේක හදාගන්න මහ ලොකු වියදමක්, ශ්‍රමයක් යන්නෙ නෑ. පාවිච්චි කළා කියල අතුරු ආබාධ එන්නෙත් නෑ. 100% ක්ම ස්වභාවිකයි.

මේ සඳහා අවශ්‍ය වෙන්නෙ නා මල් රේණු සහ මී පැණි විතරයි. ඒ කියන්නෙ නා මලේ තියෙන දුඹුරු පාට වූල් ප්‍රදේශය නැතිව කහ පාටට තියෙන පොඩි කට්ටල් වගේ කෑලි තමයි රේණු විදියට ගන්නෙ. ඉතින් මේ රේණු වේළල බෙහෙත් බඩු වෙළඳසැල්වලත් විකුණන්න තියෙනවා. ඒ නිසා පහසුවෙන් මිලදී ගන්නත් පුළුවන්. මේ නා මල් රේණු පිරිසිදු මී පැණිවලින් හොඳට අඹරල බණ්ඩක්ක ඇට තරමේ ගුලි හදාගන්න ඕන. එතනදි අනුපාතයක් කියල දෙයක් නෑ. ගුලි කර ගන්න පුළුවන් ගානට මී පැණි දම්මම ප්‍රමාණවත්. මේ ගුලි අවශ්‍ය නම්, මඳ අව්වෙ වේළල සෑහෙන කාලයක් තියා ගන්නත් පුළුවන්. ටික කලකට පාවිච්චි කරනව නම්, වේලුවෙ නැතත් ගැටළුවක් නෑ. මී පැණි තියෙන නිසා නරක් වෙන්නෙත් නෑ. දැන් මේ ගුලි උදේ හවස 1 බැගින් දවසට දෙවරක් පාවිච්චි කරන්න ඕන. ඒ විදියට සති 3 - 5 ක් පමණ කාලයක් පාවිච්චි කරනකොට ඇස් පෙනීම බොහෝ දුරට දියුණු වෙනවා. ඒ වගේම මේ කියපු ප්‍රමාණයට වඩා බේත් වැඩිපුර ගත්තයි කියලත් ගැටළුවක් නෑ.






සටහන: නීතිඥ චන්දන සිරිවර්ධන

29 පිටුවෙන්...

## වාස්තු විද්‍යාවේ හේතු ඵල සම්බන්ධය දහම් ඇසින් ....

අත්‍යාවශ්‍ය කිරණ ශක්තීන් නොලැබීමෙන්, ඒ නිවසේ ඉන්න අයට ලැබෙන්න තියෙන සම්පත් නොලැබී යනවා. තියෙන දේත් හරියට පවත්ව ගෙන යන්න බැරිව යනවා. හරියට කඳු නිම්නයක හදපු නිවසකට දුරකථන සංඥා නැති වෙනව වගේ දෙයක් තමයි මෙතනදිත් වෙන්නෙ. ඒ නිසා ඊසාන පැත්ත ටිකක් පහත් කරල ඒ පැත්තෙන් වතුර බැස්ම තියන්න ඕන. ඉතින් මේ වගේ දෝසයක් පහසුවෙන් ඉවත් කර ගන්න පුළුවන්. ඒ ඉඩමේ ඊසාන පැත්ත මොකක් හරි යන්ත්‍රයක ආධාරයෙන් තරමක් පහත් කරල, ඒකෙම අනික් පැත්ත වන නිරිත දිසාව පස් දාල පුරවල ටිකක් ඉස්සුව නම් ගැටළුව ඉවරයි. එහෙම නැත්නම් ඉඩමක් අළුතින් මිලදී ගන්න කොට ඒ විදිහට පිහිටීම තියෙන ඉඩමක් ගත්තම වඩාත් පහසුයි. ඉස්සර හිටපු මිනිස්සු ඉඩම් ගන්න කොට ඔය කාරණයත් පරීක්‍ෂා කරල බලල තමයි ගත්තෙ. ඒ, මේ කියන හේතුව නිසා.

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 49 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**<u>ශ්‍රම දායකත්වය</u>** -

♦ ධම්මික සේනාධීර මහතා - නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ ♦ අසංග මංජුල කුමාර මහතා - හෝමාගම ♦ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ♦ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ♦ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ♦ එස්.එම්. ජයසේකර මහතා - මාලබේ ♦ ඩබ්.ඒ. තිලිණවතී මහත්මිය - කඩවත ♦ සමන් සිල්වා මහතා - කළුතර ♦ කැළුම් ලංකේශ්වර මහතා - ගාල්ල ♦ පර්ෆෙක්ට් කම්පියුටර් ආයතනයේ කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ♦ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ♦ නන් අයුරින් දායක වූ පින්වතුන්

**<u>මූල්‍යමය දායකත්වය</u>** -

♦ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ♦ ප්‍රියනාත් ආරියරත්න මහතා ඇතුළු පවුලේ සැම - කුරුණෑගල - රු. 10,000/- ♦ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ♦ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙවින්යා දුව - ගල්කිස්ස- රු. 10,000/- ♦ මීගමුව දිසා මහ රෝහලෙන් 09.27 දින වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ දානමය පිංකමට සම්බන්ධ වූ පින්වත් පිරිස - රු. 5,570/- ♦ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ♦ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා - ගල්කිස්ස - රු.5,000/- ♦ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු.5,000/- ♦ සුභාෂ් රණසිංහ මහතා - මගලෙගොඩ - රු. 5,000/- ♦ අමිල සල්ගාදු මහතා - බෝමිරිය - රු. 5,000/- ♦ ජනක රුවන් මහතා - ගරාඬුව, මාතර - රු.5,000 ♦ මනෝ මෙන්ඩිස් මහත්මිය - මොරටුව - රු.5,000/- ♦ වසන්ත කොළඹආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - කොට්ටාව - රු.5,000/- ♦ ඉනෝකා ගමගේ මහත්මිය ඇතුළු පවුලේ සැම - කඩුවෙල - රු. 4,000/- ♦ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ♦ කේ.එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ♦ ජයනාත් සුභසිංහ මහතා - හෝමාගම - රු.3,000/- ♦ කැස්බෑව මාකන්දන සංඝස සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු.3,000/- ♦ කරුණා ධර්මසේන මහත්මිය ඇතුළු පවුලේ සැම - හෝමාගම - රු.3,000/- ♦ ටී.ටී.පී. සිල්වා මහත්මිය - නාගොඩ කළුතර - රු.2,500/- ♦ විනුක දිමත් පුතා ඇතුළු පවුලේ සැම - දෙමටගොඩ - රු.2,000/- ♦ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ♦ ඩබ්. උපුල් පරාක්‍රම සිල්වා මහතා - මාරවිල - රු.2,000/- ♦ දර්ශන පෙරේරා මහතා - පිළියන්දල - රු.2,000/- ♦ ගුණදාස හේරත් මහතා - රු.2,000/- ♦ චමින්ද පෙරේරා, චාන්දනී පෙරේරා, චන්ද්‍රා විතාරණ පතිරණ යන මහත්ම මහත්මීන් - රු.2,000/- ♦ කැළුම් ලංකේශ්වර මහතා ඇතුළු පවුලේ සැම - ගාල්ල - රු.2,000/- ♦ සංජය රණවීර මහතා - මහරගම - රු.2,000/- ♦ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ♦ ඩී.ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු.1,500/- ♦ තිලානි ද සිල්වා මහත්මිය සහ හේමාල් ද සිල්වා මහතා - මොරටුව - රු.1,500/- ♦ කේ. ජයසුන්දර රොවෙල් - රද්දොළුව - රු. 1,000/- ♦ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු.1,000/- ♦ ෂෙහානි බස්නායක මහත්මිය - මත්තෙගොඩ - රු.1,000/- ♦ ඕෂිනි පෙරේරා මහත්මිය - නුගේගොඩ - රු.1,000/- ♦ රේණුකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු. 1,000/- ♦ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ♦ එරංග ලියනගේ මහතා සහ බිසන්තිකා ගුණසේකර මහත්මිය - කළුබෝවිල - රු.1,000/- ♦ ක්‍රිෂාන්ත ප්‍රියමධු මහතා - කළුබෝවිල - රු.1,000/- ♦ නිහාල් ලියනගේ මහතා සහ චිත්‍රා ශ්‍රේරු මහත්මිය - කළුබෝවිල - රු. 1,000/- ♦ ගාමිණී ලියනගේ මහතා සහ නයෝමි තරංගා ලියනගේ මෙනවිය - නැදිමාල - රු.1,000/- ♦ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා - ගල්කිස්ස - රු. 1,000/- ♦ සී.එම්.පී.සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ♦ රත්න පෙරේරා මහතා ඇතුළු පවුලේ සැම - කැස්බෑව - රු. 1,000/- ♦ සිරිමල් වේරගම මහතා - යොවුන්ගම - රු.1,000/- ♦ වයලට් වික්‍රමාරච්චි මහත්මිය - කටුබැද්ද - රු. 1,000/- ♦ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර - රු. 1,000/- ♦ නුවන් යාපා අමරසේකර මහතා - රදාවාන - රු. 1,000/- ♦ අසංක සෙනරත් අඹගල මහතා - රදාවාන - රු. 1,000/- ♦ අමිල බාලසූරිය මහතා - ඉහළ උඩුගම්පල - රු.1,000/- ♦ ඒ. විල්සන් පෙරේරා සහ එන්. කල්‍යානි පෙරේරා දෙපළට පිං පිණිස - ජයරානි නිරංජලා අමරතුංග මහත්මිය - තලපත්පිටිය - රු.1,000/- ♦ චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය - දොරණාගොඩ - රු.1,000/- ♦ දීපිකා සුමුදුනී මහත්මිය - අධිකාරීගම - රු.1,000/- ♦ ස්වර්ණා විතාන මහත්මිය - බත්තරමුල්ල - රු.1,000/- ♦ එච්.ඒ. ගුණවතී මහත්මිය - පිටිපන - රු.1,000/- ♦ විජිතා දමයන්ති මහත්මිය - ලෙනගල - රු.1,000/- ♦ සනසි දහම්ලි දියණිය - ගොතටුව - රු.1,000/- ♦ පී. රුවිනා

